සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ උඳුවප් මස (ව්‍යවහාරික වර්ෂ 2019 දෙසැම්බර්)

100 වෙනි කලාපය









## ගමනක නිමාව!

මම කෙවදගති
බුදුහාමුදුරුවො
ශිසයන කරදුව
කොහොම ගති
නොයා ගන්නව.

















රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# දන් දීමෙහි අලස නොවිය යුතු

පිරුමෙහි නොපසුබට දස පින් කිරිය වත
ඇසුරෙහි එම දහම පිනටම නැමුන හිත
වරදෙහි නොම බැඳෙන පරහට හිතැති සත
සසරෙහි දුක හැඳින පව් කම් හරිනු ඇත

නන් අය දුක් විඳිති පෙර පින නොමැති කම
සුන් කළ නොහැකි කරුණකි ලොව දිළිඳු කම
දන් දෙනු කෙලෙසකද පිරිහෙයි ධනය තම
පින් පව් නොදැන පවසති එය කුහක කම

නැති බැරි කම කියා මුදලක් අයැදි විට
ඇති හැකි පරිදි දෙනු මිස නොවෙනු පසු බට
සිති විලි දැහැමි ගුණබර එබඳු අය හට
නිති පින පිරෙයි හැකි වෙයි සසර දිනුම ට

අතමිට සරු වුවද මසුරුය පිනට නොදේ
හැම විට තම පොදිය තර කර ගැනුමෙ යෙදේ
දෙන විට ලැබෙයි යන එදහම නොමැත හදේ
දහමට යොමු නොවෙති සදහට සසරෙ රැඳේ

දානය මහඟු ගුණයකි පුරුදු කළ යුතු
ලෝබය එරෙහි වන විට එය නැසිය යුතු
සීලය තමා හැම විට පෙරටු විය යුතු
මෝහය දුරැර නිති පින් දම් වැඩිය යුතු

පින් වත් බොදුනු සැම නොපැකිළ කළ යුතුම
පන් සිල් රැකුම බුදු හිමි දෙසු බණ ඇසුම
දන් සිල් භාවනාදී කුසලෙහි යෙදුම
තැන් පත් කරයි සිත හිමි වෙයි සුව පරම

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා







# හෙළ බොදු පියුම දහම් සඟරාවේ නිධාන කතාව...

හැමදේම වෙන්නෙ හොඳටයි කියල අපි අතර පැරණි කියමනක් තියෙනවා. තමන්ට මොනවහරි කරදරයක් බාධකයක් ආවම තමයි මේ කතාව කියන්නෙ. ඒ කියන්නෙ, ඒ ඇතිවෙච්ච කරදරය බාධකය පසු කාලීනව වෙනත් යහපතකට හේතු වෙනවා කියන එක. එහෙම අත්දැකීම් තියෙන නිසාම ඒ වගේ කතාවක් කියන්න ජනසමාජය පුරුදු වෙලා තියෙනවා. හැබැයි ඉතින් මේ කතාව සියයට සියයක්ම ගැලපෙන්නෙ ලෝකෝත්තර මාර්ගයේ ගමන් කරන, සසරින් නිදහස් වෙන්න උත්සාහ විරිය දරන උදවියට. මොකද ඒ අය ලෝකයේ යථා ස්වභාවය තේරුම් අරගෙන ඉන්න නිසා, ඕනෑම අවස්ථාවකට ධර්මානුකූලව මුහුණ දීල විදර්ශනාවට නගල සසර ගමන කෙළවර කරගන්න අවස්ථාව උදා වෙන නිසා.

දැන් මේ කියන්න යන්නෙත් ඒ වගේ සිද්ධියක්. හෙළ බොදු පියුම දහම් සඟරාව පටන් ගන්න මුල් වුන කාරණය බොහොමයක් පින්වතුන් නොදන්නව ඇති. මේ තමයි ඒ ආරම්භක කතාව හෙවත් නිධාන කතාව කෙටියෙන්.

ඒ කාලෙ ඉඳන්ම විවිධ ජනමාධ්‍ය ඔස්සේ වහරක හාමුදුරුවන්ටයි උන්වහන්සේ විසින් දේශනා කළ දහමටයි නිර්දය ලෙස පහර ගහන එක්තරා භික්ෂූන් වහන්සේ නමක් හිටියා. උන්වහන්සේ ලෝක සම්මතයේ ජ්‍යෂ්ඨත්වයෙන් වැඩි නිසා, මේ දහම රැක ගන්න පෙනී සිටිනවා කියල, තමන්ගෙ තියෙන නොදන්නාකම නිසා, නිවන් දකින්න බණ කියන භික්ෂූන් වහන්සේලාට ධර්මය විකෘති කරන්නන් හැටියට පහර ගැසීම තමයි මූලික වශයෙන්ම සිද්ධ කළේ. ඒ භික්ෂූන් වහන්සේගේ ප්‍රධාන ගොදුරක් බවට පත්වෙලා තිබුනෙ වහරක හාමුදුරුවො සහ ඒ විහාරස්ථානය ඇතුළු ඊට සම්බන්ධ පින්වත් පිරිස. මොකද ඒ දවස්වල වහරක හාමුදුරුවො පවත්වපු දහම් වැඩසටහන්වලට බොහොම ඈත පළාත්වලින් පවා බස් පිටින් පින්වත් පිරිස් දහස් ගණනින් සහභාගි වුන නිසා මේ භික්ෂූන් වහන්සේට ඒක දරාගන්න බැරිවුණා.

ඉතින් ශ්‍රව්‍ය දෘෂ්‍ය මාධ්‍ය දෙකෙන්ම උන්වහන්සේ වහරක හාමුදුරුවො ඇතුළු ඒ පිරිසටත්, දහමටත් බොහොම පහත් විදිහට පහර ගැහුවා. ඒ දවස්වල වහරක හාමුදුරුවො මතු කළ දහම් කරුණු ඇසුරින් ජාතික පුවත්පතක පළවුණ ලිපි පෙළ නවත්වන්නත් මේ භික්ෂූණ් වහන්සේ සෑහෙන බලපෑම් කරල තිබුණා. ඔය අතර ඒ කාලෙ තිබුණා එක්තරා දෙමාසික සඟරාවක්. සාමාන්‍යයෙන් ජාතික මට්ටමේ වෙනත් පුවත්පත් සඟරාවල පළවන තොරතුරුවලට වඩා එහා ගිය තොරතුරු තමයි ඒ සඟරාවෙ පළවුනේ. ඒ කියන්නෙ හරි හෝ වැරදි වේවා, විවිධ පුද්ගලයන්ගෙ, ආයතන ආදියේ පෞද්ගලික මට්ටමේ තොරතුරු තමයි ප්‍රධාන වශයෙන්ම කතා කළේ. කොටින්ම කියනවනම් පුද්ගලික වැරදි අඩුපාඩු. ගිහි පැවිදි කියල භේදයක් බැලුවෙත් නෑ. එක්තරා මතවාදී ස්වරූපයක ඉඳගෙන, සමාජ අසාධාරණය සහ සමාජ සෝධනය පෙන්වන අදහසින් තමයි ඔවුන් ඒක සිද්ධ කළා කියන්නෙ. හැබැයි ඒ වගේ අසාධාරණකම්වලට විරුද්ධව සාධාරණ විවේචනත්, සාහිත්‍ය විචාරණත් ඒ අතර පළවුනා. ඉතින් ඒ වගේ හෙළිදරව් කිරීම් නිසා ඒවාට කැමැත්තක් දක්වන පාඨක පිරිසකුත් හිටියා. ඒ නිසා ජාතික පුවත්පතක් වගේ නැතත්, නම කිව්ව පමණින් ඒ සඟරාව අඳුනන ස්වභාවයක් නාගරික සහ අර්ධ නාගරික ජනතාව අතර තිබුණා.

ඉතින් අර හාමුදුරුවො මේ සඟරාවේ කතුවරයා මුණගැහිල, වහරක හාමුදුරුවන්ටයි, ඒ දායක පිරිසටයි විරුද්ධව අභූත චෝදනා එල්ල කරල බොහොම අපහාසාත්මක ආකාරයේ ලිපියක් මේ සඟරාවෙ පළකරල තිබුනා. ඒ වගේම ඒ සම්බන්ධයෙන් තවත් ලිපියක් ඉදිරියේදී පළකෙරෙන බවත් සඳහන් කරල තිබුනා. හැබැයි ඒ කතුවරයා ඒවායේ සත්‍ය අසත්‍යතාවය කිසිවක් නොදැන, ජ්‍යෂ්ඨත්වයෙන් වැඩි නිසාත්, සම්මත ලෝකයේ දැනුමක් තියෙන භික්ෂූන් වහන්සේ නමක් නිසාත්, ඒ කියන කරුණු කාරණා සම්පූර්ණයෙන් සත්‍යයි කියන මතයේ ඉඳගෙන තමයි ඒ ලිපිය පළකරල තිබුණේ. එහෙම නැතිව වහරක හාමුදුරුවො මුණගැහිලවත්, පන්සලට ඇවිත් කරුණු හොයල

බලලවත් නෙවෙයි. කොහොම හරි ඒ විදිහෙ අභූත චෝදනාවක් සහිත අපහාසාත්මක ලිපියක් අහවල් සඟරාවෙ පලකරල තියෙනවා කියල, වහරක පන්සලට සම්බන්ධ, තරමක් සෝදිසියෙන් ඉන්න පින්වතුන් කිහිප දෙනෙකුටත් දැනගන්න ලැබුණා. ඒ එක පින්වතෙක් ඒ කතුවරයාට දුරකතනයෙන් කතා කරල මේ ගැන කරුණු පැහැදිලි කරල දුන්නම, ඔහු මේ ගැන ඇත්ත නැත්ත දැනගන්න කැමති වෙලා තිබුණා.

ඊට පස්සෙ ඒ ගැන උනන්දුවක් දක්වපු තවත් පින්වතෙක් ඒ කතුවරයා මුණගැහිල මේ ගැන කරුණු පැහැදිලි කරන්න යන්න මටත් කතා කළා. මම ඉතින් මුලින්ම ඒක ප්‍රතික්ෂේප කළා. ලෝකයාට ඕන දෙයක් කියාගන්න දෙන්න, අපිට ඔය මිනිස්සු හදන්න බෑ, කරගත්ත පව් ඒ අයම විඳවයි, අපි ඕවට කාලය නාස්ති නොකර අපේ වැඩක් බලාගමු කියල මම ඔහුට කිව්වා. කොහොම හරි ඔහුගේ දැඩි ඉල්ලීම සහ කරුණු පැහැදිලි කිරීම නිසාම, කමක් නෑ එහෙනම් කියන්න තියෙන ටික පිළිගත්තත් නැතත් කෙටියෙන් කියල එමු කියල මමත් ඔහු සමග ඒ කතුවරයාගේ නිවසට ගියා.

සඟරාවේ අන්තර්ගතය ඒ වගේ වුනත්, ගිහින් කතාබහ කරන කොට, ඒ කතුවරයා යමකට ඇහුම්කන් දෙන, යම්කිසි දෙයක් තේරුම් ගන්න පුළුවන් පරිණත බවක් තිබුණ පුද්ගලයෙක් බවත් වැටහුණා. ඒ කියන්නෙ යකා හිතන තරම් කළු නෑ. ඉතින් ඒ සඟරාවෙ පළකරල තිබුණ ලිපියේ තිබ්බ්ච අභූත චෝදනා එකින් එකට අරගෙන, ඒවා සම්පූර්ණයෙන් සාවද්‍ය බවත්, ඒ භික්ෂූන් වහන්සේ ඒ විදිහට පහර ගහන්න හේතුවත් අපි ඔහුට පැහැදිලි කරල දුන්නා. හැබැයි අපි ඔහුට කිව්වා, අපි කියන නිසා පිළිගන්නත් එපා, ඔබතුමාම වහරක පන්සලට ගිහින් මේ කරුණුවල ඇත්ත නැත්ත බලාගෙනම තීරණය කරන්න කියල. ඒ වගේම ඔබේ මේ සඟරාවේ මොන තරම් අසත්‍ය, අපහාසාත්මක දේවල් අපි සම්බන්ධයෙන් පළකළත්, අපේ හෘද සාක්ෂිය ඒවා අසත්‍යයි කියල දන්න නිසා, අපිට හෝ වහරක හාමුදුරුවන්ට හෝ ඒ ගැන කිසිම ආකාරයක කලබල වීමක්, තරහවක්, වෛරයක් හෝ වික්ෂිප්ත වීමක් නැති බවත්, ඒ ගැන සැලකිල්ලක් නොදක්වන බවත් පැහැදිලිවම කිව්වා. කොටින්ම කියනව නම්, අපි මිනී මැරුවා, මංකොල්ල කෑවා කියල ලිව්වත්, ඔය මහත්මයත් එක්ක කිසිම අමනාපයක් වෛරයක් නැති බවත්, ඒ විදිහේ අභූත චෝදනා නැඟීම ලෝකයේ ස්වභාවයක් නිසා, මේ ලැබිල තියෙන වටිනා කාලය නාස්ති කරගෙන, ඒවාට විරුද්ධව ගැටෙන්න හෝ පියවර ගන්න හෝ අපිට අවශ්‍ය නැති බවත් පැහැදිලිවම කිව්වා. ඒ නිසා මහත්තයට ඕනෑම දෙයක් ලියාගන්න, අපේ කිසිම තරහක් වෛරයක් නෑ කියල, හැබැයි ඒකෙ තියෙන බරපතලකමත් පැහැදිලි කරල දුන්නා.

අපි එහෙම කිව්වම ඔහුට තේරුම් ගියා, මෙතැන මොකක් හරි ලොකු වැරැද්දක් සිද්ධ වෙලා තියෙන බව. මොකද අපිත් කිසිම කලබලයක් නැතිව, ඒ ගැන වැඩිය ගණන් ගන්නෙ නැතිව, ඒ අය මොන දේ ලිව්වත් අපිට ගැටළුවක් නෑ කියන තැන ඉඳගෙන තමයි කතා කළේ. කොහොම හරි ඔහු අපිත් එක්ක බොහොම සුහදව කතා බහ කරල මේ පිළිබඳව ඇත්ත දැනගන්න අවශ්‍ය බවත් කිව්වා. එහෙම කියල අපිට ඒ ගැන ලිපියක් ලියල දෙන්නත් කිව්වා. ඒ අතර ඔහු පන්සලට සම්බන්ධ තවත් පින්වතුන් කිහිප දෙනෙක් එක්ක වහරක හාමුදුරුවො මුණගැහෙන්න ගිහින් කතාබහ කරල යම්කිසි අදහසක් අරගෙන තිබුනා. ඊළඟ දවසෙ අර ලිපිය පළකිරීම ගැන දැනගන්න ගියාම, ඔහු බොහොම සුහදශීලීව අපිව පිළිඅරගෙන අපිට පුද්ගලිකවම කතා කරල, ඒ හාමුදුරුවො වහරක හාමුදුරුවන්ට සහ පන්සලට එන පිරිසට විරුද්ධව ඉදිරියේදී පළකරන්න බාර දීපු ලිපිය ගැනත් කිව්වා. ඒකෙ කටයුතු සියල්ල සකස් කරල අවසන් කරල තියෙන්නෙ, මම ඒ ලිපිය පුද්ගලිකවම පෙන්වන්නම්, කියවල බලල වැරදි නම් කියන්න, මම ඒ ලිපිය සම්පූර්ණයෙන්ම ඉවත් කරන්නම් කියලත් කිව්වා. ඉතින් ඒ ලිපියත් අපි කියවල බැලුවා. ඒකෙ මාතෘකාව විදිහට තිබුණෙ "වහරක යන ගොන් රැල" කියල. ඒ ලිපියේ අන්තර්ගතය සම්පූර්ණයෙන්ම අභූතයි, අපහාසාත්මකයි, අසත්‍යයි. ඒ අසත්‍ය කරුණුවලින් කිහිපයක්ම එවෙලෙම ඔප්පු කරන්න පුළුවන් මට්ටමේ තිබුණෙ. අපි කිව්වා, මහත්තයා මේ ලිපියෙ අන්තර්ගතය සම්පූර්ණයෙන්ම ද්වේශ සහගත අසත්‍ය කරුණුවලින් පිරිල තියෙන්නෙ, ඒවායින් කිහිපයක් විතරක් අපි දැන් ඔප්පු කරල පෙන්වන්නම්, අනික්වා ඔබතුමාම ඇවිත් බලාගන්න කියල. එහෙම කියල ඒ සාවද්‍ය කරුණු කිහිපයක් එකින් එක පැහැදිලි කළාම, ඔහු ඒ ලිපිය සම්පූර්ණයෙන්ම ඉවත් කරන්න එවෙලෙම තීරණය කළා. මොකද ඒ වෙනකොට ඔහුට යම්කිසි විශ්වාසයක් අපි කියන කාරණා කෙරෙහි ගොඩනැගිල තිබුණා.

ඊට පස්සෙ වහරක හාමුදුරුවන්ටත්, පන්සලටත් සාධාරණය ඉෂ්ට වෙන්න ඕන කියල ඔහුම තීරණය කරල, ඒ චෝදනාවලට උත්තර සහිතව වහරක පන්සල ගැනත් විස්තරයක් සහිත දහම් ලිපියක් පළකරන්න අපිට අවස්ථාව දුන්නා. ඒ සඳහා අවශ්‍ය කරුණු වහරක හාමුදුරුවොත් එක්ක සාකච්ඡා කරල අපි දීර්ඝ ලිපියක් ලිව්වා. ඔහු ඒ සම්පූර්ණ ලිපියත් සමග, වහරක හාමුදුරුවන්ගෙ ඡායාරූපයක් සඟරාවේ මුල් පිටුවේ පළකරන්නත් තීරණය කළා. ඉතින් කිසිම අඩුවක් නොකර ඒ පිළිතුරු ලිපිය සහිත සඟරාව ඒ විදිහටම මුද්‍රණය කරල ඒකෙ පළවෙනි පිටපත වහරක හාමුදුරුවන්ට පිළිගන්වන්නත් ඔහු පන්සලට ආවා.

ඊට පස්සෙ ඉතින් උන්වහන්සේ එක්කත් කතාබහ කරල, පන්සල ගැනත් තොරතුරු විපරම් කරල බැලුවම ඔහුට සම්පූර්ණයෙන්ම තේරුම් ගියා, අර හාමුදුරුවො දීල තියෙන තොරතුරු සම්පූර්ණයෙන්ම අසත්‍යයි කියල. අන්තිමට ඔහු වහරක හාමුදුරුවො ගැන බොහොම පැහැදුනා. හාමුදුරුවන්ගෙ කතා විලාසයත්, ඒ කතා කරපු දහම් කාරණාත්, කවුරුහරි බැන්නා දොස් කිව්වා කියල, කලබල වෙන්නෙ නැති නිවිච්ච ස්වභාවයත් ඒ පැහැදීමට හේතු වුණා. ඊට පස්සෙ ඔහු කියනවා, හාමුදුරුවනේ මම අම්ම තාත්තට විතරයි හිස නමන්නෙ, මෙච්චර කාලයකට කිසිම හාමුදුරුවො නමකට වැඳල නෑ, අද පළවෙනි වතාවට භික්ෂූන් වහන්සේ නමක් විදිහට ඔබවහන්සේට වඳිනව කියල. එහෙම කියල ඔහු වහරක හාමුදුරුවන්ට පැහැදීමෙන්ම වැන්දා.

ඉතින් ඒ දක්වාම යම්කිසි දැඩි මතවාදයක හිටපු මේ කතුවරයා, වහරක හාමුදුරුවන්ගෙ ධර්මානුකූල පැහැදිලි කිරීම් හමුවේ ඒ තිබිච්ච දැඩි මතධාරී ස්වභාවය වෙනස් කරගෙන, සාසනය කෙරෙහි මෙච්චර කලක් නොතිබුණ යම් කිසි චිත්ත ප්‍රසාදයක් ඇතිකර ගත්තා. ඊට පස්සෙ මේ දහම ගැන තවත් ලිපියක් ලියල දෙන්න කියල, ඒ දෙවැනි ලිපියත් සකස් කරල දුන්නම ඒ ලිපියත් සඟරාවෙ පළ කරන්න ඔහු කටයුතු කළා.

ඒ වගේම වහරක හාමුදුරුවො කියන බණ දහම සාමාන්‍ය ජන

සමාජයේ අහන්න දකින්න නැති නිසාත්, පොත්පත්වල නැති නිසාත්, වඩාත් ප්‍රායෝගික හා ගෝචර නිසාත්, ඒ කරුණු සමාජයට ගෙනියන්න ඕන කියන අදහසක් ඔහුට ඒ කෙටි කාලය තුළ ඇතිවෙලා තිබුණා. ඉතින් ඒ වෙනකොට ඔහු අපිත් එක්ක බොහොම සුහදව කටයුතු කළ නිසා දවසක් මට කතා කරල කිව්වා, අපි වහරක හාමුදුරුවො කියන බණ දහම සමාජයට ගෙනියන්න සඟරාවක් කරමු කියල. නමුත් ඒ වෙනකොටත් ඒ බණ දහම් ආශ්‍රිත ලිපි මාලාවක් අවුරුදු දෙකක් තිස්සේ ජාතික පුවත්පතකට සපයල, ඒ කටයුතුවලින් ඉවත් වෙලා තවත් සංයුක්ත දහම් තැටි කිහිපයක් සංස්කරණය කිරීමේ කටයුත්තක නිරත වෙලා හිටපු නිසා මට ඒ වගේ සඟරාවක් කරන්න කිසිම උනන්දුවක් හෝ හැකියාවක් තිබුණෙ නෑ. ඒ ගැන කිසිම අත්දැකීමකුත් නෑ. ඒක මහ අමාරු කටයුත්තක් විදිහට තමයි වැටහුණේ. ඒ නිසා මම ඔහුට ඒ සම්බන්ධයෙන් තියෙන අපහසුතාවය පැහැදිලි කරල දුන්නා. අපිට ඒ සම්බන්ධයෙන් කිසිම දැනීමකුත් නැති නිසා, හැම මාසයකම සඟරාවක් මුද්‍රණය කරල බෙදාහරින එක ලේසි පහසු දෙයක් නෙවෙයි, මේ තියෙන වැඩ ටික කරගන්නත් කාලය මදි, කැමති කෙනෙක් ඉන්නව නම් මේ බණ අහගෙන යයි කියල මම ඔහුට කිව්වා. නමුත් ඔහු ඒ සඳහා සම්පූර්ණයෙන්ම සහය දෙන්නම් කියල, හාමුදුරුවන්ගෙන් අහල ඒ ගැන කියන්න කියල නිතර නිතර ඉල්ලා සිටියා. ඒත් එවැනි දේකට කිසිම අදහසක් තිබුණෙ නැති නිසා මම ඒ කටයුත්ත මග හැරියා.

කොහොම හරි ඔහු දවසකට දෙතුන් වතාවක් කතා කරල, නිතර නිතර කියන්න ගත්තා, මේ දහම බොහොම වටින නිසා අපි මේ වගේ දහම් සඟරාවක් කරමු, සංස්කරණය සහ මුද්‍රණ කටයුතු මම බලාගන්නම් කියල. ඊට අමතරව සඟරාවට ගැලපෙන සුදුසු නමක් හාමුදුරුවන්ගෙන් අහල කියන්න කිව්වා. ඔහුගේ දැඩි ඉල්ලීම නිසාම, මම හාමුදුරුවන්ට කතා කරල කිව්වා, අහවල් මහත්තයා මේ දහම ගැන සඟරාවක් කරන්න ඕන කියනවා, ඒ සඳහා සුදුසු නමක් ඉල්ලනවා, අපිට නම් හාමුදුරුවනේ ඕවාට සම්බන්ධ වෙන්න වෙලාවක් නෑ, ඒ ගැන දැනීමකුත් නෑ කියල. කොහොම හරි හාමුදුරුවො, හොඳයි මම හවසට දෙන්නම් කියල එදාම සමාධියට යොමු කරල ගැලපෙන නම් හයක් ලබා දුන්නා, මේවායින් කැමති එකක් තෝරගන්න කියල. මමත් ඒ වෙලාවෙම ඒ කතුවරයාට ඒ නම් හයම ලබා දුන්නා, ඔබ කැමති නමක් තෝරගන්න කියල. ඊට පස්සෙ ඔහු තමයි ඒ නම් අතරින් "හෙළ බොදු පියුම" කියන නම හොඳයි කියල තෝරාගත්තෙ.

ඊට දවසකට පස්සෙ ඔහු ඒ සඟරාවෙ නම සමග පිටකවරයත් සැලසුම් කරල කතා කරල කිව්වා, ඔක්කොම හරි දැන් දහම් ලිපි ටිකක් තමයි හොයාගන්න ඕන, එක ලිපියක් දැනට ලියල දෙන්න කියල. ඒ වෙලාවෙත් තිබුණ අනෙකුත් වැඩ කටයුතු නිසා ලිපියක් ලියන්න මම අදිමදි කළා. පස්සෙ ඔහු නිතර නිතර කතා කරල මේ ගැන කියනකොට, බේරෙන්න බැරි තැන බොහොම අමාරුවෙන් ලිපියක් ලියල දුන්නා. ඊට පස්සෙ තවත් කෙටි ලිපියක් ලියල දෙන්න කිව්වම ඒකත් ලියල දුන්නා. ඊළඟට නැවතත් කතා කරල කියනවා, හාමුදුරුවන්ගෙ ජීවිත කතාව ගැනත් කෙටියෙන් ලිපි පෙලක් ආරම්භ කරන්න කරුණු ටිකක් ගත්තා, ඒකත් සකස් කරල දෙන්න කියල. ඊළඟට කියනවා, තව කවුරුහරි මේ බණ අහන, සමාජයේ පිළිගත්ත වෘත්තිකයෙකුට කියල මේ දහම ගැන ලිපියක් ලියල දෙන්න කියල. මමත් ඉතින්, කමක් නෑ, මේ සඟරාව විතරයිනෙ, මේකෙන් පස්සෙ මගේ වැඩක් බලාගන්නවා කියල, වහරක හාමුදුරුවන්ගෙන් බණ අහල යමක් අවබෝධ කර ගත්ත වෛද්‍යවරයෙක් සම්බන්ධ කරල, ඒ ගෙදරටත් ඔහුත් සමග ගිහින් විස්තර කියල, මෙන්න මේ සඟරාවට දහම් ලිපියක් ලියල දෙන්න කිව්වා. ලේඛන කලාවේ හැකියාවක් නැති නිසා මුලින් ඔහුත් ඊට අදිමදි කළා. මම කිව්වා, මටත් මේ මහත්තයගෙන් බේරෙන්න බෑ ලිපි ඉල්ලල, ඔන්න ඔබතුමාට පුළුවන් විදිහට මොනව හරි ලියල දෙන්න, මමත් පුළුවන් විදිහට අඩුපාඩු හදල දෙන්නම්, මේ වතාවෙ විතරයිනෙ කියල.

ඉතින් ඔය විදිහට ලිපි හතරයි පළවෙනි සඟරාවට තිබුණෙ. පිටු 16 යි. නමුත් පිටු 16 කට ප්‍රමාණවත් කරුණු තිබුනෙ නැති නිසා, අන්තිමට පින්තූර ටික ලොකු කරල තමයි ඉතිරි ඉඩකඩ පිරෙව්වෙ. සාමාන්‍ය පත්තර මුද්‍රණය කරන ඩිමයි කොළේ තමයි මුද්‍රණය කළේ. පිටපත් 3000 යි. සඟරාවේ මිලත් රුපියල් 30 ක් කියල ඔහු විසින්ම තීරණය කළා. පන්සලෙන් සහ තවත් පින්වතුන් කිහිප දෙනෙක් ඒ සඳහා මූල්‍යාධාරත් ලබා දුන්නා. හැබැයි අන්තිමට ලිපි ටිකත් බාර දීල මට නිකං ඉන්න පුළුවන් වුනේ නෑ. ඒවායේ හරි වැරදි බලන්නත් එන්න කිව්වා. දැන් ඉතින් මොකද කරන්නෙ, මේක ඉවරයක් වෙන වැඩක් නෙවෙයි, කමක් නෑ මේ වතාවෙ විතරයිනෙ කියල, ඒ කටයුතු කරන තැනට ගිහින් හැන්දෑවෙ හතේ ඉඳන් පාන්දර දෙක වෙනකල් සෝදුපත් බලල ළඟ ඉඳගෙනම පරිගණකයෙන් ඒ නිවැරදි කිරීම් කළා. කොහොම හරි ඔහු සඟරාවත් මුද්‍රණය කරල පෝය දවසෙ ඒක පිළිගන්වන්න වහරක පන්සලට යමු කියල කතා කළා. ඒ වෙද්දිත් ඒ ගැන අපිට කිසිම උනන්දුවක් තිබුණෙ නෑ. පෝයට කොහොමත් පන්සලට යන නිසා ගියා මිසක් ඒ වෙනුවෙන්ම ගියා නෙවෙයි. කොහොම හරි සඟරාවෙ මුල් පිටපත හාමුදුරුවන්ට පිළිගන්වල අනෙක් පිරිසටත් ලබාගන්න සැලැස්සුවා.

ඊට පස්සෙ මුද්‍රණ කටයුතු ගැනත් යමක් කමක් දන්න, කලින් ඒ කතුවරයා මුණගැහෙන්න මාත් එක්ක ගිය පින්වතා කිව්වා, අපිට ඔය සඟරාව තනියෙන් කරගෙන යන්න හැකියාව තියෙනවනෙ, ඒ ගැන දන්න හොඳ පිරිසක් අපි අතර ඉන්නවා, ඒ හරහා අපි ඕක කරගෙන යමු කියල. ඒකත් මහ කරදරකාරී වෙහෙසකාරී කටයුත්තක් නිසා මම ඒකටත් එකඟ වුණේ නෑ. අන්තිමට ඒ පින්වතා, ඒ හැකියාව තියෙන, මේ බණ දහම් අහන පන්සලට සම්බන්ධ තවත් කිහිප දෙනෙකුට මාව සම්බන්ධ කරල පන්සල හරහාම ඊළඟ සඟරාව කරගෙන යන තැනට තල්ලු කළා. ඊට පස්සෙ පන්සලට යන එන පින්වත් පිරිසත් බොහොම උනන්දුවෙන් සඟරාව කියවන බව තේරුම් ගිය නිසා, අපිත් රැයක් දහවලක් බලන්නෙ නැතිව, සමහර අවස්ථාවල දින ගණන් නිදි වර්ජිතව මේ සඟරාව හැම පසළොස්වක පොහොයක් පාසාම එළි දක්වන්න පෙලඹුනා. පසු කාලයක ඒ විදිහට ඒ මුල් කටයුතු සම්බන්ධ කරල දුන්න පින්වතාත්, දායක වුන තවත් පින්වතුන් කිහිප දෙනෙකුත් වරින් වර පැවිදි දිවියට ඇතුලත් වුණා.

ඒ විදිහට පටන් ගත්ත ගමන තමයි ධර්මතාවයෙන්ම අපිව මේ තැනට තල්ලු කරල, පිටු 16 සඟරාව 32 දක්වා වැඩි කරල, ගුණාත්මක බවින් ඉහළ කොළ යොදාගෙන, පළමු මුද්‍රණය පිටපත් 15,000 දක්වා වැඩි කරල, මුද්‍රණ වියදමටත් අඩුවෙන් ලබා දෙන්න කටයුතු කළේ. පින්වතුන්ගෙන් මුදල් ආධාර ලැබුණ නිසාත්, කිසිම මූල්‍යමය ලාභයක් බලාපොරොත්තු නොවුන නිසාත්, දෙවැනි කලාපයේ පටන් රු. 10 ක් අඩු කරල රු. 20 කට



# අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ අත්ල සටහන්වලින් කියවෙන අධ්‍යාත්මික ශක්තිය

ශ්‍රීට අවුරුදු 11 කට පෙර (2008 වසරේ) වහරක හාමුදුරුවෝ රෝහල්ගත වෙලා බරපතළ සැත්කමකට ලක් කිරීමෙන් අනතුරුව, හදිසියේම ඉඩ ලැබුණ මොහොතක ජංගම දුරකථනයෙන් ලබාගත් උන්වහන්සේගේ වම් හා දකුණු අත්ල ඡායාරූප සටහන් තමයි මේ. කැමරාකරණයේ දක්ෂතාවයක් නැති නිසා, ඒ අවස්ථාවේ ඉඩ ලැබුණු විදිහට, කවදාහරි වැදගත් වෙයි කියල හිතලයි එදා මේ ඡායාරූප දෙක ලබාගත්තෙ. ඒ වගේම අද වෙනකොට මේ මගින් පිළිබිඹු වන විශේෂ ලක්ෂණ කිහිපයක් දැනගන්න මේ ඡායාරූප වැදගත් වෙනවා. එදා උන්වහන්සේ මේ අත් දෙකේම රේඛා පෙන්වල කිව්වා, මේ සැත්කමට සතියකට පෙරත් අත් දෙකේම ජීවන රේඛා කැඩිල තිබුනෙ, දැන් මේ දෙකේම රේඛා නැවත යාවෙලා කියල. එහෙම කියල, මනුස්සයො එදිනෙදා කරන පින් පව් හා කර්ම වේග ගෙවීම අනුව මේ අත්වල රේඛා දිනපතා වෙනස් වෙන බවත් පැහැදිලි කළා. ඒ වගේම **වම් අතින් කර්ම භවයත්, දකුණු අතින් මෙලොවදී විපාක දෙන ප්‍රවෘත්ති විපාකත් කියවෙන බව කිව්වා.**

ඔය විදිහට මේ අත්වල රේඛා පවා පටිච්ච සමුප්පාද සිද්ධාන්තයක් අනුව ගොඩනැගිල තියෙන බවත්, මනුස්සයෙක්ගෙ පෙර අත්බැව්වල විස්තර, මේ අත්බවයේ විස්තර, පින් පව්, කර්ම විපාක, ඉදිරිය... ආදී විස්තර රාශියක් මේ සිද්ධාන්තය හරියට දන්න කෙනෙකුට විග්‍රහ කරල

සඟරාව ලබා දෙන්න අපිම තීරණය කළා. අවුරුදු 8 ක පමණ කාලයක් එතැන් පටන් මේ දක්වා ලංකාවේ විතරක් නෙවෙයි, විදෙස් රටවල පින්වතුන් පවා මේ සඟරාව වැඩි දියුණු කරල අඛණ්ඩව ගෙනයෑමේ කටයුත්තට විවිධ අයුරින් දායක වුණා.

කොහොම හරි එදා ඒ භික්ෂූන් වහන්සේ එවැනි ප්‍රහාරාත්මක ලිපියක් ඒ සඟරාවට නොලියන්න "හෙළ බොදු පියුම" කියන දහම් සඟරාව බිහි නොවෙන්නත් ඉඩ තිබුණා. නමුත් ධර්මතාවය ක්‍රියාත්මක වෙලා මේ සඟරාව ඒ විදිහට කලඑළි දැක්කා. ඒත් එදා ඒ භික්ෂූන් වහන්සේගේ අදහස වුනේ, මේ දහමට පහර ගහල ඒ වැඩපිළිවෙල කඩාකප්පල් කරන්න. **නමුත් අන්තිමට සිද්ධ වුනේ කවුරුවත් හිතපු නැති දෙයක්. මේ දහම ජනතාව අතරට ගෙනියන්න තවත් මාවතක් විවෘත වුණා. ඒ වගේම ඒ කතුවරයත් නිකරුණේ අකුසල් රැස්කරගෙන මහා අවැඩක් කරගන්න තිබ්ච්ච අවස්ථාව මගහැරුනා. ඔහුටත් තමන්ගෙ දෘෂ්ඨිය වෙනස් කරගෙන, කවද හරි මේ සසරින් ගොඩයන්න අඩිතාලමක් සකස් වුණා. තවත් බොහොමයක් හේතු වාසනා තියෙන පින්වතුන්ට මේ ආර්ය මාර්ගයට අවතීර්ණ වෙන්න අවස්ථාව උදා වුණා. ඒ වගේම ලෙඩ දුක් කරදර අඩුකරගෙන ලෞකික වශයෙන් අභිවෘද්ධිය ලබන්නත් බොහෝ පිරිසකට මංපෙත් විවර වුනා.**

ඉතින් සඳුන් ගහ කපන්න කපන්න සුවඳවත් වෙනව වගේ, මේ දහමට පහර ගහන්න ගහන්න තවත් ඔප් නැංවෙනවා කියන කාරණයත් මේ වෙනකොට සනාථ වෙලා තියෙනවා. ඒක අපි අත්දැකීමෙන්ම දන්නවා. පහර ගහන නිසා ඒ පිළිබඳව ඇත්ත නැත්ත හොයන්න විමසන පින්වතුන් අන්තිමට යථාර්ථය දැනගන්නවා. ඒ නිසා වර්තමානයෙත් මේ දහමට පහර ගහන උදවියට මතක් කරන්න තියෙන්නෙ, ඒවා පාරා වළලු බවට පත්වෙලා අන්තිමට මේ දහම තව තවත් ඔප් නැංවෙනවා කියන කාරණය. ඒ නිසා හැම දේම වෙන්නෙ හොඳටයි කියන කතාව මේ අවස්ථාවටත් හොඳින් ගැලපෙනවා.

අවසාන වශයෙන්, ලෝක සත්ත්වයාගේ මෙලොව පරලොව නිවන් අභිවෘද්ධිය උදෙසා වටිනා දහම් කරුණු රැසක් ඉදිරිපත් කිරීමට, එදා ආරම්භයේ පටන් මේ දක්වා ඇප කැප වෙලා නන් අයුරින් සහසම්බන්ධ වෙලා, මේ සඟරාව ඉදිරියට ගෙනියන්න දායක වූ පින්වත් සියලු දෙනාම පුන්‍යානුමෝදනා පූර්වකව සිහිපත් කරමින්, ඒ සියලු දෙනාටම අජරාමර වූ අමා මහ නිවන් සුව අත්කර ගැනීමට මේ සියලු පින් කුසල් හේතු වාසනා වේවායි ප්‍රාර්ථනා කරනවා.

**නීතිඥ චන්දන සිරිවර්ධන**

කියන්න පුළුවන් බවත් කිව්වා. හැබැයි උන්වහන්සේ කිසිම සාස්තරයක් බාහිරින් හදාරන්නෙ නැතිව, ඥාන ශක්තියෙන්ම පටිච්ච සමුප්පාදයට අනුකූලව ඒ ගැන හොඳ දහම් විග්‍රහයක් කළා. ඊට අවුරුදු කිහිපයකට පසු, ලෝකයාගේ යහපත පිණිස ඒ ගැන සියුම් දහම් විග්‍රහයක් කරල දෙන්න උන්වහන්සේ පොරොන්දු වුණත්, අවාසනාවකට ඉන්පසු උන්වහන්සේට ඇතිවෙච්ච අසනීප තත්වයන් හා ගුප්ත ලෝකයේ හිරිහැර නිසා ඒ අවස්ථාව ගිලිහිලා ගියා.

කොහොම හරි එදා ලබාගත්ත මේ අත්ල සටහන්වල ඡායාරූපවලින්, උන්වහන්සේගේ විශේෂ ලක්ෂණ ගැන යම්කිසි ඉඟියක් ලබා ගන්න පුළුවන් වෙයි කියන අදහසින්, ලංකාවේ පිළිගත් හස්ත රේඛා සාස්ත්‍රඥයින් කිහිප දෙනෙකුටම මම ඒවා ලබා දුන්නා. හැබැයි ඔවුන්ට ඒ පිංතූර ලබා දුන්නෙ ඒ ගැන කිසිම විස්තරයක් නොකර, පරේය්ෂණයක් සඳහා තොරතුරු ලබා ගන්න බව කියල. ඒ හැර මේ අත්ල හිමි පුද්ගලයා කවුද, මොන වගේ කෙනෙක්ද, දැනට ජීවතුන් අතර ඉන්නවද... ඒ මොනවත් විස්තර කිව්වෙ නෑ. අධුගාණෙ භික්ෂුන් වහන්සේ නමක් කියලවත් කිව්වෙ නෑ. මොකද මේ සාස්ත්‍රයේ සත්‍ය අසත්‍යතාවය දැනගන්නත් ඕන නිසයි මම එහෙම කිව්වෙ. මගේ එකම ඉල්ලීම වුණේ, මේ අත්ල හිමි පුද්ගලයා මොන වගේ කෙනෙක්ද කියල මේ තියෙන පින්තූර දෙකෙන් තමන් දන්න යම් සාස්ත්‍රයක් අනුව විස්තර කියන්න කියල. ඒ හැමදෙනාම කිව්ව කාරණයක් තමයි, මේ පින්තූරවල අත්ල සටහන් විතරයි තියෙන්නෙ, ඇඟිලි සටහන් නෑ, ඒ වගේම අත්වල සහ ඇඟිලිවල පිටපැත්ත හෙවත් පිටි අල්ලත් තිබුණ නම් ඒ සියල්ල උපයෝගි කරගෙන ලොකු විග්‍රහයක් කරන්න තිබුණ කියල. නමුත් තියෙන දත්ත ටිකෙන් පුළුවන් විස්තරයක් කරන්න කියල ඉල්ලා සිටියම, ඔවුන් තමන්ගෙ හැකියාව අනුව ඒ ගැන විග්‍රහයක් කළා.

ඒ සියලු දෙනාම අඩු වැඩි වශයෙන් කියපු පොදු කාරණා කිහිපයක් තිබුණා. ඒ බොහොමයක් කාරණා ගත්තම, උන්වහන්සේගේ ජීවන තොරතුරුවලට ගැලපෙන බවත් පෙනී යනවා. ඒ අතර ගිහි කාලයේ පටන් ලෞකික වශයෙන් කියපු විස්තර තිබුනත්, උන්වහන්සේගේ අධ්‍යාත්මික ජීවිතය සම්බන්ධයෙන් හෙළි කළ විශේෂ ලක්ෂණ කිහිපයක් විතරක් ඉතා කෙටියෙන් ඉදිරිපත් කිරීම වැදගත් කියල හිතනවා.

ඒ නිසා මේ ගැන පරේය්ෂණ කරන උදවියට යම් පමණකින් හෝ මේ කාරණාවල විද්‍යානුකූලබාවය, ඇත්ත නැත්ත දැනගැනීමට පුළුවන් වෙයි කියන අදහසිනුත්, උන්වහන්සේගෙන් බණ පදයක් අහපු, ගරු බුහුමන් දක්වන සැදැහැවත් පින්වතුන්ගේ සහ මතු පහළවන පින්වතුන්ගේ පහන් සංවේගය පිණිසත් මේ අත්ල ඡායාරූප සහ ඒ පිළිබඳ විස්තර කථනය කෙටියෙන් ඉදිරිපත් කරනවා.

අධ්‍යාත්මික ශක්තිය කිව්වම, පහළ මට්ටමේ, මධ්‍යම මට්ටමේ, ඉහළ මට්ටමේ කියල අවස්ථා 3 කට වෙන් කරන්න පුළුවන්. එතකොට මේ අත්ල හිමි පුද්ගලයාට තියෙන්නෙ ඉතා ඉහල මට්ටමේ අධ්‍යාත්මික ශක්තියක්. දැඩි අධ්‍යාත්මික නැඹුරුවක් තියෙන කෙනෙක්. කරුණාව, දයාව, පරිත්‍යාගශීලී බව හදවතේ ඉහළින්ම සටහන් වෙලා තියෙන නිහතමානී කෙනෙක්. අධ්‍යාත්මික පැත්තෙන් පුළුල් විදිහට හිතල ලෝකයාට උදව් උපකාර කිරීමේ, සේවය කිරීමේ විශේෂ ගුණාංගයෙන් යුක්තයි. සමාජයේ ඉතාමත් වැදගත් කීර්තිමත් පුද්ගලයෙක්. ඉතා කැපී පෙනෙන කීර්ති රේඛාවක් හිමියි. පෙර යහපත් සසර පුරුදු බොහෝකොටම වඩපු කෙනෙක්. තමන්ගෙ හැකියාවන් තුලින් ඒ අධ්‍යාත්මික ශක්තිය ඉතා ඉහලට ඔසවා තබන්න පුළුවන්.

ත්‍රිශූල ලකුණ ඉතා පැහැදිලිව තියෙනවා. ඒකෙන් පෙන්වන්නෙ සංසාරගත විශේෂ අධ්‍යාත්මික හුරුවක් තියෙන බව. සංසාරගතවම ඒ ශක්තිය තියෙනවා. ඒ ශක්තිය තවත් දියුණු කරගන්න පුළුවන් කෙනෙක්. නමුත් ඒ හරහා බාධා රේඛාවක් තියෙන නිසා, පෙර කර්ම විපාකත් එක්ක ඒ ගමනට යම්කිසි බාධා එල්ල වෙන බවත් පෙන්වනවා. ඒ බාධා තමන්ගෙ අභ්‍යන්තරයෙන් වගේම බාහිරින් එන්නත් පුළුවන්. අභ්‍යන්තරයෙන් කිව්වම අසනීප ගති නිසා වෙන්නත් පුළුවන්. බාහිර වශයෙන් ගත්තම, තමන්ගෙ බැඳීම්වලින් බාධා එන්න පුළුවන්. ඒ වගේම අපේ ඇහැට නොපෙනෙන ගුප්ත ලෝකයේ මාර පාක්ෂික බලවේගවලින් බාධා එන්නත් පුළුවන්. ඒ නොපෙනෙන බලපෑම් සෞඛ්‍ය පැත්තට බලපාන්නත් පුළුවන්. හැබැයි බාහිරින් එන ඒ බලපෑම් තමන්ගෙ අධ්‍යාත්මික ශක්තියෙන් මැඩ පවත්වා ගැනීමේ හැකියාවත් තියෙනවා.

හතරැස් අල්ලේ පිහිටීමෙන් ඉතා පරිණත බුද්ධියක්, වහා යමක් අවබෝධ කර ගැනීමේ සියුම් ඥානයක් සහ ඒ ලක්ෂණය තවත් වැඩි දියුණු කරගන්නා ස්වභාවයක් පෙන්නුම් කරනවා.

ඒ වගේම තමන්ගේ කීර්ති නාමය, ගරුත්වය රැකෙන විදිහට වැඩ කටයුතු කරන අතරම, ඒවාට හානියක් වෙන ආකාරයට වැඩ නොකරන ගති ලක්ෂණයක් ස්වභාවයෙන්ම පිහිටා තියෙනවා. නිතරම ලෝකයාට සේවයක් සලස්වන විදිහේ මානසිකත්වයක් පෙන්වනවා. හෘද රේඛාවේ පිහිටීම අනුව අධික සංවේදීතාවය, අධික කාරුණිකභාවය පෙන්වනවා. ඒ වගේම හෘද රේඛාවේ දැඩි වක්‍ර බවින්, තමන්ගෙ මතයෙම දැඩි විදිහට ඉන්නෙ නැතිව අනුන්ටත් හොඳින් ඇහුම්කන්දෙන නම්‍යශීලී බවක් පෙන්වනවා. අන් අයගේ සිත් ගන්නා ආකාරයට කතා කිරීමේ චතුර කතිකත්වයක් තියෙනවා.

පෙනෙන මට්ටමට කුජ, ගුරු, සෙනසුරු මණ්ඩල විශේෂයෙන් බලවත්. ගුරු, සෙනසුරු මණ්ඩල බලවත් වීමෙන් අධ්‍යාත්මික වැඩකටයුතුවලට අවශ්‍ය සියුම් ඥානය හා ගුරුහරුකම් ඉතා හොඳින් ලැබෙනවා. කුජ මණ්ඩලය බලවත් වීමෙන් ඒ කටයුතුවලට අවශ්‍ය වෙර වීරිය ඉතා හොඳින් ලැබෙනවා. ඒ වගේම සෙනසුරු මණ්ඩලය බලවත් වීම නිසා අටලෝ දහමින් කම්පා නොවීමේ අකම්ප්‍ය ගුණය විශේෂයෙන් පිහිටනවා. දරා ගැනීමේ ශක්තිය, උපේක්ෂා ගුණය පෙර සසරේදී හුරු කරල තියෙනවා. ඊට අමතරව මේ මණ්ඩල තුනත් සමග සිකුරු මණ්ඩලයත් බලවත් බවක් පෙන්නුම් කරන නිසා ගරු සැළකිලි පුද සත්කාර නිරායාසයෙන්ම ලැබෙනවා. හැබැයි ඒ සියල්ල උපේක්ෂාවෙන් විඳ දරා ගැනීමේ හැකියාවක් ඉහත මණ්ඩල බලවත්ව පිහිටීමෙන් පෙන්නුම් කරනවා. රවි මණ්ඩලයේ බලවත් බවින්, කරන කියන කටයුතුවල මූලිකත්වයක් පෙන්නුම් කරනවා. තමන්ගෙ යහපතට වඩා අන් අයගේ යහපත වෙනුවෙන් ක්‍රියා කරන පරාර්ථකාමී පුද්ගලයෙක්. දැඩි අධිෂ්ඨාන ශක්තියෙන් යුක්තයි. මේ සියල්ල දෛවයෙන් උරුම කරගෙන වැඩූ ප්‍රඥාවක් ඇති බවත් පෙන්නුම් කරනවා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

32 වන කොටස



අංගුත්තර නිකාය 1 – 111 පිටුව

ජාණුස්සෝනි බමුණාට කළ දෙසුමක්. "කළ බැවිනුදු නොකළ බැවිනුදු සත්ව තෙමේ අපායට යත්. එසේම කළ බැවිනුදු නොකළ බැවිනුදු සත්ව තෙමේ සුගතියට යත්." (එකම වචනවලින් විවිධ අදහස්, තැනට සුදුසු ලෙස දේශනා කර ඇති බව පෙනේ. කාය දුෂ්චරිතය සහ කාය සුචරිතය මෙසේ ගැලපෙන්න යොදා කිව යුතුයි.)

අංගුත්තර නිකාය 1 – 130 පිටුව

බුද්ධ කාලයෙහිද නමස්කාර පාඨය තිබූ බවට සාක්ෂියක්. ආරාම දණ්ඩ නම් බ්‍රාහ්මණයා එසේ නමස්කාර කළ බව ඇත.

අංගුත්තර නිකාය 1 – 216 පිටුව

අට්ටීයති- හරායති- ජිගුච්චති යන වචන දිව්‍යමය ආයුස, වර්ණය, සුඛය, යසස, අධිපති බව යන මේවාට යෙදී ඇති අයුරුත් මෙසේ පෙන්වා ඇත. මහණෙනි, ඉදින් අන්තොටු පිරිවැජියෝ (අන්‍ය පරිබ්‍රාජකයෝ), ඇවැත්නි දෙව්ලොව උපදනා පිණිස මහණ ගොයුම් කෙරෙහි බඹසර වස් වෙසෙන්නේ දැයි (බඹසර වසන්නේ දැයි ) ඇසූ විට ඒ සඳහා වේ නම්, පීඩිත විය යුතුය, ලැජ්ජා විය යුතුය, පිළිකුල් කටයුතුය **(කෙනෙක් දෙව් ලොව යන්න බඹසර වසයි නම් එයද පිළිකුල් කළ යුතු, ලජ්ජා විය යුතු කරුණක් බව. මේ අනිච්ච/අනිසි බව පෙන්වූ තැනකි)**

අංගුත්තර නිකාය 1 – 253 පිටුව

සුවසේ නිදීම පිළිබඳව නියම තතු. රාග ද්වේශ මෝහ දැලිවලින් තොරවීමයි සුව සේ නිදීම ලෙස පෙන්වා ඇත්තේ.

අංගුත්තර නිකාය 1 - 353 පිටුව

කතාවට යෝග්‍ය අයෝග්‍ය පුද්ගලයන් පිළිබඳව විස්තර ඇත.

අංගුත්තර නිකාය 1 – 443 පිටුව

**කරන ලද කර්මවලට විපාක නොවිඳ කෙලවර කිරීමක් (නිවන් දැකීමක්) නැත කීවොත්, බ්‍රහ්මචර්‍ය වාසයත් මැනවින් දුක් කෙළවර කිරීමක් නොවේ.** කර්මය යම් සේද ඊට අනුකූල විපාක විඳින්න වේ යයි කී විට, බ්‍රහ්මචරිය වාසයද මැනවින් දුක් කෙළවර කිරීමද වේ.

අංගුත්තර නිකාය 1 - තික නිපාතය - 463 පිටුව

ලෝකයේ ආස්වාදයක් ඇති නිසාම සත්වයෝ ඇලෙන බව.

* බුදු පියාණන් වහන්සේ මේ බුද්ධ සාසනයේ පළමුව අවබෝධය ලැබූ හෙයින් දෙටු යයිද, රහතන් වහන්සේලා පසුව අවබෝධය ලැබූ හෙයින් කණිටු යයිද, වෙනස එපමණකැයිද සමහරුන්ගේ මුළා මතයක් ඇත. සංයුක්ත නිකාය 3 - සම්බුද්ධ සූත්‍රයේ 114 පිටුවේ වෙනස පෙන්වා ඇත. **බුදුවරු අසම සමයි. රහතුන්ට සමකළ නොහැක. තවත් ලොව්තුරා බුදු කෙනෙකුට සමකළ හැක.**

* **පුද්ගලයින්ගේ මගඵල ලාභිත්වයන් මනින්න, විවේචනය කරන්න යෑම එම විවේචක පින්වතුන්ටම විනාසයක්ද විය හැකිය.** එම අයගේ දෘෂ්ඨ්‍යානුගතිය ගත් අයටද විනාසයක් විය හැකිය. එක්තරා භික්ෂූන් වහන්සේ නමක් සහ උන්වහන්සේගේ ගුරු හිමියන්ද, සකෘදගාමි පුද්ගලයා පංචකාමයේම නොයෙදෙන බවත් පවසා, එසේ යෙදෙන කෙනෙක් මගඵල ලාභී යයි අනුමත නොකර මහා හොරෙක් ලෙස හංවඩුවක්ද ගසයි. අංගුත්තර නිකාය 4 - ධම්මික වර්ගයේ - 110 පිටුවේ එන මිගසාලා සූත්‍රය බැලීමෙන් ඉහත කී කතාවල භයානක බව දැනගත හැකිය.

කෙටි අදහස: මිගසාලා උපාසිකාවගේ පියා පුරාණ නමැත්තෙකි. කාම මෛථුනයෙන් වැළකියාහු බ්‍රහ්මචාරී වූහ. සකදගාමි බව බුදු රජුන්ද දෙසා ඇත. ඇයගේ සුළු පියා ඉසිදත්ත නමැත්තෙකි. ඔහු ස්වද්වාරයන් (පංච කාම දොරටු) සතුටු කරන අබ්‍රහ්මචාරියෙකි. නමුත් බුදු පියාණන් වහන්සේ ඔහුද සකදගාමියෙක් බව අනුමත කර ඇත. **පෙනුමෙන් ගති දෙකක සිටි දෙදෙනෙක් මියගොස් සම උප්පත්ති ලබා තුසිත දෙව්ලොව උපන් බව** බුදු පියාණන්ගෙන් අසා දැනගත් මිගසාලා උපාසිකාවට මෙය වටහාගත නොහැකි කරුණක් විය. මේ පිළිබඳව ආනන්ද හිමියන්ට කළ ප්‍රකාශයක් පරිදි, බුදු පියාණන් වහන්සේ ආනන්ද හිමිට විග්‍රහ කරදුන් ක්‍රමවේදය ඉහත සූත්‍රයේ සඳහන් වේ.

බ්‍රහ්මචාරීව ගත කළ පුරාණ ශ්‍රද්ධා අධික ප්‍රඥා අඩු කෙනෙකි. ඉසිදත්ත ප්‍රඥාවෙන් අධිකයෙකි.

**ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥානය ඇති බුදු පියවරු හැර මෙබඳු අය ගැන තීරණ දෙන්න ශ්‍රාවකයන්ටද බැරි බවත්, දෙදෙනාටම භයානක විනාසයක් වීමටද හැකි බවත්** ඉහත සූත්‍රයේ මනාව විග්‍රහ කර ඇත. එබැවින් ඒ භික්ෂූන් වහන්සේ, තමන්ගේ ගුරුවරයා කීවත් එකවරම ගණන් නොගෙන බුද්ධ වචනයට අනුව මෙබඳු දේ ප්‍රකාශ කිරීම නම් ඉතා යහපති. මෙම සූත්‍රයම අංගුත්තර නිකාය 6 – 246 පිටුවේද ඇත.

*** ආයීයෝ තමන් ලත් උතුරු මිනිස් දම් කියා නොපාතියි මෙකල මතයක් ඇත. දේශනා කර ඇති දහමට වැරදි අර්ථකථන දීමුලාවීමෙන්ද මෙසේ කියන බව පෙනේ. සූත්‍ර නිපාතයේ දුට්ඨට්ඨක සූත්‍රයේ 785, 786, 787 ගාථාවල ඒ කරුණ මනාව පෙන්වා ඇත.** දෘෂ්ඨී ඡන්දයෙන් මැඩුනු දෘෂ්ටි රුචියට බැසගත් තීර්ථක ජනයා, තමා නුපුළුවස්නා ලදුයේම (තමන් අහන්නේ නැතිවම) සීල ධූතාංග ආදී ගුණ කියාපෑම අනාර්‍ය ධර්මයකි. **තෘෂ්ණා දෘෂ්ඨී නැති අරිහතුන් වහන්සේලා එබඳු මුළා සහගතව තමා හුවා දක්වන්නේ නැත. මේ පෙන්වා ඇත්තේ සුදුසු තැන දයානුකම්පාවෙන් ප්‍රකාශ නොකරන බවක් නොවේ. එසේ ප්‍රකාශ කරන බවට සාක්ෂි ත්‍රිපිටකයේ බොහෝ ඇත.**

උතුරු මිනිස් දම් ප්‍රකාශ කිරීම පාරාජිකාවක් බව එක්තරා භික්ෂූන් වහන්සේ නමක් ජාතික පුවත්පතකට සැපයූ ලිපියක සඳහන් කර ඇත. මෙය දහම් විමර්ශනයෙන් තොර මුළා වූ ප්‍රකාශයකි. මෙන්න ඒ සඳහා ත්‍රිපිටකයෙන් සාක්ෂි.

<u>සංයුක්ත නිකාය 4 - අත්ථිනුබෝ පරියාය සූත්‍රය - 276 පිටුව</u>

රහත් බව පළකරන බවට බුද්ධ දේශනාවක්.

<u>අංගුත්තර නිකාය 5 - වේසාලික උග්ග සූත්‍රය - 100 පිටුව</u>

විසල්පුර වැසි උග්ග ගහපති භික්ෂූන් වහන්සේ නමකට තමාගේ අෂ්ට ආශ්චර්‍ය විස්තර කිරීමේදී සෝතාපන්න ඵලය ලැබූ අයුරු මෙන්ම අනාගාමී බවත් පෙන්වා ඇත.

<u>සංයුක්ත නිකාය 2 - පංච බය වෙර සූත්‍රය - 106 පිටුව</u>

සෝතාපන්න බව ප්‍රකාශ කරන බවට සාක්ෂි.

<u>සංයුක්ත නිකාය 4 - මහක සූත්‍රය - 532 පිටුව</u>

චිත්ත ගහපතිගේ ගෙදරට වැඩිය භික්ෂූණ් වහන්සේලා දන් වළඳා ආපසු වැඩිය විට ඇති වූ ග්‍රීෂ්මය, අව්සැර... ආදිය දුරු කර වළාකුළු සහිත සිසිල් සුළඟක් සහ පොද වැස්සක් ඇති කරමින් ඉඳු පෙළහරක් (ඍද්ධි ප්‍රාතිහාර්ය) පෑමද, එසේම චිත්ත ගහපතිගේ ඉල්ලීම පිට උතුරු සළුව මත තණකොළ රොඩු ආදිය තබා, සළුව නොදැවී එම රොඩු දැවෙන්න ඉඳු පෙළහර පෑම ආදියද එම සූත්‍රයේ ඇත. එය මහක තෙරුන්ගේ ඉඳු පෙළහර පෑමකි.

එසේම ඉහත පොතේ 544 පිටුවේ එන නිගන්ථ සූත්‍රයේ, නිගන්ථනාත පුත්‍රයන්ට චිත්ත ගහපති විසින් ප්‍රථම ධ්‍යානයේ පටන් චතුර්ථ ධ්‍යානයට උතුරු මිනිස් දම් ප්‍රකාශ කළ අයුරුද සඳහන් වේ.

<u>සංයුක්ත නිකාය 4 - අචේල සූත්‍රය - 548 පිටුව</u>

මෙහිද අචේල කස්සප නම් පරිබ්‍රාජකයාට චිත්ත ගහපති විසින් තමන්ට ධ්‍යාන හතරටම සමවැදිය හැකි බවත්, කළුරිය කිරීමෙන් පසු මෙළොවට එන සංයෝජන නැති බවත් පැවසීමෙන් අනාගාමී ඵලයද ප්‍රකාශ කර ඇත.

<u>සංයුක්ත නිකාය 5-1 - සිරිවඩ්ඪ සූත්‍රය - 317 පිටුව</u>

අනාගාමී බව පැවසීමක් ඇත.

<u>සංයුක්ත නිකාය 5-1 - මානදින්න සූත්‍රය - 319 පිටුව</u>

මානදින්න ගැහැවි අනාගාමී ඵලය පැවසූ අයුරු

<u>සංයුක්ත නිකාය 5-1 – 392 පිටුවේ පටන් පුම්බාරාම සූත්‍රය, දුතීය, තතීය, චතුක්ක පුම්බාරාම සූත්‍ර හා පිණ්ඩෝල සූත්‍රය</u>

ක්ෂීණාස්‍රව වූ මහණ තෙමේ “ඉපැද්ම ගෙවින. බඹසර වැස නිමවන ලදී. කටයුතු කරන ලදී. මේ බැව් පිණිස අනිකක් නැතැයි දනිමි” (මේ භවයෙහිදී තව කළ යුතු දෙයක් නෑ) අරිහත් බව ප්‍රකාශ කරන බවට සාධක.

<u>සංයුක්ත නිකාය 5-1 - සේක සූත්‍රය - 402 පිටුව</u>

තමන් සේඛ හෝ අසේඛ බවට දැනගන්නා දහම් න්‍යාය පෙන්වා ඇත.

<u>සංයුක්ත නිකාය 5-2 - තතීය අනාථ පිණ්ඩික සූත්‍රය - 211 පිටුව, භික්ඛු සූත්‍රය - 215 පිටු</u>

තමා කැමති නම්, ක්ෂය කළ නිරය ඇත්තෙම්, ක්ෂය කළ තිරිසන් යෝනි ඇත්තෙම්, ක්ෂය වූ ප්‍රේත විෂය ඇත්තෙම්, ක්ෂය වූ අපාය දුර්ගති විනිපාතික ඇත්තෙම්, මම විසව නොගෙන සුළු (නපුරු අපායට නොයන) නියත වූ සම්බෝධිය පිහිටකොට ඇති සෝවාන් වෙමියි හෙතෙම තමා පවසන්නේය.

<u>මජ්ජිම නිකාය 3 - ඡබ්බිසෝදන සූත්‍රය - 42 පිටුව</u>

අරිහත්වය ප්‍රකාශ කළ විට ප්‍රශ්න කළ යුතු අයුරු පෙන්වා ඇත. හරියට කීවොත් අනුමෝදන් වන ලෙසද පෙන්වා ඇත.

<u>සංයුක්ත නිකාය 5-1 – චුන්ද සූත්‍රය - 293 පිටුව</u>

සෝතාපන්න වූ අය යමක් නැතිවූ විට ඇඬීම් දුක් වීම් නැති බව එක්තරා භික්ෂූන් වහන්සේ නමක් පවසයි. නමුත් **සැරියුත් හිමි පිරිනිවන් පෑ බව ඇසීමෙන් ආනන්ද හිමිට සිරුර තද වූවාක් මෙන්ද, දිසාවෝ පැහැදිලි නැති ලෙසද, දහම්ද නොවැටහෙන සේ වූ බවද මේ සූත්‍රයේ** කියා ඇත.

<u>දීඝ නිකාය 2 – මහාපරිනිබ්බායි සූත්‍රය - 225 පිටුව</u>

සෝතාපන්න වූ අයද දුකට අඬන බවත් ඇත (ආනන්ද හිමිගේ දුක් වීම් ඇඬීම් ගැන). එහිම 214 පිටුවේ, පිළිවෙතින් පිදීමම උතුම්ම වැඳුම බව පෙන්වා ඇත. එහිම 244 වන පිටුවේ, බුදු පියාණන් වහන්සේ පිරිනිවෙන්න පෙර ළඟ අවස්ථාවක, භික්ෂූන්ගෙන් බුදුන් දහම් සඟුන් කෙරෙහි, මාර්ගය කෙරෙහි, පිළිවෙත කෙරෙහි සැකයක් විමතියක් ඇත්දැයි විමසා, එසේ නැති බැවින් භික්ෂූන් තුෂ්නිම්භූත වූ විට, ආනන්ද හිමි ඒ භික්ෂූන්ගේ පවිත්‍රභාවය කියා සිටි විට, ආනන්දය ඔබ ප්‍රසාදයෙන් කියන්නේය, මම නුවණින්ම දැක එය කියමියි පවසා, ඒ භික්ෂූන් අතර සෝතාපන්න ඵලයෙන් පහල කිසිවෙක් නැති බව පවසා ඇත.

<u>ඛුද්දක නිකාය 1 - ඒක පුත්‍ර සූත්‍රය - 156 පිටුව</u>

බුදු පියාණන් වහන්සේ වැඩ සිටින කාලයේ තිබූ බෞද්ධ නොවූ සමාජ සිරිතක් නම්, තම හිතවත් කෙනෙකුගේ දරුවෙක් මළ පසු අවසන් කටයුතු සිදුකර නාගෙන තෙත කෙස් පිටින්, තෙත ඇඳුම් පිටින් ස්වභාවයෙන් වේලෙන තුරු සිටීමයි. එබඳු සිද්ධියක් මෙම සූත්‍රයේ සඳහන් වේ. උපාසකවරුද එබඳු දේ කර ඇති බවට සාක්ෂියකි.

<u>ඛුද්දක නිකාය 1 - සුප්පාවාස සූත්‍රය - 160 පිටුව</u>

අවස්ථානුකූලව ලෞකික වූ මෙත් වැඩීමක් බුදු පියාණන් වහන්සේ කර ඇති අතර එය එසේම සාර්ථක වූ අයුරක් මෙහි ඇත. එනම් සීවලී මහ රහතන් වහන්සේ මනුස්සයෙක් වශයෙන් උපදින විට සිය මවට ඇතිවූ දරාගත නොහැකි කායික වේදනාවට, සුඛිත වේවා, නිරෝගි වේවා, නිරෝගි පුතෙක් බිහිවේවා යනුවෙන් මෙත් වඩා ඇත.

*මන්ත්‍ර අධ්‍යයනය-තුන්වේද පරතෙරට ඉගෙනීම- නිඝන්ඩු කෙටූ භාෂා ශාස්ත්‍රය (අකුරු ලිවීම)- අක්බර

**පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...**

පද බේද- ඉතිහාසය- ව්‍යාකරණ සහිත පද හැදෑරීම- ලෝකායත ශාස්ත්‍ර- මහා පුරිස ලක්ෂණ ආදී දැනුම බමුණන්ගේ ත්‍රිවිද්‍යා කොටසකි. බොදුනුවන්ගේ ත්‍රිවිද්‍යා අනිකකි. මේ බුද්ධ දේශනාව අංගුත්තර නිකායේ (5) ජානුස්සෝනි බමුණාට දේශනා කර ඇත. ඒ දේශනාව ඇසූ එම බමුණා කියා ඇත්තේ, බමුණන්ගේ ත්‍රිවිද්‍යාව ආර්‍ය ත්‍රිවිද්‍යාවෙන් සොළොස්වන කලාවටවත් නොවටිනා බවය. මේ පොතේම තිකණ්න බමුණාට කළ දේශනාවද පෙන්වා ඇත.

<u>සංයුක්ත නිකාය 2 - පච්චය සූත්‍රය - 40 පිටුව</u>

පටිච්ච සමුප්පාද ධර්ම විස්තර කරන තැන ජරා මරණ අනිච්ච බව පෙන්වා ඇත.

<u>සංයුක්ත නිකාය 3 - ආනන්ද සූත්‍රය - 180 පිටුව</u>

ආනන්ද හිමි සෝතාපන්න වූයේ මන්තානි පුත්ත පුණ්ණ තෙරුන්ගෙන් බණ අසා බව සඳහන් වේ.

<u>සංයුක්ත නිකාය 3 - සීල සූත්‍රය - 294 පිටුව</u>

**සිල්වත් මහණුන් විසින් පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්, රෝග, ගණ්ඩ, උල්, පීඩා, ආබාධ, සුඤ්ඤතා(හිස් බව) වශයෙන් මෙනෙහි කළ යුතු බවත්, සෝතාපන්න සකදාගාමී අනාගාමී අරිහත් සහ ඉන් පසුවද මෙනෙහි කළ යුතු බවත්** ඉහළ ඵල එසේ ලැබෙන බවත් පෙන්වා ඇත. අරිහත් ඵලයෙන් පසුව කළ යුතු දෙයක් නැතත්, එසේ මෙනෙහි කළ යුතු යයි පවසා ඇත්තේ ඉහාත්ම සුඛ විහරණය හා සිහි නුවණ පිණිස හේතුවන බැවිනි.

<u>සංයුක්ත නිකාය 4 - අත්ථත්ත සූත්‍රය - 704 පිටුව</u>

බුදු පියාණන් වහන්සේගෙන් ආත්මය ඇත්ද ආත්මය නැත්ද යනුවෙන් අසන පැණයට බමුණන්ට හෝ අන්‍ය පරිබ්‍රාජකයන්ට හෝ පිළිතුරු නොදෙන්න හේතුව මෙහි ඇත. යම් බමුණෙක් සාස්වතවාදී නම් ආත්මය ඇත යනු ඔවුන්ගේ ලබ්ධිය වේ. යම් බමුණෙක් උච්ඡේදවාදී නම් ආත්මය නැත යනු ඔවුන්ගේ වාදය වේ. ආත්මය ඇතැයි කීවොත්, සියළු ධර්මයෝ අනත්තයි කීම විදසුන් නුවණ වැඩීමට බාධාවකි. වච්ඡගොත්ත පිරිවැජියාට ආත්මය නැතැයි කීවේ නම්, පෙර තිබූ ආත්මය දැන් නැතැයි ඔහු වඩාත් මුළාවට පත්වන්නේය. මේ පිළිබඳව විස්තර ඇත.



<u>සංයුක්ත නිකාය 4 - සභිය සූත්‍රය - 704 පිටුව</u>

සත්වයා වන්නේද නොවන්නේද යන පැණයට බුදු රජුන් එක එල්ලේ පිළිතුරු නොදෙන්න හේතුව මෙහි ඇත. (රූප- වේදනා- සංඥා- සංඛාර-විඤ්ඤාණ, හේතුවකින් ගොඩනැගෙන බවත්, හේතු නිරෝධයෙන් නිරෝධ වන බවත්, දකින කෙනෙක් ඇත නැත යන විසඳීම සුදුසු නොවන බවත් වැටහේ).

<u>සංයුක්ත නිකාය 5-1 - පරියාය සූත්‍රය - 210 පිටුව</u>

අන්‍ය පරිබ්‍රාජකයන්ද සප්ත බොජ්ජංග ක්‍රමයක් අනුගමනය කළ බව. **සප්ත බොජ්ජංග ලෞකික/ ලෝකෝත්තර වශයෙන් කොටස් දෙකක් ඇති බව** මින් සනාථ වේ.

<u>සංයුක්ත නිකාය 5-2 - ගිලාන සූත්‍රය - 246 පිටුව</u>

ගිලන් බවට පත් උපාසකයකුට මරණාසන්න අවස්ථාවේ මව්පිය, අඹුදරු, සප්ත කාම ස්වර්ගය සහ බඹ ලොව පිළිබඳව ඡන්දරාගය දුරුවන ලෙස අනුපිළිවෙලින් ගෙන ගිය විට එම ගිලන් උපාසකතුමාගේ සිතත්, සියවසක් උපාදානයෝ සිඳලූ තෙරුන් වහන්සේගේ සිතත් අතර වෙනසක් නැති බව.

<u>අංගුත්තර නිකාය 5 - ගාවී උපමා සූත්‍රය - 480 පිටුව</u>

අනුපූර්ව සමාපත්තියෙන් නිරෝධ සමාපත්තියට ප්‍රගුණ කළ විට, ඒ සමවැදීම නැගී සිටීම නිතර ප්‍රගුණ කළ විට, සිත මෘදු වී අප්‍රමාණ සමාධි මොනවට වැඩී සුභාෂිත වූ අප්‍රමාණ වූ සමාධියත්, දිව්‍යැස, දිව්‍යකන... ආදී අභිඤ්ඤා සහිතව අරිහත්වයත් ලැබිය හැකි අයුරු පෙන්වා ඇත.

**අංගුත්තර නිකාය 5 - අනුපුබ්බවිහාර සමාපත්ති සූත්‍රය - 468 පිටුවේ** පටන් හත් අට පොලකම, ඉච්ඡාවෙන් නික්මීමට නිච්ඡාතා කිව හැකි බවට නිදසුන් ඇත.

<u>අංගුත්තර නිකාය 5 - නිබ්බාන සුඛ සූත්‍රය - 476 පිටුව</u>

ආර්‍ය විනයේ දුක හඳුනා දුන් ක්‍රමයක්. පංචකාම සංඥා මනසිකාරය ප්‍රථම ධ්‍යානයට ආබාධයකි. යමක් ආබාධ නම් එය දුකකි. විතක්ක සහගත සංඥා මනසිකාරයෝ ද්විතිය ධ්‍යානයටද, තෘතිය ධ්‍යානයට ප්‍රීති සහගත සංඥා මනසිකාරද, චතුර්ථ ධ්‍යානයට උපේක්ෂා සහගත සංඥා මනසිකාරද, ආකාසානඤ්චායතනයට රූප සහගත සංඥා මනසිකාරද, විඤ්ඤාණඤ්චා-යතනයට ආකාසානඤ්චායතන සංඥා මනසිකාරද, ආකිඤ්චඤ්ඤා-යතනයට විඤ්ඤාණඤ්චා-යතන සංඥා මනසිකාරද, නේවසඤ්ඤානාසඤ්ඤායතනයට ආකිඤ්චඤ්ඤායතන සංඥා මනසිකාරද ආබාධ වේ.

යම් ආබාධයක් වේද තෙල දුක ලෙස බුදුන් වහන්සේ වදාරා ඇත. සියලු අයුරින් නේවසඤ්ඤානාසඤ්ඤායතනය ඉක්මවා නිරෝධයට සම වදිමින් මෙසේද, ප්‍රඥාවෙන් දැක ආස්‍රව පිරිසිඳීමෙන් මෙසේ නිවනින් මෙපිට සියල්ල දුකයි යන දහම තේරුම් ගත යුතුය. (උදායි හිමියන්ට සැරියුත් හිමියන් කළ දේශනාවකි)

<u>අංගුත්තර නිකාය 5 - ධ්‍යාන නිස්සය සූත්‍රය - 488 පිටුව</u>

ප්‍රථම ධ්‍යානයේ පටන් නේවසඤ්ඤානාසඤ්ඤායතනය දක්වා සෑම එකකදීම ඊට අයත් ස්කන්ධ විදර්ශනා කොට අරිහත්වයට පැමිණිය හැකි බවත් පෙන්වා ඇත. මේ ස්කන්ධ විදර්ශනා කළ යුත්තේ අනිච්චතෝ, දුක්ඛතෝ, රෝගතෝ, ගණ්ඩතෝ, සල්ලතෝ (හුල්), අඝතෝ (පළිබෝධ), ආබාධතෝ, පරතෝ (තමන්ට අයිති නැති) පලෝකතෝ (පලුදු

වූ), සුඤ්ඤතෝ (ගන්න හරයක් නැති හිස්), අනත්තතෝ වශයෙනි. මෙසේ විදසුන් වඩා ඒ ස්කන්ධ ධර්මවලින් සිත පටිවා පේති හෙවත් වලක්වාගෙන, ඒතං සන්තං ඒතං පණීතං...ආදී ලෙස සිත අමෘත ධාතුවෙහි බස්වයි. හේ ඒ දැහැන්හි සිටියේ ආසවක්ෂයට පැමිණේ.

<u>අංගුත්තර නිකාය 5 - ආනන්ද සූත්‍රය - 494 පිටුව</u>

ඇස, කන, නාසය... ආදී ඉඳුරන්ට රූප, ශබ්ද... ආදිය ගෝචර වුවත්, ඒ පිළිබඳව බලාපොරොත්තුවක් නොමැති වන්නේ අරිහත්ඵල සමාධියේදි බව පෙන්වා ඇත.

<u>අංගුත්තර නිකාය 6 - තණ්හා සූත්‍රය - 210 පිටුව</u>

**භව තෘෂ්ණාවට ප්‍රත්‍යය (ආහාරය) අවිද්‍යාවයි. අවිද්‍යාවට ආහාරය පංච නීවරණයි. පංච නීවරණයට ආහාරය ත්‍රිවිධ දුෂ්චරිතයයි. ත්‍රිවිධ දුෂ්චරිතයට ආහාරය ඉන්ද්‍රිය අසංවරයයි. ඉන්ද්‍රිය අසංවරයට ආහාරය අසති අසම්පජඤ්ඤයයි (සිහිය සහ ප්‍රඥාව නැතිකම) අසති අසම්පජඤ්ඤයට ආහාරය අයෝනිසෝ මනසිකාරයයි. අයෝනිසෝ මනසිකාරයට ආහාරය අස්සද්දියයි (ශ්‍රද්ධාව නැතිකම). අස්සද්දියට ආහාරය අසත් ධම්ම ශ්‍රවණයයි. අසත් ධම්ම ශ්‍රවණයට ආහාරය අසත් පුරිස සංසේවනයයි.**

මෙසේ අසත් පුරිස සංසේවනය අසත් ධර්මයත්, අසත් ධර්මය නොඇදහිලි බවත් (ශ්‍රද්ධාව නැති කම), නොඇදහිලි බව අයෝනිසෝමනසිකාරයත්, අයෝනිසෝ මනසිකාරය අසති අසම්පජඤ්ඤයත්, අසති අසම්පජඤ්ඤය ඉන්ද්‍රිය අසංවරයත්, ඉන්ද්‍රිය අසංවරය ත්‍රිවිධ දුෂ්චරිතයත්, ත්‍රිවිධ දුෂ්චරිතය පංච නීවරණයත්, පංච නීවරණය අවිද්‍යාවත්, අවිද්‍යාව භව තෘෂ්ණාවත් පුරයි.

<u>උපමාවක්</u>

මහත් පොද සහිත වැසි වසිනා විට පර්වත කුහර බිම් පැලුම් ආදිය පුරවයි. ඒ ජලය කුඩා වලවල් පුරවයි. ඒ වලවල් පිරී මහ වලවල් පුරවයි. මහ වලවල් පිරී කුඩා නදීහු පුරවයි. කුඩා නදී පිරී මහ නදී පුරවයි. මහ නදී පිරුනාහු සාගරය පුරවයි. මෙසේ සයුරට ආහාර වෙයි. මේ උපමා අසත් පුරුෂ සංසේවනය මුල් කර අවිද්‍යාවත්, භව තෘෂ්ණාවත් පිරීමට ආහාර වූ විස්තරය ගලපා ඇත.

එලෙසම සත්පුරුෂ සංසේවනය විජ්ජා විමුක්ති (අරිහත්වය) පුරවන අයුරු මෙසේ එකිනෙකට ආහාර (ප්‍රත්‍ය) වන ක්‍රමය පෙන්වා ඇත.

එනම්, **සත්පුරුෂ සංසේවනය සද්ධර්ම ශ්‍රවණය පුරයි. සද්ධර්ම ශ්‍රවණය ශ්‍රද්ධාව පුරයි. ශ්‍රද්ධාව යෝනිසෝ මනසිකාරය පුරයි. යෝනිසෝ මනසිකාරය සති සම්පජඤ්ඤය පුරයි. සති සම්පජඤ්ඤය ඉන්ද්‍රිය සංවරය පුරයි. ඉන්ද්‍රිය සංවරය ත්‍රිවිධ සුචරිතය පුරයි. ත්‍රිවිධ සුචරිතය සතර සතිපට්ඨානය පුරයි. සතර සතිපට්ඨානය සත්ත බොජ්ජංග පුරයි. සත්ත බොජ්ජංග විද්‍යා විමුක්තිය පුරයි (අරිහත්වයයි).**

<u>අංගුත්තර නිකාය 6 - පඨම සුඛ සූත්‍රය - 218 පිටුව</u>

සාමණ්ඩකානි පිරිවැජියා දුක සහ සැප කුමක් දැයි ඇසූ පැනයකට සැරියුත් හිමියන් දුන් පිළිතුරකි. ඇවැත්නි, අභිනිබ්බත්තිය දුකය. අනභිනිබ්බත්තිය සුඛය. සීතය, උෂ්ණය, සා පිපාසා, උච්චාර පස්සාව (මල මූත්‍ර පහ කිරීම), අග්නි ස්පර්ශය, දණ්ඩ ස්පර්ශය, සෂ්ත්‍ර ස්පර්ශය (ආයුධවලින් කැපීම් කෙරීම්) ඥාති මිත්‍රාදීන්ද එක්වී කෝප ගැන්වීම් ආදී දුක් අභිනිවෘද්ධිය නිසා වේ. අනභිවෘද්ධිය (නොඉපැද්ම) නිසා මේවා නොවේ. එය සැපයකි.

**(දුක ඉපදීම නම් අධ්‍යාත්මික ආයතන ඉපදීම බව බුද්ධ දේශනාව ලෙස පෙන්වා, මේ මස් ලේ ඇට සහිත කය අත්හැර කතා කරන අයට මෙය හොඳ පිළිතුරකි.)**

මීළඟට ඇති දුතිය සුඛ සූත්‍රයත් මේ විස්තරයම තවත් ක්‍රමයකින් පෙන්වා ඇත. සැරියුත් හිමියන් සාමණ්ඩකානි පරිබ්‍රාජකයාට දුක සැප මෙසේ විග්‍රහ කර ඇත. ඇවැත්නි, මේ ධර්ම විනයෙහි අනභිරතිය දුක්ඛය, අභිරතිය සුඛය.

**පැවිදි අයගෙන් සාසනයට ඇල්මක් නැති භික්ෂූන් දිවිය ගතකරන හැම අවස්ථාවලම අසහනකාරී දුක තනන අයුරුත්, සාසනයට ඇල්ම ඇති විට, යන එන කරන කියන සියලු කටයුතුවලදී සුව ඇති හැටිත් පෙන්වා ඇත.**

<u>මහා නිද්දේස පාළි - අත්තදණ්ඩ සුත්ත නිද්දේසය 600 පිටුව</u>

පංචකාමයට තණ්හාවෙන් ආකර්ෂණය වන ස්වභාව ඇති බැවින් තණ්හාවට ආකාශ කියන බව.

<u>ලෝක විනාසය</u>

සංවර්ථ අසංඛ්‍ය කල්පය නම් - වසර ආරම්භ වී කල්පයක් බඹලොව දක්වා පැතිර සිටින අග්නි ජාලාව නිවීයාම දක්වා ඇති කාලයයි. තේජෝ සංවර්ථය, ආපෝ සංවර්ථය, වායෝ සංවර්ථය යනුවෙන් සංවර්ථ තුනක් ඇත.

**ක්‍රෝධ අධික සත්වයන් ඇති කල ගින්නෙන් විනාස වන කල්පය තේජෝ සංවර්ථය නම් වේ. ලෝභ අධික සත්වයන් ඇති කල ජලයෙන් විනාස වන කල්පය ආපෝ සංවර්ථය නම් වේ. මෝහ අධික සත්වයන් ඇති කල වාතයෙන් විනාස වන කල්පය වායෝ සංවර්ථය නම් වේ.**

<u>විශේෂ</u>

පංච මහා වාද නමැති පොතේ 305 පිටුවේ තිබී උපුටා තබන ලදී. තිබෙන තැන පෙළ පොතකින් සොයා දැනගත යුතුයි. “සත්තා සචේතනා සබ්බේ තේ කම්මජා අග්ගීව සබ්බානිව බීජ ජාතානී හේතු ජානී. පඨවීච පබ්බතාච වාතෝච සබ්බේතේ උතුජා”

තවද මෙම පොතේ 325 පිටුවේ කියා ඇති පරිදි, ටිබැට් රටේ එම භාෂාවෙන් කෞවුම් බොවුම් නම් ගසක් ඇති බවත්, මෙම ගසේ පත්‍රවල සහ පළතුරුවල ඉතා ලස්සන දේව නාසර අකුරු පිහිටා තිබෙන බවත්, එම අකුරුවලින් සම්පූර්ණ බුද්ධ දේශනාව කියවෙන (හෙවත් සටහන් වෙන) බවත්, තුන් පිටකයේ සියළුම ධර්මයන් පිහිටා ඇති බවත් කියා ඇත.

එම ගසේ ඡායාරූප අයිසීස් ඇන්වේල්ඩ් නම් ඉංග්‍රීසි පොතේ සහ ටිබැට් රට බුද්ධාගම නම් සිංහල පොතෙත් මුද්‍රණය කර තිබේලු. (විමසීම වටී)

එසේම එම පිටුවෙහිම, මිනිසාට නිරෝගීව බොහෝ කලක් ජීවත් විය හැකි ඖෂධ පැලෑටියක් දේවගිරි නම් පර්වතයක සහ ශ්‍රී පාද පර්වතයේද ඇති බවත්, එය පහළොස් දවසින් පහළොස් දවසට මැරී යන හැටිත්, සෙවීම අපහසු බවත්, පැරණි ඉසිවරු විසින් කියාදී ඇති බව ශ්‍රැතය නම් පොතේ ඇති බවත්, එම ශ්ලෝකයත් සටහන් කර ඇත. එම පැලෑටියේ නම චන්ද්‍රලතාලු.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# නිවන් ලැබ දෙන කමටහන්...

20 කොටස

දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් කිහිපයක් මේ ලිපි පෙළ අවසන් කිරීමට මත්තෙන් මේ විදිහට සටහන් කරනවා.

මේ සමහර කමටහන් ගාථා උන්වහන්සේ විසින් සමාධියෙන් මතු නොකළත්, දීර්ඝ කාලයක පටන් පැවතෙන ගාථා කොටස් භාවිතයෙන් ඇත් වුණ කාලයක, උන්වහන්සේ විසින් අත්හදා බලල ප්‍රතිඵල අත්පත් කරගෙන, සැඟව ගිය ලෝකෝත්තර අර්ථයන් සහ අත්දැකීම් සහිතව දේශනා කරල තියෙන නිසා ලෝකයාගේ යහපත පිණිස සටහන් කරනවා.

ඒ වගේම සමහර කර්මස්ථාන මීට පෙරත් සඳහන් කළ කර්මස්ථානවලට යම් සමාන බවක් පෙනුනත්, ඒවායේ යම් යම් වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ අවස්ථාවන්ට අනුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ නිසා තමන්ට වඩාත් ගැලපෙන කර්මස්ථාන තෝරාගෙන වඩන්න.

කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත් කරගන්න පුළුවන්.

369.අවංක වෙමි
බුදු දරු වෙමි
දම් දරු වෙමි
සඟ දරු වෙමි

භාවනාවට වාඩි වෙලා පළමුව නමස්කාරය කියල, ඉන්පසු සත් බුද්ධ නමස්කාරය කරල, විරූපක්ඛෙහි මේ මෙත්තං... ගාථාවෙන් මෙත් වඩල ඉහත කර්මස්ථානය සිහි කරන කොට ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ආර්ය දැහැන් ලබන්න පුළුවන්. ඒ වගේම මේ කමටහන් වචනවලින් කියවෙන දහම් අර්ථයන් මීට පෙර ලිපිවලින් විග්‍රහ කරල තියෙන නිසා නැවත විස්තර කිරීම අවශ්‍ය නෑ.

## සත් බුද්ධ නමස්කාරය

විපස්සිස්ස නමත්ථු
චක්ඛුමන්තස්ස සිරීමතෝ
සිඛිස්සපි නමත්ථු
සබ්බ භූතානුකම්පිනෝ

වෙස්සභුස්ස නමත්ථු
නහාතකස්ස තපස්සිනෝ
නමත්ථු කකුසන්දස්ස
මාරසේනා පමද්දිනෝ

කෝණාගමනස්ස නමත්ථු
බ්‍රාහ්මණස්ස වුසීමතෝ
කස්සපස්ස නමත්ථු
විප්පමුත්තස්ස සබ්බධි

අංගීරසස්ස නමත්ථු
සක්‍ය පුත්තස්ස සිරීමතෝ
යෝ ඉමං ධම්මමදේසේසි
සබ්බ දුක්ඛාපනූදනං

යේ චාපි නිබ්බුතා ලෝකේ
යථා භූතං විපස්සිසුං
තේ ජනා අපිසුණා
මහන්තා වීතසාරදා

හිතං දේව මනුස්සානං
යං නමස්සන්ති ගෝතමං
විජ්ජාචරණසම්පන්නං
මහන්තං වීතසාරදං

සත් බුද්ධ නමස්කාරය බ්‍රහ්මාදීන්ගේ පවා බැල්ම රැකවරණය ලැබෙන බොහොම වටිනා ගාථා රත්නයක් වුණත්, අද වෙනකොට මේකෙන් කියවෙන හරි අර්ථය සහ ඒ ආශිර්වාදය රැකවරණය ක්‍රියාත්මක වෙන්නෙ මොන ආකාරයෙන්ද කියල බොහෝ දෙනෙක් දන්නෙ නෑ. දැනට කල්ප 91 කට පෙර ලෝකයේ විපස්සි කියන බුදු පියාණන් වහන්සේත්, කල්ප 31 කට පෙර සිඛී, වෙස්සභූ කියන බුදු පියාණන් වහන්සේලා දෙනමත් පහළ වුණා. ඊට පස්සෙ බුද්ධ ශූන්‍ය කල්ප තිහක් ගෙවිල ගියාට පස්සෙ තමයි මේ මහා භද්‍ර කල්පයේ කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම කියල දැනට බුදුවරයන් වහන්සේලා හතර නමක් පහළ වෙලා තියෙන්නෙ. එතකොට කල්ප 91 ක පටන් මේ දක්වා ඔක්කොම බුදුවරයන් වහන්සේලා හත් නමයි. දැන් මේ සත් බුදුවරයන් වහන්සේලාව එදා පටන් දැකල, උන් වහන්සේලාගෙන් බණ අහල අත්දැකීම් තියෙන බ්‍රහ්මයො අදටත් බඹලොව ඉන්නවා.

එතකොට ගෞතම බුදුන් වහන්සේ ඒ බඹ ලොවකට වැඩිය එක්තරා අවස්ථාවක ඒ බ්‍රහ්මයො කියනවා, ස්වාමීණි ඔබ වහන්සේත් එක්ක අපි 

බුදුවරයන් වහන්සේලා 7 නමක් දැකල ඇසුරු කරල බණ අහල තියෙනවා කියල. මේ ආදී වශයෙන් කල්ප 91 තුළ එක් එක් බ්‍රහ්මයො තම තමන් දැකපු විස්තර කියල ගෞතම බුදුන් වහන්සේට ප්‍රසංසා කරල, අද අපි 7 වෙනි බුදුන් වහන්සේටත් නමස්කාර කරනවා කියල උන්වහන්සේටත් නමස්කාර කළා කියනවා. අන්න ඒ සිදුවීම තමයි මේ සත් බුද්ධ නමස්කාරයට මුල් වෙලා තියෙන්නෙ.

එතකොට කල්ප 91 කට පෙර විපස්සි බුදුන් වහන්සේගෙන් බණ අහල අනාගාමී වෙලා අකණිඨා බඹලොව ඉපදිච්ච බ්‍රහ්මයො තවමත් ඉන්නවා. මොකද ඒ ලෝකවල ආයුස ඒ තරම්ම දිගයි. අපි බොහොම චිත්තප්‍රසාදයෙන් මේ ගාථාව කියන කොට අපිට නොපෙනෙන දෙයක් සිද්ධ වෙනවා. හරියට මුළු ලෝකයටම යම්කිසි තරංග ශක්තියක් නිකුත් කරන විකාශන කුළුණක් වගේ ක්‍රියාකාරිත්වයක් මෙතැනත් සිද්ධ වෙනවා. දැන් ඒ කුළුණ දිහා බලාගෙන හිටියට කුළුණ හෙල්ලෙනවා හෝ මුකුත් විශේෂ දෙයක් ජේන්නෙ නෑ. නමුත් ඒකෙන් විහිදෙන කිරණ ශක්තියක් ඇහිපිය ගහන මොහොතකින් හැතැප්ම සිය දහස් ගණනක් ඈතට විහිදිලා යනවා.

අන්න ඒ වගේ දෙයක් මේ ගාථාව කියන කොටත් සිද්ධ වෙනවා. මේ බුද්ධ ගාථාවක් සක්වලටම පැතිරෙනවා. අපිට ජේන්නෙ, තේරෙන්නෙ නැතිවට සක්වලටම ඔය ශක්තිය විහිදෙනවා කියන එක අමුතු දෙයක් නෙවෙයි. ඒක අපිට දැනෙන්නෙ නැති වුනාට ඉතා සියුම් මානසිකත්වයක් තියෙන බ්‍රහ්මයින්ට දැනෙනවා. **විපස්සිස්ස නමත්ථු... කියල කියන කොටම අපෙන් පිටවන ඒ ශබ්ද ශක්තියත් සක්වලටම අපි දන්නෙ නැතිවට විහිදෙනවා.** ඒ අවස්ථාවෙදි චිත්ත විප්පාර නාදය කියල දෙයක් තමයි විහිදෙන්නෙ. **එතකොට ඒ ලෝකවල ඉන්න බ්‍රහ්ම දේවතාදීන්ට තියෙන දිවකන්වලින් ඒ හඬ අහන්න පුළුවන්.** දැන් ඒ සද්දෙ ඇහෙන කොටම විපස්සි බුදුන්ගෙන් බණ අහපු, අකණිඨා බඹලොව ඉන්න බ්‍රහ්මයන්ට ඒකට හරි සතුටුයි. **තමන් සසර දුකින් මිදෙන්න බණ අහපු, ඇසුරු කරපු, දන් දුන්න, චිත්තප්‍රසාදයක් ඇති කරපු ඒ බුදු පියාණන් වහන්සේ කියන අදහස ඒ බ්‍රහ්මයන්ට අදත් තියෙනවා.** ඒ නිසා ඒ බුදුන් වහන්සේට මේ නමස්කාර කරන්නෙ කවුද කියල දිවැසින් බලනකොට දකිනවා, යම්කිසි යහපත් පුද්ගලයෙක් චිත්තප්‍රසාදයෙන් යුක්තව විපස්සි බුදුන් වහන්සේට නමස්කාර කරනවා. ඒ හේතුවෙන් ඒ බ්‍රහ්මයින්ටත් විසාල චිත්තප්‍රසාදයක් ඇති වෙලා, අනේ සාධු කියල ඒ අයත් සාධුකාරයක් දීල, ඒ අයගෙ පුණ්‍ය ශක්තියෙන් අධිෂ්ඨාන කරල, අර ගාථාව කියල නමස්කාර කරන පින්වතුන් කෙරෙහි ආශිර්වාදයක් රැකවරණයක් ඇති කරනවා. දීර්ඝායු වේවා, යහපතක් රැකවරණයක්ම වේවා, සුචරිතයේ පිහිටාවා... ආදී වශයෙන් අන්න ඒ ආශිර්වාදය රැකවරණය ලබන පින්වතුන්ට විසාල යහපතක් වෙනවා. ඒ රැකවරණය ආශිර්වාදය කාටවත් ලේසියෙන් මෙල්ල කරන්න බෑ.

ඒ වගේම සිඛී බුදුන් වහන්සේගෙන් බණ අහල අනාගාමී වෙලා අකණිටා බඹලොව ඉපදිච්ච අය අදත් ඉන්නවා. සිඛිස්සපි නමත්ථු කියනකොට අර වගේම ඒ ශබ්ද ශක්තිය විහිදිලා ඒ අයගෙ දිවකන්වලට ඇහෙනවා. එතකොට ඒ අයත් අර වගේම ආශිර්වාද කරනවා. වෙස්සභුස්ස නමත්ථු කියනකොටත්, උන් වහන්සේගෙන් බණ අහපු බ්‍රහ්මයින්ට ඒ හඬ ඇහිල ඒ අයත් අර විදිහට ආශිර්වාද කරනවා. ඔය විදිහට අකණිඨා බඹලොව විතරක් නෙවෙයි අවිහ, අතප්ප, සුදස්ස, සුදස්සි කියන පංච සුද්ධාවාසවලම ඒ බුදුවරයන් වහන්සේලාගෙන් බණ අහල අනාගාමී වෙච්ච බ්‍රහ්මයො ඉන්නවා. ඒ සියලු දෙනාම ආශිර්වාද කරනවා. එතකොට ඒ විදිහටම කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම බුදුවරයන් වහන්සේලාගේ නම් කියවෙනකොටත්, ඒ ඒ බුදුවරයන් වහන්සේලාගෙන් බණ අහපු බ්‍රහ්ම දේවතාවොත්, අපිට යහපත කරල දුන්න බුදු පියාණන් වහන්සේට නමස්කාර කරනවා කියල ඒ ගැන සතුටු වෙලා අර විදිහටම ආශිර්වාද කරනවා, රැකවරණ සලස්වනවා. මේ ආකාරයට සත්බුද්ධ නමස්කාරය කරනකොට අපි දන්නෙ නැතිවට ඒ බ්‍රහ්මයන්ගේ ආශිර්වාද රැකවරණය අදත් ලැබෙනවා. මේක ලෝකයා නොදකින පැත්තක්. එතකොට ඒ විදිහට **ආශිර්වාද කරන්නෙත් නිකම්ම බ්‍රහ්මයො නෙවෙයි. බුදුන් වහන්සේලාගෙන් බණ අහල අනාගාමී, අරිහත්වයට පත් වෙච්ච බ්‍රහ්මයො. එතකොට ඒ ආශිර්වාදයත් මහ බලවත්.**

ඒ වගේම ඒ බුදු පියාණන් වහන්සේලාගේ අනන්ත බුද්ධ ආශිර්වාදය, බුද්ධ ශක්තිය අදටත් විශ්වයේ විහිදිලා පැතිරිලා තියෙනවා. ඒක නැති වෙලා නෑ. තව පැත්තකින් ඒ ශක්තිය බුදු පිළිසරණ විදිහටත් ලැබෙනවා. මොකද ඒ නමස්කාර කරනවත් එක්කම ගුණයකුත් කියවෙනවා. උදාහරණ විදිහට චක්ඛුමන්තස්ස සිරිමතෝ - සිරිමත් ඇස් ඇත්තාවූ කියනකොට, විපස්සි බුදුන් වහන්සේට තිබිච්ච විශේෂ ගුණයකුත් කියවෙනවා. චක්ඛුමන්තස්ස කිව්වම මසැස, දිවැස, පැණැස, නැණැස, සමතැස (සර්වඥතා ඥානය) කියල විවිධාකාරයෙන් විශේෂයෙන් දකින්න පුළුවන් ඥාන දර්ශන 5 ක් ගැන කියවෙනවා. ඒ සියල්ලම ඇස්. ඒ වගේ අති උතුම් ගුණයක් සිහිකරල තමයි උන්වහන්සේට නමස්කාර කරන්නෙ. උන් වහන්සේගේ කුඩා කාලය බැලුවම අනික් අයට වගේ ඇහිපිය ගහන්න උවමනාවක් නෑ. ඇස්වල දැවිල්ලක් නෑ. ඒක එක්තරා පුණ්‍ය මහිමයක්. සාමාන්‍ය අයට නම් ඇස් දැවිල්ලක් එනකොට ඇහිපිය ගැසීම සිරිතක්. නමුත් එහෙම දාහයක් උන්වහන්සේට නෑ. ඒ එක ලක්ෂණයක්. ඒ වගේම යමක් විවිධාකාරයෙන් විග්‍රහ කරල දැන ගැනීමේ ශක්තියක් බුදු වෙන්න පෙරත් තිබුනා. උන්වහන්සේ බෝසත් අවධියේ කුඩා කාලයේ පියරජතුමා ඇකයේ තියාගෙන වැරදි විනිශ්වයක් දෙනකොටම ඉරියව්වලින් ඒ දුන්න විනිශ්වය වැරදි බව හඟවනවා. එතකොට රජතුමත් තේරුම් ගන්නවා, මගේ විනිශ්වය වැරදි නිසයි පුතා මේ අකමැත්ත පළ කරනේනෙ කියල. යමක් කියාගන්න බැරි පොඩි කාලයෙත් උන්වහන්සේට එහෙම හැකියාවක් තිබුනා. බෝසත් අවධියේ ඉඳන්ම එබඳු වූ විවිධාකාරයෙන් දැනගැනීමේ මහා නුවණ නිසාත් විපස්සි කියල කියනවා.

ඊළඟට සියලු සත්වයන් කෙරෙහිම දයානුකම්පාවෙන් කටයුතු කිරීමේ ගුණය සිහි කරල, සිඛිස්සපි නමත්ථු සබ්බ භූතානුකම්පිනෝ කියල සිඛී බුදුන් වහන්සේට නමස්කාර කරනවා. වෙස්සභුස්ස නමත්ථු නහාතකස්ස තපස්සිනෝ කියනකොට, තවුස් ගුණය තුළින් සියලු දෙනාම අභිබවා ගිය පූර්ණ ගති ලක්ෂණ නිසා වෙස්සභු බුදුන් වහන්සේට ඒ විදිහට නමස්කාර කරනවා. දැන් මේ සියලු බුදුවරයන් වහන්සේලාගේ ගුණ තමයි කියවෙන්නෙ. කිසිම බුදුවරයන් වහන්සේ නමකගේ මේ ගුණවලින් අඩුවක් නෑ. මොකද බුදුවරයන් වහන්සේලා සියලු දෙනාම





ගුණවලින් සමානයි. නමුත් බෝධිසත්ත ගුණෝපේතං කියල බෝසත් කාලයේ පටන් එන විශේෂ ගුණයක් ඉස්මතු කරල තමයි ඒ විදිහට නමස්කාර කරන්නෙ.

අනෙක් බුදුවරයන් වහන්සේලා-ගෙත් බෝධි සත්ව අවධියේ පටන් තිබිච්ච ඒ වගේ විශේෂ ගුණ එකින් එකට සාරාංශ කරල විග්‍රහ වෙනවා. එතකොට මේ ගාථාවෙන් කියවෙන ඒ මහා ශක්තියත් ඇදිල එනවා. මේ ගාථාව ආටානාටිය සූත්‍රයේ විස්තර වෙනවා. එතකොට ඒක කියන්න විශේෂ වෙලාවක්, අවස්ථාවක් නෑ. **භාවනා කරන කොට පූර්ව කෘත්‍යයක් වශයෙන් හෝ වන්දනාමාන කරනකොටත්, එදිනෙදා ජීවිතයේ හැම දේකටම මුල අරඹන්නත් මේ සත්බුදු නමස්කාරය කළාම ලොකු ආශිර්වාදයක් රැකවරණයක් ලැබෙනවා. අමනුස්ස උපද්‍රවයන්ගෙන් වැළකෙන්නත් වැදගත්.**

ඉතින් සියලු සත්වයන්ටම යහපතක් වේවා කියල එහෙම විහිදෙව්වොත් ඒ ශක්තිය ඒ විදිහට පිහිටනවා. නමුත් ඒ ශක්තිය ඇදල එන්න නම් ඒ ඒ සත්වයන්ගෙත් හේතු ශක්තියක් නැගෙන්න ඕන. ඒ ශක්තිය ඊට අනුකූල වුනාට පස්සෙ තමයි ඇදිල එන්නෙ. ඒ තමයි අලෝභ අද්වේශ අමෝහ ගුණ. අන්න ඒ ගුණ යමෙක් තුළ නැගුනොත් සාසනික ආශිර්වාදය ඇදිල ඇවිත් පිහිටනවා. එතකොට සාසන මාර්ගයට රැකවරණයක් ශක්තියක් පිළිසරණ වශයෙන් ලැබෙනවා. ඒ නිසා **ඒ ශක්තිය හරියට ලබාගන්න නම් අපිත් ඊට අනුකූල වෙන්න ඕන. ඒ ගුණයන්ට ඇතුල් වෙන්න ඕන.** අවංක සිතින් චිත්තප්‍රසාදයෙන් සත්බුද්ධ නමස්කාරය කරනව නම් ඒ බ්‍රහ්මදේවතාදීන්ගේ ආශීර්වාදය රැකවරණය ලැබෙනවා. එතකොට රාග, ද්වේශ, මෝහ අදහස්වලට ඉඩ නැතිව විකර්ෂණය වෙනවා. රාග, ද්වේශ, මෝහ සහගත අමනුස්ස බැල්මක් තිබුනනම් ඒවා ඇත්වෙලා යනවා. අවංකවම කරන්න පුළුවන් නම් මෙළොවදීම ලෞකික අභිවෘද්ධියත් ලබන්න පුළුවන්. ඒ වගේම නිවන් මග පූර්ණ කරගන්න විසාල උදව්වක් උපකාරයක් වෙනවා.

විරූපක්ඛේහි මේ මෙත්තං
මෙත්තං ඒරාපථේහි මේ
ඡබ්‍යා පුත්තේහි මේ මෙත්තං
මෙත්තං කණ්හා ගෝතම කේහි ච

(මේ කඳ පිරිතේ එන ගාථාවක්. මේ ගාථාවෙන් කියවෙන්නෙ සර්ප කුල 4කට මෙත් වැඩීම. ඒ විදිහට මෙත් වැඩීමෙන් කිසිම සර්පයෙක් දෂ්ට නොකරන බවත් දේශනාවේ සඳහන් වෙනවා.)

370.පුරත්ථිමාය දිසාය
පුරත්ථිමාය අනුදිසාය
දක්ඛිණාය දිසාය
දක්ඛිණාය අනුදිසාය
පච්ඡිමාය දිසාය
පච්ඡිමාය අනුදිසාය
උත්තරාය දිසාය
උත්තරාය අනුදිසාය
හෙට්ඨිමාය දිසාය
උපරිමාය දිසාය

සබ්බ ලෝකේ සබ්බේ සත්තා
අවේරා හොන්තු
අභ්‍යා පජ්ජා හොන්තු
අනීඝා හොන්තු
සුඛී අත්තානං පරිහරන්තු
යථා ලද්ධ සම්පත්තියෝ
මා විගච්ඡන්තු
සබ්බේ සත්තා භවන්තු සුඛිතත්ථා

මේ කර්මස්ථානය පහත ආකාරයට වඩන්නත් පුළුවන්.

අහං අවේරෝ හෝමි
අභ්‍යා පජ්ජෝ හෝමි
අනිඝෝ හෝමි
සුඛී අත්තානං පරිහරාමි
සබ්බේ සත්තා භවන්තු සුඛිතත්තා

අවශ්‍ය නම් දිසාවන් අයින් කරල ඉතිරි කොටස අරගෙන වඩන්නත් පුළුවන්. මෙතැනදි "හෝමි" කියල ගත්තම "වෙමි" කියන අර්ථයත් "හොන්තු" කියල ගත්තම "වෙත්වා" කියන අර්ථයත් එනවා.

මේ කර්මස්ථානයෙන් කිය-වෙන්නෙ, දස දිසාවේ ඉන්න සියලු සත්ත්වයන්ටම මෙත් වැඩීම ගැන. හැබැයි මෙච්චර කල් අහපු ලෝක සම්මත ලෞකික අර්ථයට එහා ගිය ගැඹුරු ලෝකෝත්තර අර්ථයක් මේකෙන් කියවෙනවා. අන්න ඒ ලෝකෝත්තර අර්ථය තමයි මේ විස්තර කරන්නෙ.

<u>සබ්බේ සත්තා අවේරා හොන්තු-සියලු සත්වයෝ අවෛරී වෙත්වා.</u>
දැන් අවෛරී වෙන්නෙ කොහොමද කියල ලෝකෝත්තර අදහස වෙනම දැනගන්න ඕන. මොකද බෞද්ධයො ගන්නෙ ලෝකෝත්තර අදහස. අබෞද්ධයො තමයි ලෞකික අදහස ගන්නෙ. කෙනෙකුට කෙනෙක් වෛර කරන්නෙ ඇයි? මට අවැඩක් කළා, හිංගි හිංසා කළා, මගේ මිතුරාට අවැඩක් කළා, හිංගි හිංසා කළා, මගේ හතුරාට යහපතක් කළා, ඒකා හොඳ එකෙක් නෙවෙයි, මහා අසත්පුරුෂයෙක්, කාලකන්නියෙක්, මට හතුරුකම් කරපු එකෙක්, මගේ හිතවතාට හතුරුකම් කරපු එකෙක්... මේ ආදී වශයෙන් දුෂ්ට අදහසක් හිතේ බැහැගෙන යමෙක් කෙරෙහි වෛර බැඳ ගන්නවා. කෙනෙකුට පහරක් වැදුනම වෛරයක් එනවා. පුපුරු ගහනවා. වෛරයේ ස්වභාවය තමයි, හිතේ බැහැ ගත්ත තැන් පටන් පුපුරු ගහනවා. කයට කෝටු පහරක් වැදුනම වෛරයක් එනවා. වෛරම් හිටිනවා. අමුතු කැළලක් හිටිනවා. ඒක තමයි වෛරම් කිව්වේ. ඒක තියෙනකල් පුපුරු ගහනවා.

මේ වගේ හිතට වයිරමක් වැදුනම හිත පුපුරු ගහනවා. ඉහත සඳහන් කළ ආකාරයේ කාරණයක් නිසා ඒ පුද්ගලයා කෙරෙහි දුෂ්ට

මානසිකත්වයක් ඇතිකර ගත්තොත්, ඒ දුෂ්ටතාවයේ ඉන්න තාක්කල් මනස පුපුරු ගහනවා. ඒක තමයි වෛරය කියන්නෙ. එතකොට ඇයි මේ වෛරය ගොඩනැගෙන්නෙ? **"මම, මගේ" කියල මානයෙන් ගොඩගහ ගත්තම, දෘෂ්ඨියෙන් අල්ල ගත්තම, හරි වටිනා දෙයක් කියල සාරත්වයෙන් ගත්තම, මගේ වටිනා දේවල් කියල මමත්වයෙන් ගත්තම, ඒකට පහර වදිනකොට වෛරයක් මතුවෙනවා. එතකොට මේ "මම, මගේ" කියල ලොකුවට අල්ල ගත්තෙ බදා ගත්තෙ මොකක්ද කියල විමර්ශනය කරල බැලුවම, අනිච්ච දුක්ඛ අනත්ත බවට පත්වෙච්ච අසාර දෙයක්. අන්න ඒක දැක්ක නම් අසාරත්වයෙන් මිදිල ගිය කෙනාට මොනවා වුණත් වෛරයක් නෑ. හිත පුපුරු ගහන්නෙ නෑ. ගණන් ගන්න දෙයක් නෑ.**

අන්න ඒ තත්වයට පත් වුණොත් ආර්ය විනයේ අවෛරී වෙනවා. ඒක අනිච්ච දුක්ඛ අනත්ත වටහගෙන අසාරත්වය දැකල අතිවෙන හැඟීමක්. අසාර ලෝකය තුල මොනවා කැඩුනත් බිඳුනත්, මොනවා කියල බැන්නත් මම මොකට වෛර හදාගන්නද? කැඩෙන දේවල් කැඩුනාවේ, බිඳෙන දේවල් බිඳුනාවේ, බැන්නොත් බැන්නාවේ. අසාර දේවල්වල ස්වභාවය ඒකයි. අසාර ලෝකයේ පැවැත්ම තියෙන කල් ඕක තමයි ස්වභාවය. ඒ අසාරත්වය තුල ඉඳගෙන මට දගලන්න, පොරකන්න, ඇඟිලි ගහන්න, ගහමරාගෙන බැනගන්න, දූෂ්‍යතාවයට පත්වෙන්න කිසිම උවමනාවක් නෑ. මේ විදිහට ධර්මාවබෝධය ලැබූ කෙනා අවෛරී වෙනවා. අන්න ඒ විදිහට අවෛරී සහ වෛරී වෙන හැටි දැනගන්න ඕන. වෛරය වෛරය හැටියටත් අවෛරය අවෛරය හැටියටත් දැනගන්න ඕන. වෛරයට හේතුව දැනගන්න ඕන. වෛරයෙන් මිදුනම අවෛරී වෙන හැටි දැනගන්න ඕන. අවෛරය තමයි නිවනේ ස්වභාවය. කෙනෙක් යම් තරමකට නිවී සැනසුනානම් ඒ තරමට අවෛරයි.

අභ්‍යාපජ්ජා හොන්තු - මට ගහයි, මරයි, හිංගි හිංසා කරයි කියල බය වෙනවා. මගේ මිතුරාට එහෙම කරයි කියල බය වෙනවා. මගේ හතුරා හොඳට දියුණු වෙලා බලසම්පන්න වෙලා නැගී හිටියි, එතකොට මට පහර ගහයි කියල බය වෙනවා. ඇයි මේ බය වෙන්නෙ? **තමන්ට වටිනවා කියල හිතාගෙන ඉන්න දේකට පහර වදිනකොට බයයි.** මොකක්ද වටින්නෙ? මම, මගේ කියන දේ. ඒ දෙක වටිනවයි කියන අදහසේ ඉන්න තාක් කල් බය නොවී ඉන්න බෑ. **ඒ නිසා මම, මගේ කියන දේවල් අසාරයි, වටින්නෙ නෑ කියල දැන ගත්තම, ඒවා ඡන්දරාගයෙන් අල්ල ගන්න වටින්නෙ නෑ කියල ධර්මානුකූලව දැනගත්තම, මොකට පහර වැදුනත් බය වෙන්න දෙයක් නෑ. බය වෙවී රකින්න දෙයක් මේ ලෝකෙ නෑ. හටගත්ත හැම දේකම ස්වභාවය ඕකයි. එබඳු දේකට කැමැත්තෙන්, ඡන්දරාගයෙන් බැඳෙන්න සුදුසු නෑ.** එහෙනම් මට මේ ලෝකයෙන් අල්ලගන්න දේවල් නෑ කියල දැනගන්නවා. ඒක දැනගත්ත කෙනාට, මොනවා නැති වුණත් මොකට බය වෙන්නද? තණ්හාය ජායතී සෝකෝ - තණ්හාය ජායතී භයං - තණ්හා විප්ප මුත්තස්ස - නත්ථි සෝකෝ කුතෝ භයං- තණ්හාවෙන් වෙන්වෙච්ච කෙනාට කුමන බයක්ද? එහෙනම් අභ්‍යාපජ්ජා හොන්තු කියන්නෙ, මේ කියන බය නැත්තෝ වෙත්වා. එහෙම වෙන්න නම් නිවන් දකින්න ඕන. **නිවනින් මෙපිට බය නැත්තෙක් හැදෙන්න විදිහක් නෑ.** අන්න ඒක තේරුම් ගත්ත කෙනාට අභ්‍යාපජ්ජා හොන්තු කියල කියන්න පුළුවන්.

අනීඝා හොන්තු- අනුන්ට නිගා කරනවා, නින්දා කරනවා. හැබැයි නින්දාවට කැමති නෑ. කීර්ති ප්‍රසංසා ලබන්න බලාපොරොත්තුව තියෙනකල් නින්දාවට බයයි. මගේ තත්වය, වංශය, කුලය, ජාතිය මේකයි, මගේ රැකියාව, තරාතිරම මේකයි, මගේ අහවලාගේ තරාතිරම, රැකියාව මේකයි... ඔය වගේ **මම, මගේ කියල මොනව හරි අල්ලගෙන උසස් වෙලා ඉන්න හදන කෙනාට, ඒක පහත් කරන, නිගා දෙන වචනයක් ආවොත් දරාගන්න බෑ. හරි අමාරුයි.** කවුරු හරි කිව්වොත් උඹ නීචයි පහත් කියල, මම නීචයෙක් නෙවෙයි කියල අදහස උස්සගෙන ඉන්න තාක්කල් ඒ වචනය අහන්න හරි අමාරුයි. උඹට වැඩක් කරන්න කිසිම හැකියාවක්, සුදුසුකමක් නෑ කිව්වොත්, මම දක්ෂයි කියල හිතාගෙන ඉන්න කෙනාට ඒ වචනය හිතට හරි අමාරුයි. ඕකාට මොනම ඉගෙනීමක්වත් නෑ, මෝඩයෙක් කියල කිව්වොත්, ඉගෙනීම තුලින් පණ්ඩිතකම හුවා දක්වන්න හදන කෙනාට ඒක හරි දුක් වේදනායි. අන්න එතකොට ඒ නිග්‍රහයෙන් දුක් වේදනාවක් එනවා. මොකද වටිනාකමක් තියෙනවයි කියන දෘෂ්ඨියේ ඉන්නෙ. වටිනවයි කියල සාරත්වයෙන් ගන්න දෙයක් මේ ලෝකෙ නෑ කියල දැනගත්ත කෙනාට, මොන තත්ව ධ්‍යානාන්තරයක් ආරක්ෂා කරගන්නද? කවුරුවත් නින්දා කරයි කියල මොන වේදනාවක් එන්නද? කවුරු මොනවා කිව්වත් මොකද? මොනවා අඩු වෙන්නද? නමුත් **නම්බුකාරකම බලාපොරොත්තුවෙන් හිටපු කෙනෙකුට නීචයි කිව්වම ඒක දරාගන්න බෑ. තමන්ට එහෙම බලාපොරොත්තුවක් නැත්නම් කවුරු මොනවා කිව්වත් මොකද?** වැඩකට නැති තත්ව ධ්‍යානාන්තරවලින් මොකටද? ඒවායින් ඇති හරයක් නෑ. ඉතින් ඒ වගේ කෙනෙකුට හිඟන්නෙක් කියල කිව්වත් මොකද? ඒ ගැන කිසිම හිත් අමාරුවක් නෑ.

ඒ නිසා **නිගාවෙන් දාහයට පත්වෙන්නෙ නැති කෙනෙක් වෙන්නම් කවදාහරි ලෝකයේ යථාර්ථය දැකිය යුතුයි.** එතකොට එතෙක් කල් බලාගෙන හිටිය ලොකුකම්, තත්ව ධ්‍යානාන්තර, බලය, කුළමල සියල්ලේම බලාපොරොත්තුව ඉවරයි. ආවාස මසුරුකම, කුල මසුරුකම, වර්ණ මසුරුකම, ධර්ම මසුරුකම, ධන (ලාභ) මසුරුකම, කියල සෝවාන් වෙනකොට මසුරුකම් 5 ක් ඉවරයි. සෝවාන් කෙනාට ඒවා ලොකු දේවල් නෙවෙයි. තමන්ට ලොකු ගෙයක් තිබුණ කියල මහන්තත්වයක් නෑ. ආවාස මසුරුකම නෑ. මම අහවල් ඉහල කුලේ ඉන්නෙ කියල කුල මසුරුකම නෑ. මගේ තත්වය, පෙනුම, බල පුළුවන්කාරකම මෙහෙමයි කියල වර්ණ මසුරුකම නෑ. මම මෙච්චර ධර්මය දන්නව කියල ධර්ම මසුරුකම නෑ. ඒ නිසා මාන්නක්කාරකමක් එන්නෙ නෑ. මට මෙච්චර ලාභයක් ලැබුණා, මෙච්චර ධනය තියෙනවා කියල ධන මසුරුකමක් එන්නෙ නෑ. **වත්කම්වලට, සම්පත්වලට මසුරුකම නැති කෙනාට, උඹ හිඟන්නෙක් කියල කිව්වත් ඒ ගැන දාහයක් කැළඹීමක් නෑ.** නමුත් දහම් අවබෝධයක් නැති සාමාන්‍ය කෙනෙකුට එහෙම කිව්වොත් හරි අමාරුයි. ඇඟත් එක්කම රත් වෙලා යනවා. ඒ තරම් දරාගන්න බෑ.

එතකොට මේ නිගාවෙන් බේරෙන්න නම් ලෝකයේ යථාර්ථය දකින්න ඕන. මේ ලෝකයේ ගන්න හරයක් නෑ, ඔය තත්ව ධ්‍යානාන්තර බල පුළුවන්කාරකම්වල කිසිම හරයක් නෑ, පුහු දේවල් කියල දැන ගත්තට පස්සෙ, ඒ ගැන බලාපොරොත්තු නැති වුණානම් යමෙක් පහර ගැහුවත් ගාණක් නෑ. මොකද පහර ගහනවනම් පහර ගහන්නෙ මූලික වශයෙන්



ඔය කියන කාරණා 5 අල්ලගෙන. මූ ඉන්න තැනක් නැති එකෙක්, මූට ගෙයක් දොරක් නෑ, රස්සාවක් නෑ, අනුන්ගෙ ගෙවල්වල කුලියට ඉන්නෙ, අතේ සතේ නෑ, හිඟාකනව වගේ ජීවත් වෙන්නෙ, එදා වේල කන්නෙ කාගෙන් හරි ඉල්ලගෙන... ඔය වගේ දේවල් අල්ලගෙන තමයි ලෝකයා අනෙක් අයට පහර ගහන්නෙ. ඉතිං **ලොකු මිනිහෙක් වෙන්න බලාපොරොත්තු නැති කෙනාට මේ මොනවා කියල පහර ගැහුවත් ඒකෙ ගාණක් නෑ. ඕවා සියල්ල හිස් දේවල් කියල දැනගත්ත කෙනාට ඒ ජාතියේ කතා කියල පහර ගහන්න බෑ. පහර ගැහුවට වැඩක් නෑ. හිත් වේදනා නෑ. කියන වචන කනට ඇහෙනව මිසක් එයින් එහාට ගැටීමකට යන්නෙ නෑ. අන්න එතකොට නිගා නැත්තෙක් වෙනවා.** කවදාහරි මේ ලෝකෙ අසාරත්වය වටහගෙන මේ හිස් දේවල්වල බැඳෙන එක අත්හැරියම නිගාවෙන් නිදහස් වෙන ක්‍රමයක් එනවා. අන්න එතැනට පත්වේවා කියන අදහසින් “අනීඝා හොන්තු” කිව්වොත් නිවන් මග වැඩෙනවා.

<u>සුඛී අත්තානං පරිහරන්තු</u>- සැපවත් ආත්ම භාවයක් පරිහරණය කරත්වා. ලෝක සත්වයා සැපවත් ආත්ම භාවයක් කියන්නෙ පැවැත්ම තුළ ඉඳගෙන විඳින පංචකාම සුවයට. නමුත් යමක් නිසා දුක හටගන්නවද, ඒ දුක යම් තැනක හටගන්නෙ නැත්ද, ඒක තමයි ආර්යන්ගේ සැප. තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර, නිවන හැර, ලෝක සත්වයාට වෙනත් සුවයක් නැතැයි කියන බුද්ධ දේශනාවට අනුව ලෝකයා හිතාගෙන ඉන්න කාම සුවය ගින්නක්. බුදුන් වහන්සේ ඒක සුවයක් කියල පනවන්නෙ නෑ. උන්වහන්සේ එකින් එකට ලෝකය අත්හැරල යනකොට සුවය ලබන හැටි පැහැදිලි කරනවා. ඒ සුවය වේදනා චෛතසිකයෙන් විඳින එකක් නෙවෙයි. ලෝකයා කෙරෙහි ඡන්දරාගය ඒ ඒ මට්ටම්වලින් ක්‍රමයෙන් අත්හැරිල යනකොට ඒ ඒ තැන්වල විඳින යම්කිසි දුකක් අත් හැරුනනම්, ඒ මට්ටමින් ඒක සුඛිත ආත්මයක්/සුඛිත අත්බැවක්.

**කාම සංකල්පනාවන්ගෙන් යම් අසහනයක් විඳින කෙනා කාමයන්ගෙන්, අකුසල ධර්මයන්ගෙන් වෙන් වෙලා ප්‍රථම ධ්‍යානයට පත්වුණොත්, අර ඉස්සෙල්ල තිබුණ කාම දාහයන් ඉවරයි. ඒක සුවයක්. ඒ තමයි ආර්ය විනයේ සුව පෙන්වන හැටි.** ඊළඟට ප්‍රථම ධ්‍යානයේ ඉන්න කෙනාට සවිතක්ක සවිචාර රළුයි. ප්‍රීති සුඛ ඒකාග්‍රතා ඊට වඩා ශාන්තයි කියල වැටහෙනකොට රළු ගතිය අත්හැරිල ඒකෙන් නිදහස් වෙලා ප්‍රීති සුඛ ඒකාග්‍රතා තියෙන ද්විතීය ධ්‍යානයට පත්වෙනවා. ඒ තවත් දුකින් නිදහස් වීමක්, තවත් සුඛයක්. නිතර නිතර නැඟී එන ප්‍රීතියෙන් වෙන් වුණ නිදහස සමග එන සුඛ ඒකාග්‍රතා සුවය ඊටත් වඩා ශාන්තයි ප්‍රණීතයි කියල දැක්කම, අර කලින් ප්‍රීතිය නිසා හටගත්ත දාහය නෑ. ප්‍රීතිය දාහයක් කියල දකින්නෙ තෘතීය ධ්‍යානය අරමුණු වෙන වෙලාවෙ. සුඛ ඒකාග්‍රතාවය ශාන්තයි කියල දකින්නෙ ප්‍රීතිය නිසා හටගත්තු රළු ගතිය ඒකෙ නැති නිසා. උපේක්ෂා ඒකාග්‍රතාවය නමැති හතරවන දැහැනට පත්වෙනකොට, සුඛයි කියල යමක් මනසින් වින්දද ඒක රළු හැටියට දකිනවා. ඒකෙන් මිදුනම ඒ දුකෙනුත් මිදුනා වෙනවා.

ඊළඟට ආකාසානඤ්චායතනයට ගියාම නානා සඤ්ඤා අත්හැරල ආකාසය අරමුණු කරගෙන හිත පිහිටනවා. නානත්ත සඤ්ඤා එතැන නෑ. නානත්ත සඤ්ඤා තිබීමෙන් යම් දාහයක් අසහනයක් වුණානම් දැන් ඒකෙන් මිදෙනවා. එතකොට අර දැහැන් හතරෙම තිබුන අසහනකාරීත්වයෙන් මිදෙනවා. ඊළඟට විඤ්ඤාණඤ්චායතනයට ගියාම ආකාසානඤ්චායතනයෙන් මිදෙනවා. ආකිඤ්චඤ්ඤායතනයට ගියාම විඤ්ඤාණඤ්චායතනයෙන් මිදීමේ සුවය එනවා. නේවසඤ්ඤානාසඤ්ඤායතනයට ගියාම ආකිඤ්ඤංචායතනයට සමවැදිල උත්සාහය විරිය අත්හැරීමේ සුවය එනවා. අන්තිමට සියලු සංඥා නිරෝධ කරල නිරෝධ සමාපත්තියට සමවැදුනම, නේවසඤ්ඤානාසඤ්ඤායතනය ක්‍රියාත්මක වීමේ වෙහෙස අත්හැරීමෙන් ලබන සුවය එනවා.

බුදුන් වහන්සේ මේ විදිහට දේශනා කරනවා. **මහණෙනි, අන්‍ය පරිබ්‍රාජකයන් අහයි, සිත නැති තැනක පනවන සුවය මොකක්ද කියල. එතකොට කියන්න, තථාගතයන් වහන්සේ ලෝක සම්මත වේදනා චෛතසිකයෙන් විඳින සුවයට සුඛ පනවනව නෙවෙයි, යම් තැනක දුකක් නැත්ද එයින් එය සුවයි, ඒ තමයි ආර්යන්ගේ සුවය.** ඒ නිසා සුඛී අත්තානං පරිහරන්තු කිව්වම, දාහයන්ගෙන් මිදුනා වූ අත්බැවක් තමයි පරිහරණය කරන්නෙ. රාගය, ද්වේශය, මෝහය කියන්නෙ දුකක් දාහයක්. මේ තුන නිරෝධ කිරීමෙන් ලබන සුවයක් ඇත්නම් රාග, ද්වේශ, මෝහ ගිනි නෑ. ඒ තමයි අරිහතුන් වහන්සේ. උන්වහන්සේ ඉන්නෙ ඒ ගිනි නැති සුවයේ. උන්වහන්සේගේ අත්බැව පිරිනිවන් පානකල් සුඛ අත්බැවක්. **සුඛී අත්තානං පරිහරන්තු කියල ලෝක සත්වයාට පතන්නෙ, කාම ලෝකයේ එල්ලිලා ඉඳගෙන ආස්වාද විඳ විඳා සන්තෝස වෙලා උඩ පැන පැන හිනා වෙවී ඉන්න එහෙම එකක් ලැබෙන්න කියල නෙවෙයි. කවදාහරි රාග, ද්වේශ, මෝහ නිරෝධ කළ අරිහතුන් වහන්සේ වගේ ශාන්ත සුවයට පත් වෙනවද, අන්න ඒ සුවයෙන් අත්බැව පරිහරණය කරන්න ලැබේවා කියන එක.** උන්වහන්සේගේ අත්බැව පිරිනිවන් පානව මිසක් සසර ගමනේ දුකට නොවැටෙන නිසා, ඒ අදහස අරගෙන සුඛී අත්තානං පරිහරන්තු කියල කියනවා.

**යථා ලද්ද සම්පත්තියෝ**- මේ තමයි ලැබෙන යථාර්ථවත් සම්පත්තිය. ඒ කියන්නෙ, රාග, ද්වේශ, මෝහ නිරෝධ කරපු සම්පත්තිය. **මා විගජ්ජන්තු**- විනාස නොකරාවා. "මා" කියන්නෙ නොවේවා, නොකරාවා කියන අර්ථය. විගජ්ජන්තු කියන්නෙ, ඒක විනාසයට පත්කිරීම, ඒකට පහර ගැසීම, හිංගි හිංසා කිරීම. ඒ තමයි පෘතජ්ජන ලෝක සත්වයා සහ මාර පාක්ෂික බලවේග ආර්යන්ට ගහන පහර. ඔවුන් ආර්යන්ගේ ශාන්තියට නිග්‍රහ කරනවා. බිම බලාගෙන මුකුත් නොකරන කම්මැලියෝ, ගමට රටට සේවයක් කරන එවුන් නෙවෙයි, නිකං කකා බිබී ඉන්න කොටසක්, උන්ට දන් දෙන්න එපා... ඔය ආදී වශයෙන් මාර පාක්ෂිකයො නිග්‍රහ කරනවා. මෙන්න මෙබඳු දේවල් කියන කරන මාර පාක්ෂිකයන්ගේ හා පෘතජ්ජන ලෝකයාගේ ඒ නිග්‍රහය යථාර්ථයෙන් දැකල, ඔවුනුත් රාග, ද්වේශ, මෝහ අත්හැරගෙන මේ ශාන්තිය සුවය දකිත්වා. සබ්බේ සත්තා භවන්තු සුඛිතත්ථා - සියලු සතුන් මේ කියන්නා වූ ශාන්ත වූ නිවන් සුවයට පත්වේවා.

මෙන්න මේ විග්‍රහ කරපු අර්ථය අරගෙන ඔය කර්මස්ථානය වැඩුවොත්, භාවනා කළොත්, ඒක නිවන් මගක් වෙනවා. නිවනේ ආනිසංස දකිනවා. ලෝකයේ ආදීනව දකිනවා. ලෝකයේ ආදීනව දැක දැක ප්‍රශ්වාස කරනවා. නිවනේ ආනිසංස දැක දැක ආශ්වාස කරනවා. ඒ නිසා මේ විග්‍රහයේ ආශ්වාස ප්‍රාශ්වාස දෙකම තියෙනවා. ඒ තමයි බුදු පියාණන් වහන්සේ පෙන්වපු අනාපානා සති භාවනාව. ඒ ආනාපානා සතිය වැඩුවොත් නිවන් දකින්න පුළුවන්.

371.නත්ථි මේ සරණං අඤ්ඤං
බුද්ධෝ මේ සරණං වරං
නත්ථි මේ සරණං අඤ්ඤං
ධම්මෝ මේ සරණං වරං
නත්ථි මේ සරණං අඤ්ඤං
සංඝෝ මේ සරණං වරං

ඒතේන සච්ච වජ්ජේන
සොත්ථි මේ හෝතු සබ්බදා
ඒතේන සච්ච වජ්ජේන
සොත්ථි තේ හෝතු සබ්බදා

ඉතාමත් කෙටියෙන් අදහස විග්‍රහ කරගත්තොත්, නිවන් දකින්න නම් බුදු, දම්, සඟ සරණ විතරයි. ඒ සඳහා වෙනත් සරණක් නෑ. ඒ සත්‍යයේ බලයෙන් මටත් සියලු සත්වයන්ටත් යහපතක්ම වේවා.

ලෞකික වශයෙන් සරණ කර ගන්න පුළුවන් විවිධ පුද්ගලයො, විවිධ දේවල් ලෝකයේ ඕනෑ තරම් ඉන්නවා, තියෙනවා. නමුත් මේ කියන්නෙ ඒක නෙවෙයි. සරණ හෙවත් මේ සසර සැරිසැරීම නතර කරල නිවන් සරණ යන්නනම් බුදු, දම්, සඟ සරණ විතරයි.

372.යේ බ්‍රාහ්මණා වේදගු සබ්බ ධම්මේ
තේ මේ නමෝ තේච මං පාලයන්තු
නමත්ථු බුද්ධානං නමත්ථු බෝධියා
නමෝ විමුත්තානං නමෝ
විමුත්තියා

කර්මස්ථානයක් වශයෙනුත්, ආරක්ෂක ගාථාවක් වශයෙනුත් වඩන්න සුදුසු බොහොම වටිනා කියන පැරණි ගාථාවක් වුණත්, මේ වෙනකොට ලෝකෝත්තර වූ පරමාර්ථ අර්ථය යටපත් වෙලා, මතු පිටින් පෙනෙන ලෞකික අර්ථය විතරක් ගැනීම නිසා බොහෝ ඵල ප්‍රයෝජන ලබන්න පුළුවන් අවස්ථාව අඩු වෙලා තියෙනවා. ඒ නිසා ඒ පරමාර්ථ අර්ථයත් දැන ගැනීම වැදගත්.

බුදුන් වහන්සේ පහළ වෙන්න පෙරත් බ්‍රාහ්මණ/බමුණු කියල කොටසක් ලෞකික වශයෙන් හිටියා. ඒ අයත් මේ බ්‍රාහ්මණ කියන වචනය භාවිතා කළා. නමුත් පෙර බුද්ධ සාසනයේ පැවතිච්ච වචන තමයි ඒ විදිහට බමුණු වේදයට ලෞකික අර්ථයෙන් එකතු වුණේ. ඒකෙන් කියවෙන නියම බ්‍රාහ්මණ ගුණය ඒ අය ළඟ නැතත්, ඒ අයත් බ්‍රාහ්මණ කියල තමන්ටම භාවිතා කළා. නමුත් බුදු **පියාණන් වහන්සේ පෙන්වා දුන්න බ්‍රාහ්මණ කියන්නෙ සාමාන්‍ය අය නෙවෙයි. නිරුක්ති අර්ථයෙන් ගත්තොත්, බහ කළ මනසක්, බහ කළ මානයක් ඇති පිරිස. මානය අළු කරල බහ කරල දැම්මම තව දුරටත් මානයක් නෑ. මානය ඉවරෙටම ඉවර වෙන්නෙ අරිහත් ඵලයෙදි.** අස්මි මානයෙන් මානය කෙළවර වෙනවා. ඒ තමයි නියම බ්‍රාහ්මණ. ඒ කියන අස්මි මානය දුරු කරපු උත්තමයන්ට තමයි නියම බ්‍රාහ්මණ කියන වචනය ගැලපෙන්නෙ.

සන්තති ඇමතිතුමාගෙ කථාව මේ නියම බ්‍රාහ්මණ කියන වචනය ඔප්පු වෙන තැනක්. එතුමා ගිහි වතක රජ ඇඳුම් පිටින් හිටියත්, බුදුන් වහන්සේගෙන් බණ පදයක් අහල එවෙලෙම සියලු අභිඥා බලත් එක්කම අරිහත්වයට පත් වුණා. ඒ වගේම අසූ මහා ශ්‍රාවකයන්ගෙන් කෙනෙක්. හැබැයි තවත් ඉතිරි වෙලා තියෙන්නෙ බොහොම කෙටි ආයුසයි කියල බුදුන් වහන්සේ දැක්කා. නමුත් අනෙක් භික්ෂූන් වහන්සේලා සහ ලෝකයා එතුමාගේ රහත් භාවය දන්නෙ නැති නිසා, බුදුන් වහන්සේ ඉල්ලා සිටියා සැක හැර පිරිනිවන් පාන්න කියල. මොකද රජ ඇඳුම් තමයි ඇඳගෙන හිටියෙ. ඊට පස්සෙ අභිඥා බලයෙන් ආකාසයට නැගිල තේජෝ කසිනයට සමවැදිල අධිෂ්ඨාන කරල ආකාසයේ ඉඳගෙනම පිරිනිවන් පෑවා. උඩදීම දැවිල ගියා මොකුත් ඉතිරි වුණේ නෑ. ඒ නිසා ඒ පිරිසගේ සැකය දුරු වුණා.

ඒ අවස්ථාවෙදි තමයි බුදු රජාණන් වහන්සේ, අලංකතෝ චේපි සමන්චරෙයිය... කියන ගාථාව දේශනා කළේ. (මේ ගාථාවේ තේරුම සහිත විස්තරයක් හෙළ බොදු පියුම 13 වන කලාපයේ "අභයරතනාලංකාරය" යටතේ පළ කරල තියෙනවා) ඒ කියන්නෙ, **යමෙක් අලංකාරව සැරසිලා ගිහි ඇඳුමෙන් හිටියත්, සමචර්යාවෙන් යුක්ත නම්, විසම ගති නැත්නම්, ඒ පුද්ගලයා නියම බ්‍රාහ්මණයෙක්, නියම ශ්‍රමණයෙක්, නියම භික්ෂුවක්.** ඒ නිසා නියම විදිහට බ්‍රාහ්මණ වෙන්නෙ බාහිර ඇඳුමෙන්වත්, කුල පරම්පරාවෙන්වත් නෙවෙයි. හිතේ තියෙන පිරිසුදුභාවය ධර්මානුකූලව නැගුන නම් පරමාර්ථ වශයෙන් ඒ බ්‍රාහ්මණයෙක්. නමුත් සම්මත වශයෙනුත් සිවුරු දරාගත් අයට, පැවිදි අයට ශ්‍රමණ, බ්‍රාහ්මණ, භික්ෂු කියල භාවිතා කරනවා.

ඒ වගේම තමයි, දාරුචීරිය මහරහතන් වහන්සේගේ කතාව. දර පතුරුවලින් ඇඳුමක් ඇඳගෙන කොණ්ඩෙ රැවුල වවාගෙන වැද්දෙක් වගේ හිටපු කෙනෙක් නිසා දාරුචීරිය කිව්වා. නමුත් බුදුන් වහන්සේගෙන් එකම බණ පදයක් අහල අරිහත්වයට පත්වෙලා පැවිද්ද ඉල්ලා සිටියම, සිවුරු තිබුනෙ නැති නිසා සිවුරු හොයාගෙන එන්න කිව්වා. ඉතින් ඒ කාලෙ අද වගේ සිවුරු සුලබ නැති නිසා කසල ගොඩවල් අවුස්සල රෙදි කෑලි එකතු කරල සුද්ද පවිත්‍ර කරල තමයි බොහොම අමාරුවෙන් පාංශුකූල චීවරයක් හදා ගන්නෙ. දාරුචීරියත් කුණු ගොඩවල්වල රෙදි කෑලි හොයමින් ඉන්නකොට, කර්මානුරූපීව කුලප්පු වෙච්ච හරකෙක් ඇනල මළා. එතකොට බුදුන් වහන්සේ ඒ දේහය භික්ෂූන් වහන්සේලාට පෙන්වල කියනවා, දර ටිකක් හොයාගෙන ඇවිත් ගෞරවණීය විදිහට

ආදාහනය කරන්න කියල. බලනකොට **වතින් දර පතුරු එල්ලගෙන හිටපු ගිහියෙක් වුණත්, වහා දහම් අවබෝධ කරගන්නා ශ්‍රාවකයන් අතරින් දාරුචීරිය අග්‍රයි කියල ඒ අග්‍ර තනතුර බුදුන් වහන්සේ විසින් පිරි නැමුවා. එතකොට සිවුරු, පිරිකර, පැවිදි, උපසම්පදා, සාමණේර මේ මුකුත් තිබිල නෑ. නමුත් අසූ මහා ශ්‍රාවකයන්ගෙන් කෙනෙක්. ඒකෙන් පැහැදිලි වෙනවා, සිවුරකින් ඇඳුමකින් නෙවෙයි මහා සංඝත්වයට පත්වෙලා තිබුණෙ. ගුණයට පත්වුණා නම් ඒ තුල තමයි ශ්‍රමණ, බ්‍රාහ්මණ නියම යථාර්ථයක් බවට පත්වෙන්නෙ.**

ඒ නිසා නියම විදිහට කෙනෙකුට බ්‍රාහ්මණ කියන්න නම්, මානය අළු කළ කෙනෙක් විය යුතුයි. එහෙනම් “යේ බ්‍රාහ්මණා” කියන තැනදි ඒ කාරණය තේරුම් ගන්න ඕන. වේදගූ කියන්නෙ, ලෝකය දකින යම් විද්‍යාවක් ඇත්ද ඒ විද්‍යාවෙන් පූර්ණ වීම. ඒ කියන්නෙ ලෝකය, ලෝක සමුදය හෙවත් ලෝකය හටගන්න හේතුව, ලෝක නිරෝධය, ලෝක නිරෝධ මාර්ගය හෙවත් අරි අටඟි මග කියන මේ කාරණා දකිනවා. එහෙම නැත්නම් චතුරාර්‍ය සත්‍යය තුලින් ලෝකය පිළිබඳව සියලු ආකාරයේ කටයුතු දකිනවා. ඒ විදිහට **සියල්ලෙන් සියල්ල සියලු ධර්මයන් දැන ගත්ත නම් ඒ තමයි වේදගූ සබ්බ ධම්මේ.** සියලු ධර්මතාවයන් දැකගන්නා උත්තමයා තමයි ලොව්තුරා බුදු රජාණන් වහන්සේ. ඒ තත්වය වෙන කාටවත් නෑ. ඒ තමයි පළමු බ්‍රාහ්මණයා.

**තේමේ නමෝ තේච මං පාලයන්තු** - ඒ ගුණයෙන්, ශක්තියේ බලයෙන් මාව පාලනය වේවා, මට ආරක්ෂාව රැකවරණය ලැබේවා. **නමත්ථු බුද්ධානං** - මම ඒ බුදුන් වහන්සේට නමස්කාර කරනවා. මෙතැනදි දෙතිස් මහා පුරිස ලක්ෂණ සහිත කයකින් ලෝකයට විද්‍යාමාන වූ ඒ ජීවමාන වූ බුදු පියාණන් වහන්සේට බුද්ධ කියල කියනවා. ඒ වගේම පරමාර්ථ වශයෙන් සියලු කෙලෙස් දුරුකරල භවය උදුරා දැමූ අර්ථයෙනුත් බුද්ධ කියල කියනවා.

**නමත්ථු බෝධියා** - බෝධීන් වහන්සේටත් නමස්කාර කරනවා. මෙතැනදි බෝධිය කිව්වමත් අර්ථ කිහිපයක් තියෙනවා. බුද්ධත්වය කරා ඇදී ආවේ යම්කිසි ක්‍රමයකින්ද ඒ තමයි බෝධිය. ලොව්තුරා බෝධිය, පසේ බෝධිය, ශ්‍රාවක බෝධිය කියල තුන්තරා බෝධියක් තියෙනවා. ඒ බුද්ධත්වයට පත්වෙන්න යම්කිසි පාරමිතා කොටසක් අවශ්‍යද, ඒ කොටස පූර්ණ කරගත්තට පස්සෙ තමයි ඒකෙ අවසාන ප්‍රතිඵලය විද්‍යමාන වෙන්නෙ. ලොව්තුරා බුද්ධත්වයට පත්වෙන්න පූර්ණ කළා වූ බෝධි ශක්තිය මේ ලෝකයට විද්‍යමාන වෙන්නෙ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගෙන්. සියලු ලොව්තුරා බුදුවරයන් වහන්සේලා පාරමිතා පුරල බුද්ධත්වයට පත්වෙන්නෙ ලෝකයේ මධ්‍ය දේශය කියන ප්‍රදේශයේ. ඒ ස්ථානයේ තමයි භෞතික වශයෙන් ඒ පාරමිතා බලයෙන් ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ හටගෙන ඒ ශක්තිය ලෝකයට විහිදෙන්නෙ. එතකොට ඒ බෝධීන් වහන්සේට නමස්කාර කරනකොට ඒ මහා පාරමිතා ශක්තියත් සමග සම්බන්ධ වෙලා තමන්ටත් ඒ ශක්තිය රැකවරණය තමන්ගෙ හිමිකමට අනුව ලැබෙනවා. ඒ තමයි බෝධියේ එක අර්ථයක්.

ඊළඟට උන් වහන්සේලා බුද්ධත්වයට පැමිණුනා වූ ඒ ආර්‍ය අෂ්ටාංගික මාර්ගය/චතුරාර්‍ය සත්‍යයටත් බෝධිය කියල කියනවා. ඒ තමයි සරණ. නමෝ විමුත්තානං නමෝ විමුත්තියා- ඒ විමුක්තියටත්/නිවනටත් මම නමස්කාර කරනවා.

සාරාංශ වශයෙන් ගත්තම, **යම් බ්‍රාහ්මණයෙක් සියලු ධර්මයන් කෙරෙහි පූර්ණත්වයට පත්වුනේද, ඒ උත්තමයාට, ඒ ගුණයට මම නමස්කාර කරනවා. මම ඒ බුදුවරයන් වහන්සේලාට, ඒ බෝධියට, ඒ විමුක්තියට, විමුක්ති මාර්ගයට නමස්කාර කරනවා. ඒ හේතුවෙන් මට ආරක්ෂාව රැකවරණය සැලසේවා.** මේ තමයි ගාථාවේ පරමාර්ථ අර්ථය කෙටියෙන්.

**එතකොට නමස්කාර කිරීම ආකාර දෙකකට කරන්න පුළුවන්. එකක් තමයි ඒ ගුණය විස්වාස කරල ඒ උතුමන් කෙරෙහි පැහැදීමෙන් ගුණ ගරුත්වයක්, නම්‍යතාවයක් දක්වල යටහත් බව ප්‍රකාශ කිරීම. දෙවනි කාරණය තමයි ඊට හිස නමා ඒ අනුව කටයුතු කරන කෙනෙක් වීම. ඒ කියන්නෙ මාර්ගය අනුගමනය කිරීම.** යම් කිසි දහමක් අහල ඒ ගුණය දැකල ඒ කෙරෙහි පැහැදිලා ඒ කෙරෙහි තමන්ගෙ නැමී සිටීමක් වුණා නම්, ඔලුව උස්සගෙන හිටියත් ඒ තමයි පරමාර්ථ වශයෙන් කරන නියම නමස්කාරය. නියම දහම අහල තේරුම් අරගෙන ඊට ගරු කරල ඒ මග අනුගමනය කරන්න පටන් ගත්ත නම්, ඔලුව උස්සගෙන අත්දෙක පහතට දමාගෙන හිටියත් නියම නමස්කාරය වෙනවා. මේ අනුව නියම නමස්කාරය කරන්න නම් යථාවබෝධය ලැබිය යුතුයි. ඒ නිසා නමස්කාරය ඒ අර්ථ දෙකෙන්ම තෝරාගත යුතුයි.

ඉතින් තමන්ගෙ භාෂාව මොකක් වුණත් ඒ හැඟීම/අදහස මතු වුණොත්, ඒකෙන් තමයි මේ කියන ආශිර්වාදය රැකවරණය සැලසෙන්නෙ. ඒ නිසා මේ ගාථාව කියනකොට ඒ අදහස දැනගෙන කිව්වොත් තමයි බොහොම වටින්නෙ. ඒ ක්‍රමවේදය දැනගෙන භාවිතා කළොත් තමයි ඒකෙ නියම හරය එන්නෙ. හැබැයි **මේ ගාථාව අක්ෂර, ගණ... ආදියෙන් ශබ්ද විද්‍යානුකූලවත් පරිපූර්ණ නිසා, අර්ථය නොදැන කිව්වත් ඒකෙත් යම්කිසි ගුණයක් තියෙනවා. නමුත් නියම ගුණය ඇදල ගන්න තමයි අර විදිහට අදහස දැනගෙන කියන්න කියන්නෙ.** ඒ නිසා ගාථාවක් වශයෙන් නිතර භාවිතා කරන කොට, කර්මස්ථානයක් වශයෙන් වඩනකොට බොහොම හොඳයි. ඒ ශක්තිය තම තමන්ගෙ මට්ටම්වලින් ඇදිල අවිත් රැකවරණයට පිහිටනවා.

මේ කාරණා ටික සිහි කරනකොට වීතරාගී - වීතදෝසී - වීතමෝහී ගුණ සිහි කරන නිසාම, ඒ ගුණයන්ටත් නැඹුරු වෙමින් සීල ගුණයෙන් සංවරත්වය ලැබෙනවා. ඒ අකම්ප්‍ය ගුණ නිසා සමාධිය ලැබෙනවා. ඊළඟට බුදු ගුණ සිහි කරනකොට අංශු මාත්‍රයක හෝ අනිච්ච දුක්ඛ අනත්ත වටහාගන්න මහා ඥාණය පහළ වෙලා පූර්වභාග නුවණ වැඩිල මාර්ග ඥාණය පහළ වෙනවා. ඉතින් ඉස්සෙල්ලම **අනිච්ච දුක්ඛ අනත්ත වශයෙන් මූලික ධර්මය අහපු කෙනෙකුට තමයි මේ ගාථාව කමටහනක් වශයෙන් වඩන්න පුළුවන් වෙන්නෙ.** එහෙම නැතුව සාමාන්‍ය කෙනෙකුට වුණත් ආරක්ෂක ගාථාවක් වශයෙන් වඩන්න පුළුවන්. නමුත් අර්ථය දැනගෙන කිව්ව තරමටයි ප්‍රතිඵලත් වැඩියෙන් ලැබෙන්නෙ.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ගමනක නිමාව

## අභයරතනාලංකාරය - 100


වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

නිවන ප්‍රධාන කරගත් ශ්‍රී සද්ධර්මයට අමතරව, යහපත් සශ්‍රීක රාජ්‍යයක පෙර පැවති දැහැමි පාලන ක්‍රමයත්, දැහැමි ඉගෙනීමත්, ගොවිතැන් බතත්, කාලයට ගැලපෙන හෙළ වෙදකමත්, පෙර හෙළයා විශ්ව ශක්තිය ඇදගත් වාස්තු විද්‍යානුකූල කළාවත්, කර්ම විපාක වශයෙන් එන ග්‍රහ අපල උපද්‍රව, අමනුස්ස බලවේග... ආදිය දුරු කර ගන්නා නිවැරදි ධර්මානුකූල ක්‍රමවේදත් ඇතුළුව, පෙර හෙළ බොදුනුවන්ගේ සකලවිධ දැහැමි ක්‍රමවේද සමගින්, මනුස්සයෙක් වශයෙන් මෙලොව උපත ලබා, ලෞකික දියුණුවත් ලබාගෙන, අවසානයේ නිවනින් කෙලවර කරන තැනට මග පෙන්වූ, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ පූර්ණ අනුසාසකත්වය හා ආශිර්වාදය යටතේ, අදින් වසර අටකට පෙර ගමන් ආරම්භ කර සෑම පුන් පොහෝ දිනකම නොකඩවා පිංවත් ඔබ අතට පත් කළ හෙළ බොදු පියුම දහම් සඟරාව, කලාප 100 කින් නිමා කිරීමට මත්තෙන්, අභයරතනාලංකාරය යටතේ තැබෙන අවසන් සටහනයි මේ.

ඒත් එක්කම මේ සඟරාව පටන් අරගෙන යන අතර උන්වහන්සේ විසින් අවස්ථා තුනකදී ප්‍රකාශ කළ කාරණයක් සිහිපත්වෙනවා. “මම නැතත් මේ සඟරාව ඉදිරියට යනවා... “අනාගතය දකින්නත් දිවැසක් සමාධියක් තිබුන උන්වහන්සේ එහෙම කිව්වෙත් නිකමට වෙන්න බෑ. යමක් දැකලයි එහෙම කියන්න ඇත්තෙ. හැබැයි එහෙම කිව්වත්, ඒ විදිහට ඉදිරියට යන කාල සීමාවක් නම් කිව්වෙ නෑ. කොහොමහරි උන්වහන්සේ සමුගත් දා පටන් මේ දක්වා සඟරා කලාප 35 ක් පිංවත් ඔබ අතට පත් කරන්න උන්වහන්සේගේ ආශිර්වාදයත් අධිෂ්ඨානයත් නිතැනින්ම හේතු වෙන්න ඇති. ඒ වුණත්, සදාකාලිකව පවත්වන්න පුළුවන් දෙයක් ලෝකයේ නෑ. ඒ නිසා අනිච්ඡතාවයත්, අනිත්‍යතාවයත් සිහි ගන්වමින්, උන්වහන්සේ විසින් යළි මතු කර දුන් තවත් වටිනා දහම් කරුණු වෙනත් මංපෙත් ඔස්සේ හෙළි පෙහෙළි කිරීමේ කටයුතු උදෙසා කාල කළමනාකරණය කර ගත යුතු නිසා, මේ සඟරාවේ කටයුතු මෙතෙකින් නිමා කිරීමට අවසර...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ආ දිගු සසර ගමන් මගේ අවසාන අත්බවයේ ජාත සෝතාපන්නයෙක් වශයෙන් ඉපදිලා, බුද්ධ ශ්‍රාවක විවරණ හා අධිෂ්ඨාන මැද, සැඟව ගිය දහම් මග යළි ලෝකයාට මතු කරල දීල, අනේක දුක් විඳල මේ සසර ගමන නිමාවට පත් කළා. උන්වහන්සේ විසින් මතුකර දුන් දහම් කරුණු ලෝක සත්වයා අතරට ගෙන යෑමේ එක් මාධ්‍යයක් වූ හෙළ බොදු පියුම දහම් සඟරාවේ කටයුතුත් නිමා කිරීමට මත්තෙන්, උන් වහන්සේ ගැන තවමත් නොපළ වූ, ලෝකයාට තවත් ආදර්ශයක් ගත හැකි දහම් කාරණා කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ.

ආදාහනයෙන් පසු බොහෝ පින්වතුන් උන් වහන්සේ පිරිනිවන්පෑ කතාව විස්වාසයෙන් පිළිගත්ත වගේම, සමහරක් පින්වතුන් උන්වහන්සේ තවමත් අන්තරා පරිනිබ්බායි අවස්ථාවේ ඉන්නවා කියන කතාවත් පිළිගන්නවා. අනුමාන වශයෙන් ඒ අදහස් දැරුවත්, මීට පෙර මේ සඟරාවේ සටහන් කරන්න බැරි වුන ඒ හා සම්බන්ධ තවත් කාරණයක් මේ විදිහට සටහන් කරනවා.

මේ සිදුවීම වුණේ 2016 අවුරුද්දේ මුල් භාගයේ වගේ. ඒ වෙනකොට උන්වහන්සේට ගුප්ත ලෝකයෙන් විවිධාකාර හිරිහැර බාධකත්, කර්මානුරූපීව මස් ලේ කයට විවිධ අසනීපත් ඇවිත් තිබුනා. ඒ කරදර බාධකත් මැඩගෙන මාර්ගය පූර්ණ කරගන්න උන්වහන්සේ විවිධ තැන්වල වැඩ සිටියා. සඟරාවට කරුණු ගන්න ඕන නිසා මමත් පෙර දැනුම් දීමෙන් පසු උන් වහන්සේ වැඩ ඉන්න තැන්වලට යෑම සිරිතක් වුණා. මේ කියන අවස්ථාවේ උන්වහන්සේ වැඩ සිටියේ එක්තරා තාවකාලික නවාතැනක. මම සඟරාවට අවශ්‍ය දහම් කරුණු පැය එකහමාරක් විතර ලබා ගෙන ඒ කටයුතු අවසන් කරල නිස්කලංකව ටික වෙලාවක් බලාගෙන හිටියා. උන්වහන්සේ ඒ වෙන කොටත් හිටියේ රෝද පුටුවේ. කයත් බොහොම දුර්වලයි. ඒ නිසා මම ඇහුවා, හාමුදුරුවනේ ඔබ වහන්සේගේ කයත් එන්න එන්නම දුර්වල වෙනවනේ, දැන් ඉතින් මෙහෙම ගිහින් ඔබ වහන්සේගේ වැඩ කටයුතු අවසන් වෙන්නෙ කොහොමද කියල. එතකොට උන් වහන්සේ දුන්නෙ මේ වගේ පිළිතුරක්. “අනේ මම දන්නෙ නෑ. මට ඉතින් දැන් වෙන කරන්න දේකුත් නෑ. කවදහරි වැඩේ කෙලවර වෙන කල් මෙහෙම බලාගෙන ඉන්නවා. හැබැයි මම එක කාරණයක් ස්ථිරවම දන්නවා. මේ කය බිඳිල යන අන්තිම මොහොතෙ හරි මගේ වැඩේ පූර්ණ වෙලා ගමන අවසන් වෙනවා.”

උන්වහන්සේට ප්‍රත්‍යවේක්ෂා ඥාණ ඉතා ඉහළින් තිබුණ නිසා, තමන් වහන්සේ ඒ වෙනකොට පසුවෙන මානසිකත්වය විතරක් නෙවෙයි, ඉදිරියේදී ගමන කෙළවර වෙන හැටිත් කියන්න පුළුවන්කම තිබුණා. මීට පෙර අවස්ථාවකදී රූප රාග, අරූප රාග බිඳ හැරල තියෙන බවත්, නව උපතකට නොයන බවත් කියල තිබුණා. මේ කාරණයෙන් තේරුම් ගන්න පුළුවන්, අන්තිම මොහොතෙ හරි වැඩේ පූර්ණ වෙලා ගමන කෙළවර වෙනව කිව්ව නම් සහ ඒ කතාව ඒ විදිහටම සිද්ධ වුණා නම්, මේ වෙනකොට අන්තරා පරිනිබ්බායි අවස්ථාවේ ඉන්න විදිහක් නෑ කියල. මොකද එහෙම ඉන්නවනම් ඒකෙන් කියන්නෙ, තවමත් සසර ගමන කෙලවර කරල නෑ කියල. යම්කිසි විදිහකින් එහෙම අවස්ථාවක හිටියත්, තවත් උපතකට නොගිහින් ඒ භවය ඉවර වෙනකොටම හෝ අරිහත් ඵලය පූර්ණ කරන කොටම හෝ පිරිනිවන් පානවා කියන එක වෙනම කාරණයක්. නමුත් උන්වහන්සේගේ ඒ වචනවල ගැබ් වෙලා තියෙනවා, අපවත් වුනොත් ඒත් ›

එක්කම වැඩකටයුතුත් හමාරයි කියල. ඒ ගැන කෙනෙකුට ඕනෑම දෙයක් හිතා ගන්න පුළුවන් වුනත්, උන්වහන්සේ පැවසූ වචන පින්වතුන්ගේ දැනගැනීම පිණිස සටහන් කිරීම මගේ යුතුකමක් නිසයි මේ කාරණය සටහන් කළේ.

## දයානුකම්පාව

මේ සමාජයේ ජීවත් වෙනකොට සිද්ධවෙන අසාධාරණකම්වලට අපි නොදැනුවත්වම සම්බන්ධවෙන හැටි, ඉතා සියුම් විදිහට ධර්මානුකූලව කල්පනා කරල බලල, උන්වහන්සේ ඒවායෙන් පවා වලකින තැනට කටයුතු කළා. ඒ බවට හොඳ සාක්ෂියක් තමයි මේ. ඒ දවස්වල අනවසරයෙන් ගොඩ දැම්මයි කියන වැලි උසාවියට ඉදිරිපත් කරල රාජසන්තක කිරීමෙන් පසු දිවයිනේ විවිධ විහාරස්ථානවල ඉදිරිකිරීම්වලටත් අවශ්‍යනම් ලබා දෙන ක්‍රමවේදයක් ක්‍රියාත්මක වුණා. එක්තරා භික්ෂූණ් වහන්සේ නමක් ඒ ගැන මටත් කතා කරල, ඒ වගේ වැලි අවශ්‍ය නම් වහරක හාමුදුරුවන්ටත් දන්වන්න කියල කිව්වා. මොකද මේ කාලය වෙනකොට විහාරස්ථානයේ ඉදිකිරීම් කටයුතු කරන කාලයක්. ඉතින් වහරක හාමුදුරුවො මුණ ගැහුන වෙලාවක මම උන්වහන්සේට දැනුම් දුන්නා, මෙන්න මෙහෙම ක්‍රමවේදයක් ක්‍රියාත්මක වෙනවා, අවශ්‍ය නම් වැලි ලබාගන්න පුළුවන් කියල. ඒ වෙලාවෙ උන්වහන්සේ ක්ෂණිකවම කිව්වෙ, අනේ මහත්තයෝ අපිට නම් එපා කියල. ඒ ගැන කරුණු විමසන කොට උන්වහන්සේ මේ විදිහට පැහැදිලි කළා.

ගඟේ වැලි කියන්නෙ ස්වභාවික දෙයක්. ඒක හැමෝටම පොදුවේ අයිතියි. හැබැයි පරිසරය ආරක්ෂා කරගැනීමේ අරමුණෙන් පනවනු ලැබූ යම්කිසි නීතියක් අනුව, නීති විරෝධී විදිහට වැලි ගොඩ දාපු කෙනෙක් උසාවියට ඉදිරිපත් කරල වරදකරු කරල දඩ ගහන්න පුළුවන්. එතකොට ඒ වැලි ටික නීති විරෝධී නිසා ඒ මනුස්සයට හිමි නැත්නම් වෙනත් කෙනෙකුට හිමිකරදීම ගැළපෙන්නෙත් නෑ. එහෙනම් ඒ වැලි ගඟටම හිමි විය යුතුයි. ගඟේ වැලි ගඟටම අයිතියි. ඒකෙ ගැටළුවක් නෑ. හැබැයි ඒ මනුස්සයට ඒ වරද වෙනුවෙන් දඩයකුත් නියම කරල, සමහරවිට දඬුවමකුත් නියම කරල, ඒ වගේම තවත් ගාස්තුත් වියදම් වෙලා, අන්තිමට වෙහෙස මහන්සියෙන් ගොඩදාපු වැලි ටිකත් රාජසන්තක කරල ඒක තවත් කෙනෙකුට දුන්නොත් එතැන අසාධාරණයක් වෙනවා. ඒ විදිහෙ යම් අසාධාරණයක් සම්බන්ධ වැලි ලෞකික කටයුතුවලට යොදා ගත්තත් සාසනික කටයුතුවලට යොදාගැනීම ගැලපෙන්නෙ නෑ. එක්කො ඒ වැලි ටික ගඟටම දමන්න ඕන. නැත්නම් සුදුසු දඩයක් නියම කරල ඒ මනුස්සයටම දෙන්න ඕන. එහෙම නැතිව ඒවා සාසනික කටයුතු වගේ සුද්ධ කටයුතුවලට යොදා ගැනීම ගැලපෙන්නෙ නෑ.

ඒ වගේම තමයි වහරක හාමුදුරුවො, මනුස්සයො ආශ්‍රිතව ඉන්න සත්තුන්ට වුණත් ගහල පන්නන්න එපා කියනවා. බල්ලො බළල්ලු වගේ සත්තු පන්සලකට වුණත් එන්නෙ සසරේ හිමිකමක් තියෙන නිසා, උන්ට ගහන්න පන්නන්න එපා, ඥාන සම්ප්‍රයුක්තව මොනවහරි තියෙන දෙයක් කන්න දෙන්න කියනවා. එතකොට දහම් අවබෝධයක් තියෙන මනුස්සයො කෙරෙහි පැහැදීම නිසා ඊළඟ අත්බවයේ ඒ සතුන්ට තිරිසන් අත්බැව්වලින් නිදහස් වෙන්න අවස්ථාවක් ලැබෙන බවත් කියනවා. ඒ වගේම ඔය සත්තු අතරේ අපි දන්නෙ නැතිවට පෙරුම් පුරන බෝසත්වරුත් ඉන්න පුළුවන් කියනවා. හැබැයි සතුන්ට එහෙම සලකන්න කිව්ව මිසක්, උන් ඕනෑවට වඩා කර උඩ තියාගෙන හරයක් නැති ආස්වාද මුලාවෙන් හුරතල් කරන එක අනුමත කළෙත් නෑ. සත්තු වෙලා උපදින්න හේතුව දැනගෙන දහම් අවබෝධයෙන් යුක්තව සතුන්ට සලකන්න කියල තමයි කිව්වෙ. උන්වහන්සේ ඒ කාරණය කිව්වෙ ඒ සතුන්ගෙ පෙර අත්බැව් පවා බොහෝකොටම දැකල. ඒ දවස්වල වහරක පන්සලේ යන එන ගමන් නතර වෙලා හිටපු බල්ලො බළල්ලු ගැනත් පෙර අත්බැව් බලල, උන් සතර අපාගත වෙන්න හේතුත් කියල, බෞද්ධයන්ගෙ උපනිශ්‍රය නිසා නැවත ඒ දුගති අත්බැව්වලින් නිදහස් වෙන බවත්, එහෙම නිදහස් වෙච්ච අවස්ථා කිහිපයකුත් කිව්වා. මේ සම්බන්ධයෙන් තවත් අත්දැකීමකුත් මේ විදිහට සටහන් කරන්න පුළුවන්.

වහරක හාමුදුරුවො අසනීප වෙලා ප්‍රතිකාර ගන්න කාලයේ, කොළඹ ප්‍රදේශයේ එක්තරා දායක පින්වතෙකුගේ ගෙදර ටික කාලයකට නැවතිලා හිටියා. ඒ දවස්වල මමත් සඟරාවට කරුණු ගන්න නිතර නිතර ඒ ස්ථානයට ගියා. ඒ ගෙදර ටිකක් අමුතු බළලෙක් හිටියා. ඌ බැලු බැල්මට සිංහයෙක් වගේ අමුතු ලීලාවකින් තමයි හිටියෙ. බොහොම පෞද්ගලිකත්ව හැදිච්ච සතෙක්. පැත්තකට වෙලා පාඩුවේ හිටියත්, කවුරුහරි අල්ලන්න විහිළු කරන්න ගියොත් එහෙම පැනල හපනවා. අපිත් ඉතිං ඒ කාරණය දන්න නිසා මොකුත් කරන්න අල්ලන්න ගියේ නෑ. ඒ ගෙදර අයත් නිතරම කිව්වෙ ඔහොම හිටියට ඌ හරි නපුරුයි කියල. නමුත් දවසක් වහරක හාමුදුරුවො මේ සතාව එකපාරටම අතට අරගෙන ඔළුව අතගෑවා. එතකොටම ඒ ගෙදර හිටපු කෙනෙක් කෑගහල කිව්වා, ස්වාමීන් වහන්ස ඕකා හරි නපුරුයි හපනවා, අල්ලන්න එපා කියල. ඒත් හාමුදුරුවො කිසි ගාණක් නැතුව ඔළුව අතගාන ගමන් කිව්වා, මේ සතා පෙර ඥාති සම්බන්ධයක් තියෙන කෙනෙක්, ඒකයි මේ ස්ථානයට එන්නෙ, නපුරු නෙවෙයි ඒ හැටි කියල. මේ සතා මෙහෙම ඉඳල මේ තිරිසන් අත්බැවෙන් මිදෙනව කියල උගේ ඔළුව අතගාල ආශිර්වාද කරල බිමින් තිව්වා. ඒ ගෙදර අයටත් හරි පුදුමයි. වෙන අයට නම් අල්ලන්න හැදුවත් හපන්න පනින සතා උන්වහන්සේට මොකුත් කළේ නෑ. සද්ද නැතිව හිටියා.

ඔය වගේ සිද්ධියක් තවත් අවස්ථාවක සිද්ධ වුනා. 2013 වර්ෂයේ වහරක හාමුදුරුවො පන්සලෙන් පිටවෙලා ගිහින් නුවර පැත්තෙ තාවකාලික තැනක සතියක් දෙකක් විතර වැඩ හිටියා. සඟරාවට කරුණු ගන්න මමත් ඒ ස්ථානයට කිහිප දවසක්ම ගියා. එතැනත් යන එන ගමන් නතර වෙච්ච බල්ලෙක් හිටියා. ඒ සතත් හරි අමුතුයි. ආගන්තුකයි කියල පොඩ්ඩක්වත් අපිට බිරුවෙ නෑ. පාඩුවේ හිටියා. හාමුදුරුවො මේ සතාව පෙන්වල කියනවා, මේ සතා හරි හොඳයි කීකරුයි, මේ අත්බැවෙන් නිදහස් වෙන්න හේතු තියෙනව කියල. එහෙම කියල ඒ සතාටත් ආශිර්වාද කළා. ඒ විදිහට හේතු සහිතව සතුන්ට වුණත් කරුණාව දක්වන, බය නැති ගුණයක් උන්වහන්සේ ළඟ තිබුණා.

## දයානුකම්පාව මුල් කරගත් ගැටීමක් නැති දහම් ප්‍රචාරණය

ඒ වගේම මේ දහම ලෝකයාට දෙනකොටත් උන්වහන්සේ බොහොම ප්‍රවේසම් වුණා. මොකද මිනිස්සු විවිධ අපවාද කරගෙන, යන්න තියෙන තැනත් නැති කරගන්න පුළුවන්. ඒ නිසා උන්වහන්සේ **කිසිම අවස්ථාවක මේ මතුකරපු දහම බලෙන් දෙන්න ගියේ නෑ. අනෙක් අයටත් උපදෙස් දුන්නෙ, තමන්ගෙ අම්මා**


වහරක ගහේ...
අතහැර ...
තාත්තයි, අම්මයි, පුත...

“සංසාරෙන් අපි සමුගන්නා දා
ඒ ගමනත් අපි එකට යමු”
සසර දුක් නිවන්නට පවුලම පැවිදි බිමට

සංසාරේ දුක දැනිලා
පස් දෙනාම මහණ වෙලා

නිවන්මග සොයා සසුන්ගතවූ
එකම පවුලේ පස් දෙනෙක්

වහරක එකම පවුලේ 5 දෙනෙක්
ගිහිගෙය අතහැර සසුනට එක්වෙති

වහරක අභයරතනාලංකාර හිමියන් ඇතුළු පවුලේ සියලු දෙනාගේ පැවිදි වීම එදවස ජාතික පුවත්පත් වාර්තා කර තිබූ අයුරු

**තාත්ත වුණත් මේ දහමට විරුද්ධ නම් බලහත්කාරයෙන් දෙන්න යන්න එපා, කවදහරි මේ යථාර්ථය වැටහේවා කියන මෙත් සිතින් යුතුව නිහඬව ඉන්න කියල.** ඒ කාරණය ඔප්පුවෙන අවස්ථා කිහිපයකුත් තියෙනවා.

ඒ දවස්වල එක්තරා රූපවාහිනී නාලිකා දෙකක වහරක හාමුදුරුවන්ගෙ බණ දේශනා විකාශනය වුණා. එයින් එක නාලිකාවක ප්‍රචාරය වුණ බණ දේශනා, මේ බණ දහම ගැන පැහැදිලා වටිනාකම තේරුම් ගත්ත දැන උගත් මහත්තයෙක් තමන්ගෙ පුද්ගලික මුදල් වියදම් කරල කරපු වැඩසටහන් මාලාවක්. හැබැයි අනෙක් නාලිකාවේ ඒ බණ දේශනා විකාශනය වුනේ, සැදැහැවත් පින්වතුන්ගේ ඉල්ලීම පිට, වටිනා කියන බණ දේශනා කියල ඒ අයම පැහැදිලා ස්වේච්ඡාවෙන්ම ඉදිරිපත් වෙලා. ඒ අය ඒ ගැන කොච්චර උනන්දුවකින් කටයුතු කළාද කියනව නම්, මේ බණ දේශනා පටිගත කරගන්න වහරක හාමුදුරුවො හොයාගෙන පන්සලටම ආවා. ඒ නිසා වහරක පන්සලේමයි ඒ පරිසරය සකස් කරල පටිගත කිරීම් සියල්ල කළේ.

ඒ රූපවාහිනී නාලිකාවේ මේ බණ දේශනා විකාශනය වෙන්න ගත්තම දවසින් දවස ඒ සඳහා තියෙන ඉල්ලුමත් වැඩි වුණා. ලංකාවේ හතරවටින්ම පින්වතුන් කතා කරල වහරක හාමුදුරුවො ගැන විමසන්න ගත්තා. ඒ අතරතුරේ වහරක හාමුදුරුවො හදිසියේ අසනීප වෙලා පොල්ගහවෙල ප්‍රදේශයේ තරමක් දුෂ්කර කන්දක් ආශ්‍රිත පැරණි ගල්ලෙනකත් වැඩ හිටියා. ඒ වෙද්දි තිබ්බ ඉල්ලුම අනුව මේ රූපවාහිනී නාලිකාවේ කාර්‍ය මණ්ඩලය දුර බැහැර ඉඳන්ම කැමරා උපකරණත් අරගෙන ඒ දුෂ්කර කන්ද පවා තරණය කරගෙන දැඩි අසීරුතා මධ්‍යයෙත් ඒ බණ දේශනා පටිගත කිරීම් කළා. ඒ පටිගත කරන අවස්ථාවලට මමත් පුද්ගලිකවම සම්බන්ධ වෙච්ච නිසා ඒ ගැන යම්කිසි දැනීමක් තිබුණා.

කොහොමහරි ඔය විදිහට අවස්ථා කිහිපයකදීම උන්වහන්සේ වැඩ ඉන්න තැනටම ඇවිත් ඒ පටිගත කිරීම් කරගෙන ගිහින් ඒවා සංස්කරණය කරල අදාළ නාලිකාවේ විකාශනය කරන්න ඔවුන් කටයුතු කළා. දිනපතාම වගේ විනාඩි 20-25 ක වගේ දේශනා දිගින් දිගටම විකාශනය වීම නිසා දිවයිනේ නන්දෙසින් ඒවාට සවන් දුන් ශ්‍රාවක පින්වතුන් අදාල නාලිකාවෙන් ඒ ගැන විමසන්න වුණා. අන්තිමට ඉල්ලුම වැඩිවුන නිසා කලින් විකාශනය වෙච්ච බණ දේශනා පවා නැවත විකාශනය කරන්න වුණා. සමහර දේශනා වාර දෙකකට වඩා විකාශනය කළ බවත් දැනගන්න ලැබුණා.

දැන් මේ විදිහට සති ගණනාවක් විකාශනය වෙනකොට එකපාරටම ඒ බණ දේශනා නතර වෙන්න ගත්තා. අලුතින් පටිගත කරගත්ත දේශනා කිහිපයක්ම විකාශනය වෙන්න නියමිතව තිබුණත් ඒවත් නතර වෙලා තිබුණා. ඒ වෙනකොටත් රටේ විසාල ශ්‍රාවක පිරිසක් ඒ ධර්ම දේශනාවන්ට සවන් දෙමින් සිටි නිසා වහරක පන්සලට යන එන පින්වතුන් සහ තවත් පින්වතුන් ඒ ගැන විමසන්න වුණා. ඇයි එක පාරටම බණ දේශණා නතර කළේ කියන ප්‍රශ්නය බොහෝ දෙනෙකුට ඇති වුණා.

ඒ පටිගත කිරීම්වලට සම්බන්ධ වෙච්ච රූපවාහිනී නාලිකාවේ මහත්වරු කිහිප දෙනෙක් මාත් එක්කත් බොහොම හිතවත්ව කටයුතු කළ නිසා, ඒ එක මහත්තයෙකුට දුරකතනයෙන් දැනුම් දීල ඒ ගැන විමසන්න මම ඔහුගේ නිවසටත් ගියා. ඔහු ඒ සම්බන්ධයෙන් මට මෙහෙම කතාවක් කිව්වා.

සාමාන්‍යයෙන් අපි එක හාමුදුරුවො නමකගේ බණ දේශනාවක් එක වතාවයි විකාශනය කරන්නෙ. නමුත් අවශ්‍ය වුණොත් කාලයක් ගිහින් තවත් වතාවක් විකාශනය කරනවා. ඒක තමයි සාමාන්‍ය සිරිත. නමුත් වහරක හාමුදුරුවන්ගෙ බණ දේශනාවලට ලොකු ඉල්ලුමක් තිබුණ නිසා අපි ඒ දේශනා ළඟ ළඟ දෙතුන් වතාවක්ම නැවත විකාශනය කරන්න කටයුතු කළා. සමහර අය දුරකතන ඇමතුම් පවා දීල, අහවල් දේශනාව නැවත විකාශනය කරන්න කියල නිතර නිතර ඉල්ලීම් කළා. ඒ අතර වහරක හාමුදුරුවො වැඩ ඉන්නෙ කොහෙද, මුණ ගැහෙන්නෙ කොහොමද, කතා කරන්න දුරකතන අංකයක් තියෙනවද... ආදී වශයෙන් දුරකතන ඇමතුම් එන්න ගත්තා. කොහොමහරි අපි දන්න කාලයක වහරක හාමුදුරුවන්ගෙ දේශනා තමයි වැඩිම වාර ගණනක් ළඟ ළඟම නැවත විකාශනය

කරන්න සිද්ධ වුණේ. හැබැයි අපේ රූපවාහිනී නාලිකාවේ භික්ෂුණී වහන්සේලාගේ කමිටුවක් තියෙනවා. ඒකට ලොකු ලොකු තනතුරු දරන දැන උගත් නායක හාමුදුරුවරු... මෙච්චර ගණනක් ඉන්නවා. මම මේ කියන කාරණය කාටවත් කියන්න එපා. දැනට රහසක් වශයෙන් තියාගන්න. වහරක හාමුදුරුවන්ගෙ බණ නැවත නැවත විකාශනය වෙන්න ගත්තම ඒ කමිටුවේ හිටපු සමහර නායක හාමුදුරුවරු කලබල වෙන්න ගත්තා, ඔය බණ තව දුරටත් විකාශනය කළොත් අපිට ලැබෙන ..... නැතිවෙයි කියල. ඒ නිසා දැනට ඕක නතර කරල වෙනත් භික්ෂුණී වහන්සේලාගේ බණ දේශනා විකාශනය කරන්න කියල ඒ කමිටුවෙන් උපදෙස් ලැබුණා. ඒ නිසා තමයි ඒ බණ විකාශනය නතර කරන්න සිද්ධ වුණේ.

එදා ඒ මහත්තයා මට රහසක් වශයෙන් තියාගන්න කිව්ව මේ සිද්ධිය මම මේ විදිහට හෙළිදරව් කළේ, දැන් මේ සිද්ධිය වෙලා අවුරුදු 10-11 ක් විතර ගිහින් තියෙන නිසාත්, නම් ගම් සඳහන් නොකර මේ සිද්ධිය පින්වතුන්ගේ දැන ගැනීම පිණිස සටහන් කළ යුතු නිසාත්. මොකද **මේ මතුවන නිර්මල දහමට විරුද්ධ වෙන්නෙ අන්‍යාගමික පිරිස් නෙවෙයි, මේ සාසනය ඇතුලෙන්මයි කියන කාරණයත් බුද්ධ දේශනාවේ සඳහන් වෙනවා.** වහරක හාමුදුරුවොත් ඒ කතාව නිතර කියනවා. ඉතින් ඊට පස්සෙ ඒ නාලිකාවේ වහරක හාමුදුරුවන්ගෙ බණ දේශනා විකාශනය කිරීම එතැනින්ම නතර වුණා. නමුත් ඒ වෙනකොටත් පටිගත කරල එක වතාවක්වත් විකාශනය නොවෙච්ච දේශනාත් ඒ අතර තිබුණා.

මේ වගේම සිදුවීමක් ප්‍රධාන පෙළේ ගුවන් විදුලි නාලිකාවකත් සිද්ධ වුණා. හැබැයි ඒ නාලිකාව වහරක හාමුදුරුවන්ගෙ එකම එක බණ දේශනාවක් විතරයි පටිගත කළේ. ඒ නාලිකාවේ ඒ වගේ දහම් දේශනා විකාශනය වෙන්නෙ ඉරිදා දිනවල උදේ. සාමාන්‍යයෙන් ඉරිදා උදේ විකාශනය වන බණ දේශනාව රටේ තොටේ පැරණි සැදැහැවත් පින්වතුන් හුඟ දෙනෙක් සිරිතක් වශයෙන් අහන්න පුරුදුවෙලා තිබුණා. කොහොම හරි වහරක හාමුදුරුවන්ගෙ බණ දේශනාවක් අභවල් ගුවන් විදුලි නාලිකාවෙන් පටිගත කළා කියන ආරංචිය ඒ වෙනකොටත් වහරක පන්සලට යන එන පින්වතුන් අතරට ගිහින් තිබුණා. නමුත් විකාශනය වෙන දිනයක් හරියටම කියල තිබුණෙ නෑ. ඒ නිසා සමහර පින්වතුන් අදාල නාලිකාවට කතා කරල ඒ බණ දේශනාව විකාශනය වෙන දිනය විමසන්න වුණා. ඒ ගැන විමසන්න මමත් ඒ ගුවන් විදුලි නාලිකාවට ගියා. කොහොම හරි ඒ වැඩසටහන බාරව හිටපු මහත්තයගෙන් මම ඒ බණ දේශනාව විකාශය වෙන්නෙ කවදද කියල අහනකොට, ඔහු යම්කිසි සැක සහිත බවකින් කිව්වා, දැන් මේ ගැන අහල කෙලවරක් නැතිව අපිට දුරකතන ඇමතුම් පවා ලැබිල තියෙනවා, මොකටද ඒ ගැන එච්චර උනන්දු වෙන්නෙ, මොකක්ද තියෙන විශේෂත්වය කියල. එහෙම කියල හරියටම විකාශනය වෙන දවසක් කියන්නත් බෑ කිව්වා. එතකොට මම ඇහුවා, මහත්තයා මට මුදල් ගෙවල ඒ බණ පටියේ පිටපතක් ගන්න පුළුවන්ද කියල. ඔහු ඒකත් ප්‍රතික්ෂේප කළා. කොහොමහරි ඒ බණ දේශනාව මේ දක්වාම ඒ නාලිකාවේ විකාශය වුනේ නෑ. ඒකත් එතැනින්ම යට ගියා.

මුල් කාලයේ එහෙම වුණත් 2012, 2013 කාලය වෙනකොට වහරක හාමුදුරුවො දේශනා කරන මේ බණ දහම ගැන විවිධ මාර්ගවලින් ආරංචි වෙලා, තවත් රූපවාහිනී නාලිකා කිහිපයකින්ම උන්වහන්සේව මුණ ගැහෙන්න ඇවිත් ධර්ම දේශනා සඳහා ආරාධනා කළා. නමුත් ඒ අවස්ථාවෙදි නම් උන්වහන්සේ ඒ ඉල්ලීම් බොහොම කාරුණිකව හේතු සහිතව ප්‍රතික්ෂේප කළා. ඒකට හේතුව තමයි, මේ මතු කරන දහමට විරුද්ධව සාසනය ඇතුලෙන්ම පහර ගැසීම. ඒ ගැන උන්වහන්සේ දුන්නෙ මේ වගේ උත්තරයක්.

**මම ප්‍රසිද්ධියේ රූපවාහිනී නාලිකාවල බණ කියන්න ගියොත්, ලෝකායත සාස්ත්‍ර හදාරපු විවිධ අධ්‍යාපන උපාධි සහතික තියෙන, විවිධ තනතුරු දරන හාමුදුරුවරු අහන්න ගන්නවා, ඔය බණ මොන පොතේද තියෙන්නෙ කියල. නමුත් මේ බණ පොත්වල නෑ. මම අවබෝධයෙන් බණ කියන්නෙ. බුදු හාමුදුරුවො පොත බලල බණ කියන්න කිව්වෙ නෑ. අවබෝධය ලබාගෙනයි බණ කියන්න කිව්වෙ. ඉතින් ඒ කාරණය දැන් ඉන්න අයට තේරුම් ගන්න බැරි නිසා නොයෙකුත් විවේචන එල්ල කරල අපවාද කරගන්න පුළුවන්. ඒ නිසා මම ඕවාට වඩින්නෙ නෑ. කැමති කෙනෙක් ඉන්නව නම් වැඩසටහන් තියෙන දවස්වලට මේ පන්සලට ඇවිත් අහගෙන යන්න. මට ඕවාට ඇවිත් ප්‍රසිද්ධ වෙන්න කිසි උවමනාවකුත් නෑ. ප්‍රසිද්ධ නොවී ඉන්න තරමට හොඳයි මගේ මේ වැඩේ ඉවර කරගන්න...**

උන්වහන්සේ ගිහිවතේ ඉන්න-කොටත් මේ යටගිය දහම ගැන නොයෙක් ආකාරයෙන් පරේෂණ කළා. ඒ කාලයේ නොබලපු දහම් පොතක් නැති තරම්. උන්වහන්සේ විසින් විවිධ අවස්ථාවල තබන ලද සටහන් බැලුවම ඒ බව පැහැදිලි වෙනවා. ඒ වගේම නොයෙක් තැන්වලට ගිහින් ඒ සම්බන්ධයෙන් සෑහෙන අත්දැකීම් ලබාගෙනත් තිබුණා. ඒ අතර උන්වහන්සේ පැවිදි දිවියට ඇතුල් වෙන්න පෙර, තමන්ගෙ අත් අකුරින්ම පොත් කිහිපයකුත් ලියල තිබුණා. ඒවායෙන් කිහිපයක් පසුකාලයේ මුද්‍රණය කරල ප්‍රකාශයට පත් කළත්, ඒ විදිහට පල නොවෙච්ච ඒවත් තිබුණා. ඒ අතර තවත් විශේෂ පොතක් තිබුණා. ඒ පොත ලියල ඉවර වුණාම එක්තරා කිරණක් විහිදිලා ගිය බවත් දවසක් උන්වහන්සේ ප්‍රකාශ කළා. හැබැයි ඒ පොතේ තිබුණ බොහොමයක් කරුණු උන්වහන්සේ වැඩ ඉඳෙද්දිම මුණ ගැහිල සාකච්ඡා කරල, තවත් වැඩිදුර පැහැදිලි කිරීම් සහිතව මේ සඟරාවේ පළ කරල තියෙනවා. අන්න ඒ පොතේ ඉතා වැදගත් පෙර වදනක් උන්වහන්සේ විසින්ම අත් අකුරින් සටහන් කරල තිබුණා. කාලයාගේ ඇවෑමෙන් මේ වෙනකොටත් කොළ දුර්වර්ණ වෙලා දිරාපත් වෙමින් තිබුණ ඒ සටහන පින්වතුන්ගේ දැන ගැනීම පිණිස පහතින් පළ කරනවා.

“මම සිංහල, පාළි, සංස්කෘත ආදී භාෂා පිළිබඳව විශේෂඥයෙක් නොවෙමි. මා විසින් ලියන ලද “ඉපදුම-පැවතුම-නිවන” යන මෙම පොතෙහි බොහෝ වචන සඳහන් වන්නේ මට වැටහෙන අයුරටය.

මාගේ බලාපොරොත්තුව ව්‍යාකරණ දෝස-භාෂා රීතිවලින් සුද්ධ වූ පොතක් ලිවීම නොව, මාගේ වැටහීම් ජනතාවට පෙන්වා දීමයි.

සමහර විට භාෂා සාස්ත්‍ර උගත් විද්වතුන්ගේ වචනාර්ථයන්ට පටහැනි වදන් මෙහි ඇතුලත් විය හැකි වුවත්, හැකි තරම් දුරට යත්න දරමින් අදහස් හෙළිදරව් කිරීමට උත්සාහ ගනිමි.

**ත්‍රිපිටක පෙළ දහම් පොත් බැලීමේදී ඒවායෙන් වැටහෙන අදහස මාගේ අදහස්වලට ඉතා හොඳින් ගැලපෙන බව මට පෙනීයන අතර,**

**සමහර වදන් ගැඹුරු වුවත් ඒවා මගේ අනුමානයන්ට පටහැනි බවක් දැක නැත්තෙමි.**

විනය පිටකයේ වැසි සළු අනුදැන වැදෑරීම පිළිබඳව පෙන්වන ස්ථානයකදී, සතර දිවයිනටම වසින මහ වැස්සක් ඇති වූ දිනක භික්ෂූණ් වහන්සේලාට එම වැස්සට තෙමෙමින් නිරුවතින් නාන්ට යයි බුදුන් වහන්සේ දේශනා කළ බවත්, එම භික්ෂූණ් වහන්සේලා නිරුවත්ව නෑම නිසා දෙවුරම් වෙහෙරේ නිගන්ඨයන් සිටින බවට විශාකාවගේ වදනින් දානාරාධනාවකට ගිය දාසියක් ආපසුවිත් කී කතාවක් නිසා, ඒ හැසිරීම ලැජ්ජා කටයුතු බව ඇය කී නිසා, එය අනුමත කළ බුදු පියාණන් වහන්සේ වැසි සළු අනුදැන වැදෑරු බවත් කියන ස්ථානය නම්, එය කියවීමේදි මාහට පටහැනි අදහසක් ගෙන දුන් බව මතක ඇත. (එදා බුදුන් වහන්සේ පරමාර්ථ වශයෙන් දේශනා කළ, භික්ෂූන් වහන්සේලා වැරදියට තේරුම් ගත් ඒ කාරණයෙන් කියවෙන පරමාර්ථ අර්ථයත් පසුකාලයක වහරක හාමුදුරුවො පැහැදිලි කළා)

අභිධර්මයේ ක්ෂණ භංගුරත්වය පිළිබඳව පෙන්වන විස්තර බලන විට එබඳු මොහොතක් මාහට අත්දැකීමට යොමු නොවූවත්, ඉතා සුළු මොහොතක පවා පංචස්කන්ධයන්ගේ වෙනස් වීම සිදුවන බව මට ඉතා පැහැදිලිව වැටහේ. එසේම එකාකාර අංශුමාත්‍ර මොහොතක් හෝ එම ස්කන්ධ මාත්‍රයක් වෙනස් නොවී නම් එය කෙසේවත් වෙනස් විය නොහැකි බවද ඉතා හොඳට වැටහේ. එබැවින් මාගේ විෂය ක්ෂේත්‍රයට ගෝචර නොවන මෙබඳු තැන් ගැනද අංශුමාත්‍ර වූ හෝ සැකයක් මට නැත.

බොහෝවිට මෙය මෙසේ විය යුතුය යන මාගේ සිතුවිලි, පසු කලෙක පෙළ දහම් පොත් බලන විට එසේම සනාථ වන උදාහරණ උපමා දකින්නට ලැබීමෙන් මාගේ චිත්ත ප්‍රබෝධය නැගුණු වාර බොහෝය.

ඉතා කුඩා කල පටන් දහම් අදහසක් මුල්කර හටගන්නා සංකල්පනා, නින්ද ගිය විට සහ අත්‍යාවශ්‍යයෙන් බාහිර කටයුත්තකට යොමු වූ කළාතුරකින් අවස්ථාවක හැර අන් සෑම විටකම පැවතීම මා ගැනම මට හැඟෙන විශේෂ ලක්ෂණයක් බව නිහතමානීව පවසමි.

**ඉපදී තුන් වසරක පමණ කල පටන් නිරායාසයෙන් බුදු දහම කෙරෙහි සිත ඇදී යාමත්, අන් සියලු කටයුතුවලට වඩා බුදු දහමින් ලැබෙන චිත්ත ප්‍රබෝධය බලවත් වීම නිසාත්, බාහිර අරමුණුවලින් සිත තුල නිදහස් බව ඇතිවීම ගැඹුරු දහම් පිළිබඳව අදහස් නිතර ගලා එන ස්වභාවයක් ඇතිවීමට හේතු විය.**



උත්සවයක අනුසාසනාවක් පවත්වමින්

මා හට වසර 7 ක් පමණ කල සිදු වූ කරුණකින් විශේෂ දැනීමක් පිළිබඳව ස්වභාවයක වැටහීමක් සහජයෙන් මෙන් තිබූ අයුරුද, එහි ශාන්තිය හා සත්‍යතාවය අදද ඔප් නැංවෙන අයුරු පවසන්නේ, නිරාමිස සුවයක වටිනාකම නුවණැත්තන්ට වටහා ගැනීමටයි. මීට අදාළ වූ කාරණය ලද බොළඳ සේ පෙනුනත්, ලොව තතු වැටහීමට වටිනා කොටසක් ලෙස පෙනේ.

මගේ පියාගේ මව (ආච්චි) සමග බණ කතා ගැන කතා කරන විට එය මට මහත් සැනසුමක් ගෙන දෙන කරුණක් විය. එක් දිනක් මා මෙසේ ඇසූ හැටිත් ඒවාට ආච්චි පිළිතුරු දුන් හැටිත් මතකය.

ආච්චි අම්මේ, කෙනෙක් මැරුණම මොකද වෙන්නෙ? පුතේ කරපු පින් පව් අනුව නැවත උපදිනවා. පින් කළ අය කොහෙද උපදින්නෙ? දිව්‍ය ලෝකෙ, මනුස්ස ලෝකෙ උපදිනවා. දිව්‍ය ලෝකෙ කොහෙද තියෙන්නෙ? අපිට තරු කියල උඩ පෙනෙන්නෙ ඒවා තමා. මහේශාක්‍ය දෙවියන්ගෙ විමාන තමයි ගොඩක් බබලන්නෙ. අල්පේශාක්‍ය දෙවියන්ගෙ විමාන තමයි පොඩියට පෙනෙන්නෙ. ඒවාට උඩින් මොනවද තියෙන්නෙ? ඇයි පුතේ බ්‍රහ්ම ලෝක, භාවනා කරල ධ්‍යාන ලබපු අය ඒවායේ උපදිනවා. පව් කළ අය අපායෙ යනව කියල ආච්චි අම්ම කිව්වනේ, ඒවා පොළව යට තියෙන නිසා පේන්නෙ නෑ නේද? ඔව්. එතකොට ඒවායේ ඉපදෙන අයට පස්සෙ මොකද වෙන්නෙ? කරපු පින් පව් ගෙවුනම ඒ අය චුත වෙලා නැවත සත්තු වෙලා, මිනිස්සු වෙලා එහෙම සංසාරෙ සැරිසරනවා. එහෙනම් ඒ පින් කරල දිව්‍ය ලෝකෙ ගියත් කොහේ ගියත් වැඩක් නැනෙ, ඉපදිලා වැඩක් නෑනේ. ආච්චි එවිට හිනහ වුණා. ඒ ටික දැනගන්න බැරුව නේන්නං පුතේ මිනිස්සු සංසාරෙ ඇවිදින්නෙ. ඒ මොකද බැරි? මට නම් හොඳට තේරෙනවා. ආච්චි අම්මේ, බුදු හාමුදුරුවොද මල් පහන් පූජා කරන ගාථා එහෙම කියල තියෙන්නෙ? නෑ පුතේ ඒවා හාමුදුරුවො හදපුවා. එතකොට බුදු හාමුදුරුවො මොනවද කියල තියෙන්නෙ? දැන් ඒවා ඔක්කොම කළවං වෙලා තෝරගන්ටත් බෑ. **ඒ වුනාට ආච්චි අම්මේ මම කවදහරි බුදු හාමුදුරුවො දේසනා කරපුවා කොහොමහරි හොයාගන්නවා.**

මේ එදා මාහට අවුරුදු 7 ක් පමණ කාලයේ වූ සාකච්ඡාවකි. ඒ අධිෂ්ඨානය අද දක්වාම මා හද වෙලාගෙන ඇත. මේ පොතද ඒ හේතුවෙන් ගලා එන අදහස් මාලාවක ප්‍රතිඵලයකි.

මේ පොත කියවීමේදී, අගක් මුලක් නැති අනුපිළිවෙලක් නැති විස්තරයක් සේද ඔබට පෙනෙන්ට පුළුවන. එහෙත් කලබල නොවී අපක්ෂපාතීව කීප වතාවක්ම කියවා බලන්න. සමහර තැන් බුදු දහමට විරුද්ධ සේද පෙනෙන්ට පුළුවන. මෙතෙක් භාෂා විශාරද උගතුන් මෙන්ම දේශකයන් වහන්සේලා පෙන්වා දුන් කරුණුවලට පටහැනි අර්ථද ඇති සේ වැටහෙන්ට පුළුවන. දහම් පොත්වල සඳහන් නැති විස්තර කතාද තිබෙන්ට පුළුවන. මොන පොතේද එසේ අර්ථ පෙන්වා තියෙන්නෙ, කොහොමද පිළිගන්නෙ... මෙහෙම අදහස් එන්ටද පුළුවන. **ආශාව, තරහව, මුලාව දුරුවීමට හේතු ඇති සේ පෙනේ නම් පමණක් අත්හදා බලන්න. මාගේ කීම නිසා**

**පිළිනොගන්න. හේතු යුක්ති සහගත යැයි වැටහෙන කොටසක් ඇත්නම් එය පමණක් හොඳින් විමසා තේරුම් ගෙන අනුගමනය කර බලන්න. අනෙක්වා විවේචනයද නොකර පිළිගැනීමක් හෝ ඉවත දැමීමක්ද නොකර මධ්‍යස්ථ වන්න.** සැම සතට සුගතිය නිවන ලැබේවායි ආශිර්වාද කරමි.”

## දැහැමි රජයකට ආශිර්වාද කිරීම්

ඉතිහාසය කිව්වම වැදගත් සිදුවීම් සහ නොවැදගත් සිදුවීම් තියෙනවා. වැදගත් සිදුවීම් අතරත් ලෞකික වශයෙන් වගේම ලෝකෝත්තර වශයෙන් වැදගත් කාරණාත් තියෙනවා. නිවනට එල්ල කරල සම්බන්ධ නොවුනත් මේ සටහන් කරන්න යන්නෙ, යම්කිසි ආකාරයකින් ධර්මානුකූලව වැදගත්කමක් තියෙන කාරණයක්. මේවා කවදහරි අනාගත ලෝකයාගේ දැනගැනීම පිණිස, ඒ යටගිය ඉතිහාසය කොතැනක හෝ සටහන් විය යුතු නිසා මේ විදිහට සටහන් කරනවා.

හැබැයි මේ කියන කාරණය එක්තරා ආකාරයකින් දේශපාලනයට සම්බන්ධ වුණත්, දේශපාලන කෝණයකින් තොරව අපක්ෂපාතීවත් මධ්‍යස්ථවත් දහම් කාරණයක් විදිහටයි සටහන් කරන්නෙ. ඒ නිසා මීට සම්බන්ධ දේශපාලන නම් ගම් තිබුණත්, මේ වගේ දහම් සඟරාවක ඒ නම් ගම් සඳහන් කිරීම ඒ තරම් සුදුසු නෑ කියල හැඟෙන නිසා, මම මේ කතාව පුළුවන් තරම් නම් ගම්වලින් තොරව සටහන් කරනවා. මොකද මේ දහම් ලිපි කියවන පින්වතුන් අතරත් ඒ ඒ මට්ටම්වලින් විවිධ දේශපාලන මති මතාන්තර දරන පිරිස් ඉන්න පුළුවන්. හැබැයි බැලූ බැල්මටම බොහෝ දෙනෙකුට මේ කියන කතාවලින් එන ඒ චරිත තේරුම් ගන්න පුළුවන් වෙයි. ඒත් ඒකට මට කරන්න දෙයක් නෑ. කවුරුවත් ඒක ගැටළුවක් කරගන්න අවශ්‍යත් නෑ. එහෙම නොවී මේ කතාව ලියන්නත් බෑ. සත්‍ය සිදුවීමක් නිසා ලෝකයාගේ දැන ගැනීම පිණිස සටහන් කරනවා. කොහොමත් මොන දේශපාලන මතවාදය දැරුවත්, බෞද්ධයො වශයෙන් අපි තේරුම් ගන්න ඕන කාරණය තමයි, මේ හැම කෙනෙක්ම සංසාරයේ දුක් විඳින සත්වයන් බව. ඒ නිසා දේශපාලන මතවල හිර වෙලා කාත් එක්කවත් සදාකාලිකව පුද්ගල කෝන්තර හදාගැනීම සුදුසු නෑ. ඒක බෞද්ධකමක් නෙවෙයි. අන්න ඒ කාරණාවලට යටත්ව මම මේ කතාව මේ විදිහට සටහන් කරනවා.

මේ සිද්ධිය වුණේ රටේ ජනාධිපතිවරණයක් ප්‍රකාශයට පත්කරල තිබුණ එක්තරා කාලයක. දවසක් රටේ ඉහළම තැනට පක්ෂපාතී, මමත් දන්න කියන එක්තරා මහත්මයෙක් දුරකතනයෙන් කතා කරල ඇහුවා, ඔබ මේ වගේ අධ්‍යාත්මික බලයක් තියෙන හාමුදුරුවො නමක් ඇසුරු කරනව නේද, බැරිද උන්වහන්සේට කියල අපේ .... තුමාට ආශිර්වාද කරගන්න කියල. එතකොට මම කිව්වා, උන්වහන්සේ කිසිම දේශපාලන පක්ෂයකට සම්බන්ධ නෑ, සම්පූර්ණයෙන්ම මධ්‍යස්ථයි, නමුත් ඉතින් ආශිර්වාද කිරීමක් නිසා අහල බලන්නම් කියල. ඊට පස්සෙ ඒ නායකතුමාට සම්බන්ධ තවත් අතිරේක ලේකම් කෙනෙක් සම්බන්ධ කරල, වහරක හාමුදුරුවො ගැන කරුණු ටිකක් පැහැදිලි කරන්න එන්න පුළුවන්ද කියල ඇහුවා. ඒ ස්ථානයට ඒ තරම්ම දුරක් නැති නිසාත්, මොනවහරි යහපතක් වෙයි කියල හිතුන නිසාත්, ඒ ඉල්ලීමට එකඟ වෙලා මම ඒ ස්ථානයට ගියා. මම ඔවුන්ට මේ විදිහට කරුණු කිව්වා. වහරක හාමුදුරුවො කිසිම දේශපාලන පක්ෂයකට සම්බන්ධ නෑ. නමුත් මේ වගේ අධ්‍යාත්මික ශක්තියක් තියෙන, නිවන් දකින්න බණ කියන හාමුදුරුවො නමක්. උන්වහන්සේගේ ඒ ශක්තිය ගැනත්, මේ රට ගැන කියපු ධර්මානුකූල කාරණා ටිකකුත් මම පැහැදිලි කරන්නම්. හැබැයි මට මේවා මෙතැනදි ඔප්පු කරන්න නම් බෑ. ඔබතුමා විස්වාසයෙන් පිළිගන්නව නම් විතරක් පිළිගන්න. එහෙම කියල වහරක හාමුදුරුවන්ගෙ විශේෂත්වය ගැනත්, රටේ ඉහළම නායකයා හරහා ජනතාවට ආශිර්වාදය පැතිරිලා යන ආකාරය ගැනත්, උතුරු නැගෙනහිර යුද්ධයෙන් පසු මියගිය සහ ජීවත්ව සිටින සියළු දෙනාටම රටේ නායකයා මුල් වෙලා ජය ශ්‍රී මහා බෝධින් වහන්සේ ඉදිරියේ විශේෂ ආශිර්වාද පූජාවක් සහ පුණ්‍යානුමෝදනාවක් කිරීමෙන් මේ තියෙන ගැටළුකාරී තත්වයන් සමනය වෙලා රටට සෞභාග්‍යය උදාවෙන හැටිත්... ඒ ආදී වශයෙන් වහරක හාමුදුරුවන්ගෙන් දැනගත්ත කරුණු ටිකක් විනාඩි 45 ක විතර කාලයක් අරගෙන විස්තර කරල දුන්නා.

එතකොට ඔහු කිව්වා, මම ඒ ගැන පොඩ්ඩක්වත් සැක කරන්නෙ නෑ පිළිගන්නවා, අපිට දවස් දෙක තුනකින් විතර උන්වහන්සේව මුණගැහෙන්න වෙලාවක් වෙන් කරගන්න පුළුවන්ද කියල. ඊට දවස් දෙක තුනකට පස්සෙ ඒ ලේකම්තුමාම කතා කරල ඇහුවා, අපිට හාමුදුරුවො මුණ ගැහෙන්න අවශ්‍යයි, හාමුදුරුවන්ට පුළුවන් වෙලාවක් ඉතා ඉක්මනින් අරන් දෙන්න කියල. ඒ නිසා මම වහරක හාමුදුරුවන්ට කිව්වා, අහවල් තැනින් මෙහෙම කතා කරල මුණගැහෙන්න වෙලාවක් දෙන්න පුළුවන්ද අහනව කියල. එතකොට හාමුදුරුවො ඇහුවා මොකටද කියල. මම කිව්වා, රටේ ජනාධිපතිවරණයක් කැඳවල තියෙනවනේ ඒ සම්බන්ධයෙන් මොනවහරි දැනගන්න වෙන්න ඇති කියල. එතකොට වහරක හාමුදුරුවො මෙහෙම කියනවා. කමක් නෑ ඉතින් ඒ අයටත් මොනවහරි දැනගන්න දේවල් ඇතිනේ, එහෙනම් එන්න කියන්න. මහත්තයෝ අපි ළඟට ප්‍රභාකරන් ආවත්, බෞද්ධයෙක් වශයෙන් අපි ආශිර්වාද කරන්න ඕන. හැබැයි මිනී මරන්න නෙවෙයි, දුෂ්චරිත අත්හැරල සත් පුරුෂයෙක් වෙලා මේ භයානක සංසාරයෙන් කවදහරි ගොඩයන්න කියල. **මේ හැම කෙනෙක්ම සංසාරයේ දුක් විඳින අය. අසත්පුරුෂ ඇසුර නිසා ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් මත්වෙලා පවු පුරවගෙන අපාගත වුණත්, ඒ අය කෙරෙහිත් දයානුකම්පාවෙන් අපි ආශිර්වාද කරන්න ඕන. ඒක තමයි බෞද්ධකම කියන්නෙ. බෞද්ධයො වුණාම අපිට පැත්තක් ගන්න බෑ.** උන්වහන්සේ මේ විදිහට අපූරු දහමකුත් කෙටියෙන් පැහැදිලි කළා.

කොහොමහරි දවසක් සහ වෙලාවක් දුන්නම, ඒ ලේකම්තුමා අර කතා කරපු අනික් මහත්තයත් එක්ක වහරක හාමුදුරුවො මුණ ගැහෙන්න ආවා. ඇවිත් අර ඉල්ලීම කළා. එතකොට හාමුදුරුවො උතුරු නැගෙනහිර තිබ්බ යුද්ධය පෙර අත්බැව් ගණනාවක පටන් එන සසර ගනුදෙනුවක් බවත්, යුද්ධය ඉවර වුණාට පස්සෙ පැත්තක් නොගෙන, එදා පටන් අද දක්වා මියගිය සියළු දෙනාටම පින් අනුමෝදන් කළ යුතු බවත්, ඒ සඳහා රටේ නායකයා මුල් විය යුතු බවත් පැහැදිලි කරල, නායකයා ඇතුළු මැති ඇමති මණ්ඩලය හරහා මුළු මහත් ජනතාවටම ඒ පුණ්‍ය ආශිර්වාදය පතුරුවල සෞභාග්‍යයට මුල පුරන හැටිත් පැයක විතර දේශනයකින් පැහැදිලි කරල දුන්නා. රටේ නායකයා ඇතුළු මැති ඇමති මණ්ඩලයට ආශිර්වාද කරන්න ඕන කියල සමාධියට මීට පෙර යොමුවුණ බවත් කියල,



කොහොමද ඉතිං ඒක කරන්නෙ, මට දේශපාලන වශයෙන් පැත්තක් ගන්න නම් බෑ, ඒ නිසා වැඩිය ප්‍රසිද්ධ නැති, ජය ශ්‍රී මහ බෝධීන් වහන්සේටත් ළඟ තැනක් යොදා ගන්න පුළුවන් නම් එහෙම ආශිර්වාද කිරීමක් කරන්න පුළුවන් කිව්වා. ඒ වගේම ඒ ආශිර්වාද කිරීමට අඩු ගානෙ පැය දෙකක් දෙකහමාරක්වත් යනවා, එහෙම නැත්නම් කරල වැඩක් නෑ, ඒ වගේ වෙලාවක් වෙන් කරල දෙනව නම් විතරක් වඩින්නම් කියලත් කිව්වා.

ඊට පස්සෙ ඒ අය ඒකෙ කිසි ගැටළුවක් නැති බවත්, පැය දෙකක් වෙන් කරන්න පුළුවන් බවත්, ඒ සඳහා අනුරාධපුරයේ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේටත් ළඟ... නිවසක් තියෙන බවත් කියල, ඒ සඳහා සූදානම් කරන්න ඕන කොහොමද කියලත් ඇහුවා. එතකොට වහරක හාමුදුරුවො ඊට අවශ්‍ය පිරිකර, බුද්ධ පූජාවට අවශ්‍ය කරන දාන මාන, කැවිලි අවුල්පත්, පළතුරු, කිරි පැණි, දැහැත් විට, සුදු නෙළුම්, කොඩි, සේසත්, වටතිර, උඩුවියන්, පාවඩ... ආදී වශයෙන් මේ විදිහෙ ලැයිස්තුවක් කියල ඒ පින්කම උදෑසන 7 ට විතර පටන් ගන්න ඕන කියලත් කිව්වා. ඒ අයත් බොහොම කැමැත්තෙන් ඒ විදිහට පිළියෙල කරන්නම් කියල පොරොන්දු වෙලා ඒ සඳහා දවසකුත් දාගෙන තමයි ගියේ. ඊට අමතරව ඒ අතර යෙදිච්ච සෙනසුරාදා ආශිර්වාද බුද්ධ පූජාවටත් ඒ අය ඒ නායකතුමාගේ නමින් කිරි පැණි පූජාවක් කරල පැන් බෝතල් කිහිපයකුත් සෙත් කරගෙන ගියා.

ඒ වගේම මේ නායකයා සම්බන්ධයෙන් වහරක හාමුදුරුවො පෙර අත්බැව් බලල අප්‍රකටව කියපු කාරණා ටිකකුත් තිබුණා. මීට පෙර හිටපු නායකයන්ටත් පෙර අත්බැව්වල බුද්ධාදී උත්තමයන්ට දුන්න දානමානවල පුණ්‍ය විපාක ඇදිල ඇවිත් තමයි ඒ තත්වයන් ලැබිල තියෙන්නෙ. හැබැයි මේ නායකයාට පෙර බුදුවරයන් වහන්සේලා කිහිප නමකටම දීපු දානමානවල විශේෂ පුණ්‍ය ශක්තියක් තිබුණා. ඒ වගේම .... වගේ විශේෂ රජ පෙළපත් කිහිපයකටත් සම්බන්ධ වෙලා කටයුතු කරල ඒ විදිහට එන සසර ගමනක් තියෙනවා. එක්තරා බුදුවරයන් වහන්සේ නමකගේ කාලයේ වහරක හාමුදුරුවොත් මනුස්සයෙක් වශයෙන් ඉන්නකොට, මේ කියන නායකයත් මනුස්සයෙක් වශයෙන් ඉඳල තියෙනවා. අන්න ඒ අවස්ථාවෙදි වහරක හාමුදුරුවො තමයි මේ නායකයාව යොමු කරල තියෙන්නෙ, මෙන්න මෙහෙම බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙලා ඉන්නවා ගිහින් දානයක් දෙන්න කියල. ඒ කීමට එදා දානයක් දීල තිබුණා. අන්න ඒ අත්‍යන්ත හේතුව නිසාම මේ අත්බවයෙත් ඔහුට ආශිර්වාද කරන්න ඕන කියල සමාධියට නැගුණ බවත් වහරක හාමුදුරුවො දවසක් කිව්වා. ඒ වගේම ඔහු එක්තරා තනතුරක් දරන මුල් කාලයේම අනාගතයේ රටේ නායකත්වයට පත්වෙනවා කියල සමාධි දර්ශනයට පෙන්නුම් කළ බවත් කිව්වා. ඊට අමතරව ලෝකයේ අනෙක් රටවල නැති, ලංකාව වටා තියෙන විසාල සම්පත් ගැනත්, ඒවා ඒ පුණ්‍ය ශක්තියෙන් ලබාගෙන රට සශ්‍රීක කරන්න හේතු තියෙන බවත් කිව්වා.

මෙහෙම කිව්වම කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, රටේ දන්න කාලයක පටන් තියෙන දූෂිත දේශපාලන වාතාවරණය අනුව එහෙම වෙන්න පුළුවන්ද කියල. ඒ කාරණයට පිළිතුරක් හෙළ බොදු පියුම 46 කලාපයේ "රාජ්‍ය නායකයන්ගේ පහළ වීම දහම් ඇසින්" කියන ලිපිය යටතේ ඉදිරිපත් කරල තියෙන නිසා නැවත පැහැදිලි කරන්න අවශ්‍ය නෑ.

කොහොමහරි අදාළ දවස ක්‍රමයෙන් ළංවුණාම සියල්ල සූදානම් කියල තහවුරු කරපු නිසා, හරියට ඒ දවසට කලින් දවසෙ හාමුදුරුවො අනුරාධපුරයට වඩින්න ලැස්ති වුණා. ඒ සඳහා වහරක පන්සලේ වැඩ හිටපු තවත් හාමුදුරුවරු දෙනමකුත්, ගිහි පාර්ශවයේ අපිත් තුන් හතර දෙනෙකුත් සම්බන්ධ වුණා. හාමුදුරුවො වඩම්ම වන්න ඒ අයම පන්සලට එනව කියල වෙලාවක් දුන්නත්, ඊට පැය හය හතක්ම පහුවෙලා රෑ 11ට විතර තමයි ආවෙ. එතකල්ම ඒ සඳහා සූදානම් වෙලා හිටපු උන්වහන්සේ, දැඩි අපහසුතා මධ්‍යයෙත් වැඩියෙ රටට යහපතක් කිරීමේ අරමුණෙන්මයි. ඒ ගැන මේ විදිහට පැහැදිලි කිරීමකුත් කළා.

රටට සෙතක් කරන්න මෙහෙම අදහසක් සමාධියට ආව නිසයි මම මේ දේ කරන්න යන්නෙ. එහෙම නැතිව වෙනත් දේකට මගේ කිසිම බලාපොරොත්තුවක් නෑ. බුලත් විටක් ගන්න කියලවත් මට අවශ්‍යතාවයක් නෑ. රටට යහපතක් කරන්න ඕන කියන මානසිකත්වය තමයි මේ වෙලාවෙ සමාධියට නැගෙන්නෙ. ඒ සඳහා පරිසරයක්, හේතුවක් තියෙනව



ගිහි වතක සිටියදී

නම්, එහෙම වෙන්න තියෙන එක මම වළක්වන්න හොඳ නෑ. **ඒ ශක්තිය අදින්න නම් පහළ ඉන්න ජනතාවගේ පටන් ඉහළට තල්ලු කරන්න බෑ. ඉහළ ඉඳන් පහළට තමයි තල්ලු කරන්න ඕන.** රටක රාජ්‍ය නායකයෙක් වෙන්න බුදු, පසේබුදු, මහ රහත් ආදී උත්තමයන්ට දුන්න දානමය පින්කම් තියෙන්න ඕන. ඒ කාලෙ මේ පවුල්වල උදවිය එකට ඉඳල ඒ වගේ පූජා පිංකම්වලට අතගහපු අය. සසරේ එකට එන පිරිසක්. කාගෙ වුණත් පෙර අත්බැව්වල ඉඳන් සසරේ වපුරපු පුණ්‍ය ශක්තියක් තියෙනවා. හැබැයි මේ සසරේ එනකොට රාග ද්වේශ මෝහ නිසා ඒ පුණ්‍ය ශක්තිය තාවකාලිකව වැහිල තියෙන්නෙ. **යම්කිසි දිව්‍ය අභිඥාදා ආදී විශේෂ ශක්තියක් තියෙන කෙනෙකුට ඒ පුණ්‍ය ශක්තිය නැවත මතුකරල ඔජනංවල අනන්තර-සමනන්තර ප්‍රත්‍ය අනුව ඇදල දෙන්න පුළුවන්. අපිට සාසනික වශයෙන් ඒ අයට කරල දෙන්න තියෙන්නෙත් ඒ ටික.** රාජ්‍ය නායකත්වයට නැගෙන්න ආපු කෙනෙක් ඉන්නව නම්, ඒ හැම කෙනාම සසරේ කරපු පුණ්‍ය ශක්තිය තිබුණත්, මොනවහරි බාහිර හේතු, කර්මවේග, සසර ගනුදෙනු නිසා ඒ ශක්තිය වැහිල තියෙන්න පුළුවන්. ඉතින් ඒ පුණ්‍ය ශක්තිය නැගෙන්න නම් නැවතත් ඒ මානසික පරිසරය හදන්න ඕන. අර

රාග ද්වේශ මෝහයන්ගෙන් වටවෙලා බැඳිල තියෙන කාරම, මළකඩ වගේ කොටස, සුද්ධ කරල දෙන්න තමයි අධ්‍යාත්මික ශක්තියෙන් ඒ පරිසරය හදන්නෙ. එතකොට නැවතත් ඒ පුණ්‍ය ශක්තිය ඔප් නැංවිලා ඇදිල එනවා. බුදුන් වහන්සේ දේශනා කරනවා, ආනන්ද හාමුදුරුවො උන්වහන්සේට කරපු පූජා සත්කාර ඇප උපස්ථානවලට, ඒකෙ තිබ්බ්ච බලවත්කම කොච්චරද කියනවනම්, ආනන්ද හාමුදුරුවො රහත් වෙලා සසර ගමන කෙලවර නොකරන්න, මෙච්චර වාර ගණනක් සක්දෙව් වෙලා මෙච්චර වාර ගණනක් සක්විති රජවෙලා අනේක වාරයක් ප්‍රාදේශීය වශයෙන් රජවෙලා ඒත් ඒ පුණ්‍ය ශක්තිය කෙළවර නොවන බව. ඒ පුණ්‍ය ශක්තිය ඒ තරම් බලවත්. එතකොට බුද්ධ සාසනය මුල්කරගෙන නගන පුණ්‍ය ශක්තියේ බලවත්කම නිසාම තමයි සසරේ යනකොට ඒ වගේ රජ, මැති, ඇමති ආදී විශේෂ සම්පත්ති ලැබෙන්නෙ. බුද්ධ සාසනයක් කියන්නෙ ඒ තරම් මහා පින් කෙතක්.

ඉතින් අන්න ඒ **නායකයින් වටේ රාග, ද්වේශ, මෝහවලින් වටවෙලා තියෙන කාරම/අසුද්ධ කිරණ ඉවත් කරල, ඒ පුණ්‍ය ශක්තිය නගල රටට යහපතක් උදාකරල දෙන්න තමයි** වහරක හාමුදුරුවො එදා ඒ විදිහට වැඩියෙ. කොහොමහරි පිංකම දවසේ පාන්දර වහරක හාමුදුරුවො එක්ක අපි ඒ ස්ථානයට ගියත්, ඒ වෙනකොටත් පූජාව සඳහා කිසිම සූදානමක් තිබුණෙ නෑ. එතැන හිටපු නිලධාරීන් පවා ඒ ගැන මොකවත් දැනගෙන හිටියෙ නෑ. අපි කිව්වම මෙන්න මෙහෙම ආරාධනාවකටයි ආවෙ කියල, මොකක්ද වෙන්න ඕන, කොහොමද වෙන්න ඕන කියල ඒ වෙලාවෙ තමයි විස්තර අහන්න ගත්තෙ. අන්තිමට ඒ ස්ථානයේ තිබ්බ්ච විසාල මේස පුටු කිහිපයක් එහාට මෙහාට කරල ඒ වෙලාවෙ තමයි ඒ සඳහා කටයුතු සකස් කරන්න යෙදුනෙ. හාමුදුරුවොත් එක්ක ගිය පිරිසත් සහය වෙලා තමයි ඒ කටයුතු බොහොමයක් සිද්ධ කළේ.

කොහොමහරි ඉතින් දානමාන කටයුතුත් සූදානම් කරල, අන්තිමට හාමුදුරුවො පූජාවට ලෑස්ති වෙනකොට අදාල නායකතුමා නෑ. උදේ හතට දීපු වෙලාව පහුවෙලා ඒ වෙනකොටත් අටට විතර ඇති. ඒ පාර එතැන ඉන්න නිලධාරීන් කියනවා .....තුමා එහා පැත්තෙ රූපවාහිනී නාලිකාවක ජනාධිපතිවරණ කතාවක් පටිගත කරනවා, ඒකට තව පැය දෙක තුනක් විතර යනවා, එතකල් ඉන්න වෙයි කියල. ඊට පස්සෙ නැවතත් කියනවා, ඒ වැඩසටහන ඉවර වුණ ගමන් ජය ශ්‍රී මහා බෝධිය ළඟ කිරි අම්මාවරුන්ගේ දානයකට යන්න තියෙනවා, ඒ නිසා මේ පිංකම විනාඩි පහක් වගේ කෙටි වෙලාවකින් ඉවර කරන්න කියල.

දැන් අර කලින් පැය දෙකක් දෙන්නම් කියල සියල්ල පොරොන්දු වෙලා ඒකියපු වැඩපිළිවෙල මොකුත් නෑ. එතකොට වහරක හාමුදුරුවො ඒ අයගේ මුහුණටම කිව්වා, ඒක තමයි මහත්තයෝ මම එදා මුලින්ම කිව්වෙ කරන මගුලක් හරියට කරන්න නැත්නම් දමල ගහල නිකං ඉන්න කියල. කියපු විදිහට ඒ අය හිතුවෙ හාමුදුරුවන්ට කේන්ති ගිහින් කියල. එතකොට මම ඒ අයට කාරණය පැහැදිලි කරල දුන්නා. උන්වහන්සේ ඒ කේන්තියෙන් නෙවෙයි කතා කළේ. ඔය මහත්වරුමනේ එදා මේ විදිහට කරන්නම් කියල පොරොන්දු වෙලා දැන් ඒ පොරොන්දුව කඩ කරල තියෙන්නෙ. මේ වැඩෙන් උන්වහන්සේගේ වටිනා කාලයත් ශ්‍රමයත් නාස්ති වෙනවා. එහෙම නැත්නම් මුන්වහන්සේ මේ වගේ වැඩවලට කොහේවත් වඩින කෙනෙක් නෙවෙයි, තමන්ගෙ පන්සලට වෙලා එන පිරිසට බණ කියාගෙන තමන්ගෙ පාඩුවේ බණ භාවනා කරන හාමුදුරුවො නමක්. රටට යහපතක් කරන්න ඕන නිසයි මේ වැඩියෙ.

මම එහෙම කිව්වම ඒ අයටත් ඒක පිළිගන්න සිද්ධ වුණා. නමුත් වැඩ පිළිවෙළේ වෙනසක් වුණේ නෑ. දැන් ඉතින් ඒ අයට කරන්න දේකුත් නෑ. කොහොමහරි උන්වහන්සේ ලාභ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් වැඩිය නම් අර විදිහට කතා කරන්නෙ නැහැනේ. ඒ අය අමනාප වෙයි කියල සද්ද නැතුව ඉවසගෙන ඉන්න තිබුනා. නමුත් ඒ අයගෙන්ම විශේෂ ඉල්ලීමක් තිබුණ නිසාත්, මේ අවස්ථාවේ තියෙන වටිනාකම දන්න නිසාත් තමයි, ඒ අවස්ථාව මග හරින්න එපා කියන පණිවුඩය දැනුම් දෙන්න අර විදිහට කතා කළේ.

කොහොමහරි ඉතින් උදේ දානමානත් හාමුදුරුවන්ට පිළිගන්වල වෙලාව එනකල් උන්වහන්සේ පැය දෙක තුනක් වරින් වර සමාධිගතවම බලාගෙන හිටියා. ඒ අවස්ථාවෙදි ඒ ස්ථානයේ තවත් මැති ඇමතිවරු, ආණ්ඩුකාරවරු වගේ ප්‍රභූවරු කිහිප දෙනෙකුත් හිටියා. ඒ අතරතුර ඒ අය හාමුදුරුවො එක්කත් කතාකරන කොට අන්තිමට ඒ අයටම තේරුම් ගියා, මේ සාමාන්‍ය හාමුදුරුවො නමක් නෙවෙයි, යම්කිසි අධ්‍යාත්මික ශක්තියක් තියෙන වටිනා කෙනෙක් කියල. මොකද ඒ අය අහපු ප්‍රශ්නවලට වහරක හාමුදුරුවො බොහොම ශාන්තව දුන්න ධර්මානුකූල පැහැදිලි කිරීම් අද කාලයේ ලෙහෙසියෙන් අහන්න ලැබෙන ඒවා නෙවෙයි. කොහොමහරි ඒ ස්ථානයේ එවකට හිටපු මහා භාරකාරතුමත් හිටියා. ඔහු හාමුදුරුවො ගැන පැහැදිලා හාමුදුරුවන්ට කියනවා, හාමුදුරුවනේ මම මහා භාරකාරතුමා, අපිට මේ පන්සල්වල ඕනෑම දේකට මිල මුදලින් උදව් උපකාර කරන්න පුළුවන්, ඔබ වහන්සේට මොනවහරි කෙරෙන්න තියේ නම් ඕනෑම දෙයක් කියන්න කියල. එතකොට හාමුදුරුවො කියනවා, අනේ මහත්තයෝ මට නම් කරගන්න කිසිම දෙයක් නෑ, මහත්තයා කැමතිනම් ඇවිත් බණ ටිකක් අහගෙන යන්න කියල. හාමුදුරුවන්ගෙ ඒ වචනවලින් ඔහුගේ ප්‍රසාදය දෙගුණ තෙගුණ වෙලා අපිත් එක්ක හෙමිහිට කියනවා, බලන්න මේ වගේ හාමුදුරුවරුත් රටේ ඉන්නවනෙ, වෙන කෙනෙක් නම් ඉතින් කියනකොටම අරක හදල දෙන්න මේක හදල දෙන්න කියල අඩුපාඩු කියනවනෙ, ඒත් මේ හාමුදුරුවො එහෙම නෑනෙ බලන්න හරි පුදුමයිනෙ කියල.

අන්තිමට අර කියපු විදිහටම පැය දෙක තුනක් පහුවෙලා තමයි... තුමා ඒ ස්ථානයට ආවෙ. එනකොටම හාමුදුරුවො කිව්වා, මහත්තයෝ මේ පැය දෙක තුනකින් කරන්න ඕන පූජාවක් තමයි විනාඩි පහක් දහයකින් කරන්න සිද්ධවෙලා තියෙන්නෙ, මම ඉතින් පුළුවන් විදිහට කරන්නම් කියල. ඊට පස්සෙ ඒ පූජාවට අතගහල ඉඳගන්න කියල හාමුදුරුවො සමාධියට සමවැදිල පටිභාන කවිත්වයත් උපයෝගී කරගෙන සියලු දෝස භංගවෙලා, පෙර සසරේ මහා පුණ්‍ය ශක්තිය ඇදිල ඇවිත් ආරක්ෂාව රැකවරණය ලැබිල රටටත් ජනතාවටත් යහපත උදාවෙන්න කියල... ඒ ආදී වශයෙන් පූජාව කරගෙන ගියා. ඒ අතරේ එතැන හිටපු ආරක්ෂක නිලධාරියෙක් මට ඇඟිල්ලෙන් ඇනල කියනවා, කිරිපිඬු පූජාවට යන්න පරක්කුවෙන නිසා හාමුදුරුවන්ට කියන්න දැන් ඇති නවත්වන්න කියල. තවම පූජාව පටන් අරගෙන විනාඩි පහක්වත් ගියේ නෑ නවත්වන්නලු. මම කිව්වා මට ඒක කරන්න බෑ, ඒක ගැළපෙන්නෙ නෑ, හාමුදුරුවො





සමාධියට සමවැදිල පූජාව කරන්නෙ, උන්වහන්සේ සුදුසු වෙලාවට නවත්වයි කියල. ඒපාර තවත් විනාඩියක් දෙකක් ගිහින් නැවතත් කියනවා, හාමුදුරුවන්ට කියන්නලු දැන් ඇති නවත්වන්න කියල. ඒ වෙලාවෙත් මම ඒක ප්‍රතික්ෂේප කරල එතැනින් තවත් ටිකක් ඉවත්වෙලා හිටියා. මොකද නැත්නම් නැවත නැවතත් කියන නිසා. අන්තිමට හාමුදුරුවො විනාඩි හය හමාරක් වගේ ඉතා කෙටි වෙලාවක් අරගෙන අවශ්‍ය කාරණා ටික කැටි කරල ඒ කටයුත්ත අවසන් කළා. එදා ඒ කෙටියෙන් කළ පූජාවේ පටිගත කිරීම තවමත් මා සතුව තියෙනවා.

පූජාව අවසන් කරල එන ගමන් හාමුදුරුවො ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ වැඳ පුදාගන්නත් ගියා. උන්වහන්සේ වැලි මළුවෙ සළුව එලල බිම දිගාවෙලා ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේට වන්දනාමාන කරල ඇඟිල්ල දික් කරල පෙන්වල කියනවා, අර තමයි නියම ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ, අනෙක් පරිවාර බෝධීන් වහන්සේලාගෙන් ඒ බෝධීන් වහන්සේ වෙනස් වෙන හැටි බලන්න කියල. එහෙම කියල ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ, රුවන්වැලි මහා සෑයේ සහ ඒ අවට විශේෂත්වය ගැනත් කෙටි පැහැදිලි කිරීමක් කළා.

ඊට පස්සෙ එන ගමන් අර පූජාව ගැනත් කෙටි විස්තරයක් කළා. ඒ පූජාවට ඒ නායකතුමාගේ මිය පරළොව ගිය දෙමව්පියොත් එක්තරා දේව ලෝකයක ඉඳගෙන ඇවිත් සම්බන්ධ වෙලා අනුමෝදන් වුණා. තවත් දේව බ්‍රහ්ම කොටස් ඇවිත් සම්බන්ධ වුනා. හැබැයි පැය දෙකහමාරම දුන්නනම් මේ අපේක්ෂකතුමාට සියයට...ගණනක ප්‍රතිශතයක් අරගෙන ජයග්‍රහණය කරන්න තිබුණා. දැන් ඉතින් ඊට වඩා අඩු ප්‍රතිශතයකින් තමයි ජයග්‍රහණය කරන්නෙ. ඒ වගේම මේ ඡන්දයෙන් පස්සෙ ප්‍රතිවාදී අපේක්ෂකතුමත් පෙර කර්ම වේගයක් ඇදිල ඇවිත් කරදරයට පත්වෙනවා කියල මේ විදිහට කෙටි විස්තරයක් කළා. ඡන්ද ප්‍රතිඵල ආවම අදාල අපේක්ෂකතුමා යම්කිසි ඉහළ ප්‍රතිශතයකින් ජයග්‍රහණය කරල තිබුණත්, හාමුදුරුවො කිව්ව වගේ ඊටත් ඉහළ ප්‍රතිශතයකින් දිනන්න තිබුන අවස්ථාව නැතිවෙලා තිබුණා. ඒ වගේම ඒ ප්‍රතිවාදී අපේක්ෂකතුමත් ලොකු කරදරයකට පත් වුණා.

ප්‍රතිශතය ගැන කිව්වම කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, පූජාවක් තියල දවස් දෙක තුනකින් එච්චර වෙනසක් කරන්න පුළුවන්ද කියල. එහෙම පුළුවන්. මොකද ඒ පූජා ක්‍රමවේදය ඒ තරම්ම අති දුර්ලභ මහා වටිනා එකක්. අනන්ත සසරේ කරපු මහා පුණ්‍ය ශක්තිය ඇදල අරගෙන කැටි කරල විශ්වයට මහා ශක්තියක් නගල දෙන පූජාවක්. ඒකෙන් විශ්වයට නිකුත් වන මහා ශක්තිය හරහා රටේ ජනතාවගේ වසඟතාවයක් ඇති වෙනවා. ඒකෙන් ජන මනස වෙනස් වෙනවා. ඒ කාරණය සිද්ධවෙන හැටිත් වහරක හාමුදුරුවො පැහැදිලි කළා. නමුත් ගැටළුව තියෙන්නෙ, ඒ වගේ පූජාවක් කරන්න හැමෝටම බෑ. ඒ සඳහා විශේෂ අධ්‍යාත්මික ශක්තියක් තියෙන්න ඕන.

ඒ වගේම ඒ ආසන්න දවසකම අර ලේකම්තුමා කතා කරල අහනවා, ඒ ළඟම එන පසළොස්වක පෝයට.... නිවසේ බණ කියන්න ආරාධනා කළොත් වහරක හාමුදුරුවො වඩිනවද, අපි උන්වහන්සේට ආරාධනා කරන්න කැමතියි කියල. මම උන්වහන්සේට කතා කරල කිව්වා, සාම්ප්‍රදායිකව හැම පසළොස්වක පෝයකම අහවල් ස්ථානයේ පැයක විතර බණක් කියනවා, එන පෝයට ඔබවහන්සේට බණ කියන්න ආරාධනා කරනවා, වඩිනවද කියල. එතකොට හාමුදුරුවො ඒ ඉල්ලීම කාරුණිකව ප්‍රතික්ෂේප කළා. මම ඒ ලේකම්තුමාට පණිවුඩය දැනුම් දුන්නම හාමුදුරුවො වඩින්න බෑ කිව්ව කියල, විනාඩි පහකින් විතර නැවතත් කතා කරල කියනවා, අපි කැමතියි උන්වහන්සේව වඩම්මවල බණක් කියන්න ජනාධිපතිතුමයි කැබිනට් මණ්ඩලයයි තවත් සෑහෙන්න පිරිසක් ඒ බණ අහන්න සම්බන්ධ වෙනවා, හාමුදුරුවන්ගෙන් ආයෙ සැරයක් අහන්න කියල. ඒ පාර මම හාමුදුරුවන්ට නැවතත් කතා කරල ඒ පණිවුඩය දැනුම් දුන්නා. එතකොටත් හාමුදුරුවො ඒ ඉල්ලීම කාරුණිකව ප්‍රතික්ෂේප කරල කිව්වා, මම එහේ ගිහින් බණ කිව්වට මේ නිවන් දකින බණ ගන්න අය එතැන නෑ, ඊට වඩා මේ පොහොය දවසට පන්සලට එන උපාසක ඇත්තො ටිකට බණ කියන එක වටිනව කියල.

කොහොමහරි හාමුදුරුවන්ට දෙපාරක් ආරාධනා කරලත් උන්වහන්සේ ඒ ඉල්ලීම බාරගත්තෙ නෑ. නමුත් සාමාන්‍යයෙන් ඉතින් ඒ වගේ විශේෂ ස්ථානයක බණ කියන්න ආරාධනාවක් කළාම, බොහෝකොටම වෙනත් භික්ෂූණ් වහන්සේ නමක් නම් ඉතින් තියෙන වැඩ පැත්තකට දාල ඒකට වඩිනවනෙ. නමුත් කිසිම ලාභ කීර්ති ප්‍රසංසාවක් බලාපොරොත්තු නොවුන වහරක හාමුදුරුවො ඒ කාරණය දැක්කෙ වෙනත් විදිහකට. උන්වහන්සේට හොඳ සමාධියක් තිබුණ නිසා දැනගත්තා, ඒ අවස්ථාවෙදි රජ ගෙදර වුණත් බණ කියන්න යෑම නිෂ්ඵලයි, ඊට වඩා පන්සලට බණ අහන්න එන පිරිසට බණ කියල සසරින් ගොඩයන්න උදව් කරන එක වටිනව කියල. හැබැයි අර අවස්ථාවෙදි උන්වහන්සේ සෑහෙන දුරක් ගෙවාගෙන කාලය වෙහෙස මහන්සිය බලන්නෙ නැතිව ඒ ආශිර්වාද කිරීමට කැමැත්තෙන්ම වැඩියා. මොකද ඒ අවස්ථාවෙදි විසාල යහපතක් ඒකෙන් සිද්ධවෙන බව දැකපු නිසා.

කොහොමහරි ඡන්දෙන් පස්සෙ ප්‍රතිවිරුද්ධ අපේක්ෂකතුමා කරදරයකට පත්වෙනවා කියපු කාරණයත් සත්‍යයක් වුනා. ඊට පස්සෙ වහරක හාමුදුරුවො මේ වගේ අධ්‍යාත්මික ශක්තියක් තියෙන කෙනෙක් කියල ආරංචි වෙලා, ඒ ප්‍රතිවිරුද්ධ අපේක්ෂකතුමාගෙ පවුලේ ළඟම ඥාති පිරිසත් දන්න කියන අය හරහා වහරක පන්සලට සම්බන්ධ

වෙලා සෙනසුරාදා පූජාවකටත් ඇවිත් ඒ වෙනුවෙන් අට පිරිකර පූජා කරල ආශිර්වාද කරව ගත්තා. ඊට අමතරව විශේෂ දානමය පූජාවක් සමග විශේෂ පුණ්‍යානුමෝදනාවකුත් වහරක පන්සලටම ඇවිත් කරගත්තා. ඒ වෙලාවෙ වහරක හාමුදුරුවො කියල තිබුණා, පෙර කරපු කර්ම වේගයක් ඇදිල ඇවිත් අනිවාර්යයෙන් ඒ කරදරය විඳින්නම වෙනවා, හැබැයි මේ විශේෂ පුණ්‍යානුමෝදනාවෙන් පස්සෙ ඒ කර්ම වේගය සැහෙන දුරට ගෙවිල කාලයක් ගිහින් සහනය ලැබෙයි කියල.

කොහොමහරි වහරක හාමුදුරුවො දේශපාලන වශයෙන් කිසිම පැත්තක් ගත්තෙ නෑ කියල ඔප්පු වෙන අවස්ථා දෙකක් තමයි මේ. දෙපැත්තක හිටපු ප්‍රතිවිරුද්ධ අපේක්ෂකයො දෙන්නටම අවශ්‍ය අවස්ථාවෙදි ඒ ආශිර්වාද කිරීම නොඅඩුවම කළා.

ඔහොම මාස කිහිපයක් ගියාට පස්සෙ පාර්ලිමේන්තු මහ මැතිවරණයක් ආවා. ඒ අවස්ථාවෙදි හාමුදුරුවො කිව්වා, මේක මගේ පුද්ගලික අදහසක් නෙවෙයි, සමාධියෙන්ම දැනුම් දෙනවා, පක්ෂ විපක්ෂ භේදයකින් තොරව මැති ඇමතිවරු ඇතුළු ඡන්දයට ඉදිරිපත්වෙන සියලු අපේක්ෂකයන්ට ආශිර්වාද ලබාගන්න අවස්ථාව සලසල දෙන්න කියල. ඒ ඉදිරිපත්වෙන අපේක්ෂකයො ජයග්‍රහණය කරල මැති ඇමතිවරු බවට පත්වෙන කොට, පෙර පින් ඇදිල ඇවිත්, ඒ අය රාග ද්වේශ මෝහවලින් වහගෙන හිටපු අධාර්මික බව බිඳිල දැහැමි රාජ්‍ය පාලනයකට මග පාදන්නත්, ඒ හරහා රටට ජනතාවට ආශිර්වාදය ලැබිල සාමකාමී සශ්‍රීක සමාජයක් බිහිවෙන්නත් කියන ඒ අදහස් තමයි සමාධියට නැගිල තිබුනෙ.

ඒ අවස්ථාවෙදිත් උන්වහන්සේ ආණ්ඩු පක්ෂයට දින කිහිපයක් සහ විපක්ෂයට දින කිහිපයක් වශයෙන් වෙන වෙනම සමාධියෙන්ම දින වෙන් කරලත් තිබුණා. එතකොට ඒ අය ගේන්න ඕන පූජා භාණ්ඩ ලැයිස්තුවත් කලින් විදිහටම කිව්වා. ඉතින් මේ විදිහට කරුණු පැහැදිලි කරල දීල කිව්වා, ආණ්ඩු පක්ෂයේ සහ විපක්ෂයේ දන්න කියන හැමෝටම දැනුම් දෙන්න කියල. ඒ වගේම ඒ වෙනකොට හිටපු රටේ ප්‍රධාන නායකතුමාටත් මේ ශක්තිය ඇදල දෙන්න විශේෂයෙන්ම සහභාගි වෙන්න කියන්න කිව්වා. එතැනදි ඒ නායකතුමාට එන්න බැරි නම් අඩු ගාණෙ ළඟම ලේ ඥාතියෙක්වත් ඒ ශක්තිය ඇදල දෙන්න අවශ්‍යයි කිව්වා. ඒ කියන්නෙ සහෝදරයෙක්, තමන්ගෙ දරුවෙක්... වගේ කෙනෙක් අවශ්‍යයි. ඒ නිසා අර කලින් සම්බන්ධ වුණ ලේකම්තුමාටම මම ඒ පණිවුඩයත් දැනුම් දුන්නා. ඊට අමතරව මම දන්න කියන අය හරහා පුළුවන් උපරිම පිරිසකට පක්ෂ විපක්ෂ භේදයකින් තොරව ඒ පණිවුඩය දැනුම් දෙන්න කටයුතු කළා.

කොහොමහරි ඒ විදිහට වෙන්කරල දීපු දවස්වලින් දෙපක්ෂයෙන්ම සහභාගි වුණේ අපේක්ෂකයො හත් දෙනෙක් විතරයි. ඒ හැම දවසකම හාමුදුරුවන්ට ඒ කටයුත්තට සහය වෙන්න ඕන නිසා මමත් සම්බන්ධ වුණා. වහරක පන්සලේ පහල ධර්මශාලාවෙ තමයි ඒ පිංකම් පැවැත් වුණේ. එතැනදි හාමුදුරුවො බුද්ධ පූජාව ඇතුළු සියලු පුද පරිස්කාර ඒ ඒ අපේක්ෂකයන්ගෙ අතින්ම අතගස්වල, නම අහල නමට ගැලපෙන්න සමාධියට සමවැදිල පටිභාන කවිත්වයෙන්ම ඒ පූජාවන් එකින් එක වෙන වෙනම සිද්ධ කළා. අපේක්ෂකයගෙ නම මොන විදිහෙ වුණත්, උච්චාරණය කරන්න අමාරු නමක් වුණත්, එවෙලෙම නම අහල ඒ නමත් එක්ක පටිභාන කවියෙන් නිරායාසයෙන්ම ගෙතිල එනවා. ඉතින් ඔය විදිහට බුද්ධ පූජාව, අට පිරිකර, කිරි පැණි, සුදු නෙළුම්, කොඩි, සේසත්, වටතිර, පාවඩ, උඩුවියන් ඇතුළු සියල්ලම වෙන වෙනම පූජා කරල ආශිර්වාද කරල, දොළොස් මහේ පහනටත් ඒ අය ලවාම තෙල් දාල පත්තු කරල, විශ්වයට මහා සුද්ධ ශක්තියක් නිකුත් වෙලා, අදාල අපේක්ෂකයන්ගේ පෙර පින් තියේ නම් ඒවා ඇදිල ඇවිත් ක්‍රියාත්මක වෙලා ජන වසඟතාවය ඇතිවෙලා, යහපත් විදිහට ජයග්‍රහණය ලබල දැහැමි රජයකට මගපෑදෙන්න කියල තමයි ඒ ආශිර්වාදය සමග විශේෂ පුණ්‍යානුමෝදනාව සිද්ධ කළේ. ඒක සාමාන්‍යයෙන් පැය දෙකහමාරක් විතර එක දිගට කරන විශේෂ ආශිර්වාද පූජාවක්.

ඉතින් ඒ පූජාවට සහභාගි වෙච්ච අපේක්ෂකයො සහ ඔවුන්ගෙ ඥාති පිරිස් විවිධ මට්ටම්වලින් ඒ ගැන පැහැදුනා. එක අපේක්ෂකයෙක් පාන්දරම කැවුම් කිරිබත් ඇතුළු දානමාන ඒ කියපු විදිහටම හදාගෙන බස් එකක් පිරින්ම ඥාති පිරිසත් එක්ක ඇවිත් පැය දෙකහමාරම ඉතාමත් හොඳින් සාවදානව ආශිර්වාද පූජාවට සම්බන්ධ වෙලා අහගෙන හිටියා. අන්තිමට හාමුදුරුවන්ට වැඳල, හාමුදුරුවනේ මෙච්චර වටිනා පූජාවක් කියල දැනගෙන හිටියෙ නෑ, බොහොම සතුටුයි මේ වගේ අවස්ථාවකට සම්බන්ධ වෙන්න ලැබීම ගැන කියල බොහොම චිත්තප්‍රසාදයෙන් කතා කළා. ඒ අපේක්ෂකතුමා පසුකාලීනව රටේ ව්‍යවස්ථාදායකයේ ඉහළම තනතුරකටත් පත්වුණා.

එදා ඒ පූජාවන්ට සම්බන්ධ වෙච්ච අයගෙන් මැතිසබයට තේරී පත්වෙච්ච අය වගේම පැරදිච්ච අයත් හිටියා. හැබැයි පැරදුනා කියල ඒ අයට පාඩුවක් සිද්ධ වුණේ නෑ. ඒ කරගත්ත පුණ්‍ය ශක්තිය සසරේ කවදාහරි ගොඩයන්නම හේතුවෙන ඒ තරම් මහා වටිනා අවස්ථාවක්. මොකද හාමුදුරුවො මෙතැනදි කළේ නැති ශක්තියක් මවල දීමක් නෙවෙයි. අතීතයේ කරල තියෙන පුණ්‍ය ශක්තිය (අනන්තර ප්‍රත්‍ය) ඇදිල එන්න සමනන්තරය හෙවත් පරිසරය සකස් කරල දීම. එතකොට අතීතයේ කරල තිබුණ පුණ්‍ය ශක්තිය ප්‍රමාණවත් නැත්නම්, හරියට හේතු ගැළපුනේ නැත්නම් ඒ අවස්ථාවෙදි පරදින්න පුළුවන්. නමුත් කරගත්ත පුණ්‍ය ශක්තිය අපතෙ යන්නෙ නෑ.

ඒ වගේම ජයග්‍රහණයට ඉතා සුළු ඡන්ද සංඛ්‍යාවක් අඩු වීම නිසා පැරදිච්ච අපේක්ෂකතුමෙක් මැතිවරණයෙන් පසු පිරිකරක් අරගෙන තමන්ගෙ චිත්තප්‍රසාදය පළකරන්න මාත් එක්ක හාමුදුරුවො මුණ ගැහෙන්න පන්සලට ගියා. හැබැයි ඔහු බොහොම හිතේ අමාරුවෙන් කිව්වා, මනාප ඡන්ද ගණින කොට වෙච්ච ලොකු අසාධාරණයකින් තමන් පැරදුනා කියල. ඒ වෙලාවෙ උන්වහන්සේ පැයක විතර වටිනා බණක් ඔහුට දේශනා කළා. **මේ සසරේ එනකොට ජය පරාජය ලබන හැටි, අටලෝ දහම ක්‍රියාත්මක වෙන හැටි, ඒවාට හේතු සකස් වෙන හැටි, ඒ අවස්ථාවන්ට මුහුණ දෙන හැටි, ලෝක සම්මත මැතිවරණ ආදී තරඟවලින් පරාජය වුණත් මේ වගේ පින්කම්වලට චිත්තප්‍රසාදයෙන් සම්බන්ධ වුණොත් සසරින් පරාජය නොවී ගොඩයන්න පුළුවන් හැටි...** මේ ආදී වශයෙන් කිව්වම ඔහු බොහොම පැහැදීමට පත්වෙලා කියනවා, හාමුදුරුවනේ මම පැරදුනත් ඔබ වහන්සේගේ මේ බණ ටික ඇහුවම හිතට පුදුමාකාර සැහැල්ලුවක් දැනෙනව කියල. කොහොමහරි ඊළඟ වතාවෙ තිබුණ මහ ඡන්දයෙන් ඔහු මනාප ලක්ෂයකට ආසන්න ගණනක් අරගෙන දිස්ත්‍රික්කයේ ඉහළින්ම පාර්ලිමේන්තුවට තේරී පත් වෙලා


දානමය පිංකමකට සම්බන්ධ වී

තිබුණා. ඒ වගේම එක දිගටම මහ ඡන්දවලින් පැරදිච්ච අපේක්ෂකයෙක් ඒ පූජාවට සම්බන්ධ වෙලා පළවෙනි වතාවට පාර්ලිමේන්තුවට තේරී පත් වෙලා තිබුණා.

හැබැයි ඒ අවස්ථාවෙත් රටේ ප්‍රධාන පුරවැසියා මුල් කරල ආශිර්වාද කරගන්න ලබා දීපු අවස්ථාව හරියට කරගත්තෙ නෑ. වහරක හාමුදුරුවො අවස්ථා කිහිපයකදිම කිව්වා, ඒ නායකතුමාව සම්බන්ධ කරන්න බැරිනම් අඩුගානෙ ළඟම ලේ ඥාතියෙක් හරි සම්බන්ධ කරන්න කියල. නමුත් ඒ කටයුත්ත සම්බන්ධීකරණය කරපු අය ඒ කාරණය හරියට තේරුම් ගත්තෙ නෑ. අන්තිමට පරම්පරා ගණනක් ඈතින් සම්බන්ධ, වැඩි ක්‍රියාකාරිත්වයක් නැති කෙනෙක් තමයි ලේ ඥාතියෙක් කියල එක්කගෙන ආවෙ. ඒ නිසා හරියට ආශිර්වාද කරගන්න තිබුණ ඒ අවස්ථාවත් ගිලිහිලා ගියා. එතැනදිත් පිංකමට අවශ්‍ය භාණ්ඩ ලැයිස්තුව වෙලපහින්ම ඒ අයට ලබාදීල තිබුණා. නමුත් අවශ්‍ය දානමාන වුණත් හරියට ගෙනත් තිබුණෙ නෑ. බුද්ධ පූජාවට විතරයි දානෙ ගෙනත් තිබුණෙ. සාංඝික කරන්න දානෙ ගෙනත් තිබුණෙ නෑ. දැන් මොකද කරන්නෙ, වහරක හාමුදුරුවො මට කතා කරල හෙමිහිට කියනවා, මහත්තයෝ මෙච්චර දෙයක් තේරෙන්නෙ නැත්ද, මම කොහොමද අනුමෝදනාව කරන්නෙ, සාංඝික කරන්න දානෙ ගෙනල්ලත් නෑ, ඉක්මනට කඩේට ගිහින් ඉඳිආප්ප 10 ක් හරි ගෙනත් තියන්න කියන්න කියල. ඒ පාර මොකද කළේ හන්දියේ කඩෙන් ඉඳිආප්ප 10 ක් ගෙනත් තමයි සාංඝික දානයට තිව්වෙ. හාමුදුරුවො ඒ වෙලාවෙදිත් කිව්වා, මම මේ බොහොම අමාරු වැඩක් කරන්නෙ, රටේ නායකයා හරි ළඟම ඥාතියෙක් හරි නැත්නම් මේ වැඩේ හරියට කරන්න බෑ කියල.

ඔය විදිහට ඒ සිද්ධියත් වෙලා මාස ගණනාවක් ගත වුණා. ඊට පස්සෙ ඒ අය කිසිම විදිහකින් පන්සලට සම්බන්ධ වුණේ නෑ. ඔහොම ඉන්නකොට ඒ කාලෙ ලංකාවට ජාත්‍යන්තරයෙන් ලොකු බලපෑමක් එල්ලවෙන සිද්ධියක් ඇති වුණා. ඒ කාලෙ රටේ තොටේ හැමතැනම කතා බහ කළේ ඒ ගැන. දවසක් අර පූජාවට සහභාගි වුණ රජයට හිතවත් මහත්මයෙක් මට කතා කරල අහනවා, මේ ජාත්‍යන්තර ප්‍රශ්නය සම්බන්ධයෙන් බැරිද වහරක හාමුදුරුවන්ට කියල අධිෂ්ඨානයක් කරගන්න කියල. මම කිව්වා, හාමුදුරුවො ඒ දීපු අවස්ථා දෙකම හරියට කරගත්තෙ නැනෙ, එදා හරියට ඒ වැඩේ කරගත්ත නම් අද ඔය වගේ ප්‍රශ්න එන්නෙ නෑ, දැන්නම් මම හිතන්නෙ නෑ උන්වහන්සේ ඔය වගේ දේකට සම්බන්ධ වෙයි කියල. ඊට පස්සෙ දවසට තුන් හතර වතාවක් කතා කරල ඒ ගැන අහනකොට මම කිව්වා, හොඳයි මම අද හාමුදුරුවො මුණගැහෙනවා පණිවුඩය දැනුම් දෙන්නම් කියල.

එදා වෙනත් කටයුත්තකට හාමුදුරුවන්ව මුණගැහෙන්න පන්සලට ගියපු වෙලාවෙ මම කිව්වා, හාමුදුරුවනේ මේක මගේ අදහසක් නම් නෙවෙයි, මට කියපු නිසයි ඔබ වහන්සේට දැනුම් දෙන්නෙ, අහවල් තැනින් කතා කරල මෙන්න මෙහෙම දෙයක් අහනවා කියල. එතකොටම හාමුදුරුවො හිනාවෙලා අපූරු උදාහරණයක් අරගෙන මෙහෙම කිව්වා. මහත්තයෝ අර වැසිකිළිය තියෙනවනෙ. ඕක මිනිස්සුන්ට මතක් වෙන්නෙ මළ මුත්‍ර බර හැදුනමනෙ. අන්න ඒ වගේ තමයි ඔය මිනිස්සුන්ට අපිව මතක් වෙන්නෙ විසඳගන්න බැරි ඔය වගේ ප්‍රශ්නයක් ආවම තමයි. නැත්නම් මම කොච්චර නම් අවස්ථාව දුන්නද මේ ආශිර්වාද කිරීම හරියට කරගන්න කියල. ඒකත් අපේ උවමනාවට කළා වගේ. ඊට පස්සෙ මේ පැත්ත පළාතෙ සම්බන්ධ වුනෙත් නෑ. එදා මට සමාධියෙන්මයි ආවෙ මේ කාලෙ රටට යහපතක් වෙන්න මේ විදිහෙ ආශිර්වාදයක් කරන්න ඕන කියල. දැන් ඒ කාලෙ ඉවරයි කියල සමාධියෙන්ම දැනුම් දෙනවා. අනෙක මට දැන් ඕවා කරන්න සනීපත් නෑ කියන්න. උන්වහන්සේ මේ වගේ උත්තරයක් දුන්නම මම ඒ අයට ඒ උත්තරය සාරාංශ කරල කිව්වා, ආශිර්වාද කරගන්න දීපු අවස්ථාව ඉවරයි, දැන් උන්වහන්සේට අසනීප නිසා ඒ වගේ දෙයක් කරන්න අමාරුයි කිව්ව කියල.

ඔය විදිහට තවත් කාලයක් ගත වුණාම ඒ කාලයේ පාර්ලිමේන්තුවේ හිටපු කතානායකතුමාගේ අතිශයින්ම ළඟම ඥාතියෙක් දුරකතනයෙන් කතා කරල අහනවා ...තුමා සහ රට වෙනුවෙන් ආශිර්වාද කරගන්න අපිට වහරක හාමුදුරුවො මුණගැහෙන්න පුළුවන්ද කියල. වහරක හාමුදුරුවො ගැන කරුණු කාරණා තේරුම් අරගෙන බොහොම පැහැදිලා කතාකරන්නෙ කියල ඒ කතාවෙන් හැඟී ගියත්, මම කිව්වා, අවස්ථා දෙකක්ම දීලත් හරියට කරගත්තෙ නැනෙ, දැන් ඉතින් ඒ කාලය ඉවරයි කියල. එහෙම කියල ඒ වෙච්ච සිදුවීම් පෙළත් කෙටියෙන් කිව්වා. ඒ පාර අහනවා, කවුද ඒක හරියට කරගන්න ඉඩ දුන්නෙ නැත්තෙ, ඉතින් මට කිව්ව නම් හරියට සම්බන්ධීකරණය කරනවනෙ කියල. මම කිව්වා, වටේ හිටිය නිලධාරීන් හරියට උපදෙස් නොදීම නිසා තමයි ඒ අවස්ථා ගිලිහිලා ගියේ, ඔබතුමියට දැනුම් දෙන්න මම ඉතින් පුද්ගලිකව කවුරුවත් අඳුනන්නෙ නැනෙ, එදා දැනගෙන හිටපු අයට තමයි පණිවුඩය දැනුම් දුන්නෙ කියල. ඒ පාර ඉතින් බොහොම දුක්වෙලා නැවත අවස්ථාවක් දුන්නොත් එහෙම වෙන්නෙ නෑ කිව්වා. ඔය විදිහට ඒ කතා කරපු ඥාතියා පිට පිට දවස් දෙක තුනක්ම සැහෙන වෙලාවක් කතා කරල වහරක හාමුදුරුවො ගැනත්, උන්වහන්සේ මේ සම්බන්ධයෙන් කියපු කාරණා ගැනත් හුගක් විස්තර ඇහුවා. මමත් ඉතින් වෙලාව අරගෙන, කවදහරි ඇත්ත තේරුම් ගනියි කියල හිතාගෙන ඒ සියලු විස්තර කිව්වා.

ඊට පහුවදා නැවතත් කතා කරල අහනවා, බැරිද අපිට හාමුදුරුවො අද හෙටම මුණගැහෙන්න කියල. මම කිව්වා කාන්තා පක්ෂයට වැඩසටහන් තියෙන දවස්වලට හැර අනෙක් දවස්වලට හාමුදුරුවන්ව මුණගැහෙන්න උඩට



යන්න විදිහක් නෑ කියල. ඒ පාර ඇහුවා, එහෙනම් කතානායකතුමා එක්කගෙන එන්නම් මුණගැහෙන්න පුළුවන්ද කියල. මම අහල බලන්නම් කියල හාමුදුරුවන්ටත් පණිවුඩය දැනුම් දුන්නම උන්වහන්සේ ඒකට එච්චර කැමැත්තක් පලකළේ නෑ. ඒකට ප්‍රධාන හේතුව තමයි, මීට කලින් ඉතා පහසුවෙන්ම ලබා දුන්න අවස්ථා දෙකම හරියට කරගත්තෙ නැතිකම. ඊට අමතරව ඒ අවස්ථාවෙ පන්සල් වටපිටාවෙ තිබ්ච්ච තවත් කාරණා කිහිපයකුත් බලපෑවා. කොහොමහරි හාමුදුරුවො ඒ ගැන හරියට වචනයක් කිව්වෙ නැතිව ටිකක් අදිමදි කළා. ඒ අතර මේ ඥාතියා නැවත නැවතත් කතා කරල අහනවා, අද දවස ඇතුලත ඕනෑම වෙලාවක එන්න පුළුවන්, කොහොමහරි අවස්ථාවක් අරගෙන දෙන්න කියල. දැන් ඉතින් මමත් හරි අපහසුතාවයට පත්වෙලා. හාමුදුරුවො හරියට වචනයක් කිව්වෙත් නෑ, එහෙන් අර ඥාතියා සැරින් සැරේට කතා කරල මුණගැහෙන්න අහනවා. බැරිම තැන මම හාමුදුරුවන්ට නැවතත් කතා කරල කිව්වා, හාමුදුරුවනේ මමත් දැන් හරි අපහසුතාවයට පත්වෙලා ඉන්නෙ, අහවල් තැනින් නිතර නිතර කතා කරල අහනවා, දැන් මම මොකද කියන්නෙ කියල. අනේ මම දන්නෙ නෑ කියල උන්වහන්සේ නැවතත් අදිමදි කරනකොට මම ඇහුවා, එහෙනම් මම ඒ අයට බෑ කියල දැනුම් දෙන්නද කියල. ඒ පාර හාමුදුරුවො කියනවා, එහෙම කියන්නත් එපා එතකොට හිත් අමනාප වෙයිනෙ, ඔන්න එහෙනම් ඉතින් එන්න කියන්න කියල. එහෙම කියල එදාම හවස වෙලාවක් දුන්නා. මම ඒ පිටම දැනුම් දුන්නා මේ වෙලාවට හාමුදුරුවො එන්න කිව්ව කියල.

මටත් ඒ අයත් එක්කම සම්බන්ධ වෙන්න කියල කිව්ව නිසා මමත් ගියා. කතානායකතුමයි පවුලේ ළඟම ඥාතීන් කිහිප දෙනෙකුයි ඒ අවස්ථාවට සම්බන්ධ වුණා. ආරක්ෂක නිලධාරීන් එක්ක ඔක්කොම පහළොවක දහටක පිරිසක් වගේ සම්බන්ධ වුණා. සැළකිය යුතු පිරිසක් හිටපු නිසා එදා හාමුදුරුවො පහළ ධර්මශාලාවට වැඩියා. හාමුදුරුවන්ට පූජා කරන්න ඒ අය ලොකු පළතුරු වට්ටියකුත් හදාගෙන ඇවිත් කතානායකතුමා අතින්ම පූජා කළා. හාමුදුරුවො කිව්වා, මොනවහරි තියෙන ප්‍රශ්නයක් අහන්න කියල. එහෙම ප්‍රශ්නයක් අහන්න ඒ හිටපු අයට එකපාරටම කල්පනාවට ආවෙ නැති නිසා මම කිව්වා, අර එන ගමන් කතා කර කර ආපු, යුද්ධෙන් පස්සෙ ක්‍රියාත්මක කළ යුතු ධර්මානුකූල වැඩ පිළිවෙල ගැන අහන්න කියල. මොකද අතරමග එනකොට පැයක විතර කාලයකදි වහරක හාමුදුරුවො කියපු ධර්මානුකූල වැඩපිළිවෙල ගැන ඒ අයගේ ඉල්ලීම පිට මම කෙටි පැහැදිලි කිරීමක් කළා.

ඉතින් කතානායකතුමාම ඒ ප්‍රශ්නය ඇහුවම හාමුදුරුවොත් බොහොම ප්‍රබෝධයෙන් පැය එකහමාරක විතර හොඳ ධර්මානුකූල විග්‍රහයක් කරගෙන ගියා. යුද්ධයේ පෙර අතීතය, ඒක හටගන්න හේතු, නතර වෙච්ච විදිහ, දැන් කළ යුතු ධර්මානුකූල වැඩපිළිවෙල, රටට යහපත උදාවෙන හැටි... මේ ආදී කරුණු ගණනාවක් හරි අපූරුවට ධර්මානුකූලව එකින් එකට පෙළගස්වල ඉතා වේගවත්ව කියාගෙන ගියා. ඒක අහගෙන හිටපු ආරක්ෂක නිලධාරීන් පවා ඇහුවා, මේ වගේ හාමුදුරුවො නමක් මෙච්චර කල් කොහෙද හිටියෙ, හරි අමුතු හැකියාවක්නෙ තියෙන්නෙ කියල.

කොහොමහරි හාමුදුරුවො විග්‍රහය ඉවර කරල තවත් මොනවහරි ගැටළු තියේ නම් අහන්න කිව්වා. එතකොට කතානායකතුමාම ඇහුවා, ඒ වගේ විශේෂ ආශිර්වාද පූජාවක් අපි දැන් කොහොමද කරගන්නෙ කියල. එතකොට හාමුදුරුවො කිව්වා, මම පුද්ගලිකව ආශිර්වාද කරගන්න විශේෂ අවස්ථා දෙකක් දුන්නා, දැන්නම් ඉතින් එහෙම කරන්න අමාරුයි, සෙනසුරාදා දිනවල තියෙන විශේෂ ආශිර්වාද පූජාවට කිහිප වතාවක් ඇවිත් සම්බන්ධ වෙන්න කියල. එතැනින් ඒ කතාවත් හමාර කරල ඒ අය යන්න ගියා. එච්චරයි. ඊට පස්සෙ කිසිම විදිහකින් සම්බන්ධ වුණේ නෑ. ඒ ගැන මොකුත් ඇහුවෙත් නෑ.

ඊට පස්සෙ නැවතත් වහරක හාමුදුරුවන්ව මතක් වුණේ ඊළඟ ජනාධිපතිවරණය කිට්ටු කරල. නමුත් ඒ වෙද්දි වෙන්න ඕන දේවල් බොහොමයක් සිද්ධ වෙලා ඉවරයි. එතැනින් පසු සිද්ධ වෙච්ච සිදුවීම්වලට මම සම්බන්ධ නොවුන නිසා ඒ ගැන යමක් කියන්න දන්නෙ නෑ. නමුත් ඉතා පැහැදිලිව කියන්න පුළුවන් කාරණයක් තියෙනවා. වහරක හාමුදුරුවො ඒ අයට ආශිර්වාද කරගන්න දීපු විශේෂ අවස්ථා දෙක ඒ කියපු විදිහට කරගත්ත නම්, ඉන් පසු කාලයේ රටේ සිද්ධ වෙච්ච අවාසනාවන්ත සිදුවීම් බොහොමයක් සිද්ධ නොවෙන්න ඉඩ තිබුණා. ඒ වගේම කාගෙවත් බලපෑම්වලින් තොරව දැහැමි රාජ්‍ය පාලනයක් සහිත සශ්‍රීක රටක් බිහිවෙන්න මග පෑදෙන්න තිබුණා. ඊට අමතරව ඒ අයටත් පුද්ගලිකව මහා යහපතක් කරගන්න තිබුණා. අවාසනාවකට රටේ නායකයාට හරියට උපදෙස් දෙන්න පුරෝහිතයො හිටපු නැති නිසා ඒ අවස්ථා දෙකම ගිලිහිලා ගියා. ඉතින් ඒකට ඒ නායකයින්ට දොස් කියල වැඩක් නෑ. ඒ සම්බන්ධීකරණ කටයුතු කරපු අය හරියට ඒ ගැන තේරුම් අරගෙන උපදෙස් නොදීම නිසා මහා වටිනා අවස්ථා දෙකක් ගිලිහිලා ගියා. දැන් ඉතින් අශ්වයා ගියාට පස්සෙ ඉස්තාලය වහල වැඩක් නෑ.

**රටක නායකයෙකුට නිසි කලට නිසි උපදෙස් දෙන්න පුරෝහිතයො හිටියෙ නැත්නම් නායකයා කොච්චර හොඳ වුණත්, මොන තරම් පුණ්‍ය ශක්තියක් තිබුණත් වැඩක් නෑ. ලෙඩෙකුට වුණත් අදාල රෝගය සුව වෙන්න නම් ඊට නියම බෙහෙත නියමිත වෙලාවට දෙන්න ඕන. නැත්නම් රෝගය කුරවල් වෙලා ඔඩු දුවල අසාධ්‍ය වෙනවා. අන්න ඒ වගේ තමයි, වසර දහස් ගණනක ආයී පරපුරෙන් ඔප් නැංවිච්ච දහම් දීපයක්ව පැවතුන මේ රට, ඒ දහම යටපත් වෙලා ගිහින් ජරාජීර්ණ තත්වයට පත්වෙලා තිබුණ යුගයක තමයි වහරක අභයරතනාලංකාර මහතෙරුන් වහන්සේ පහළවෙලා, වැසීගිය නිවන් මගට අමතරව නැවත රට ගොඩදාන දැහැමි ක්‍රමවේදයත් මතුකරල දුන්නෙ.** නමුත් ඒ ක්‍රමවේදය හරියාකාරව යා යුතු පුද්ගලයන් අතට ගියේ නැත්නම්, ඒ මහා වටිනා අවස්ථාව නිකරුණේ අපතෙ ගිහින් අඳුරේ අතපත ගාන්න තමයි මුළු මහත් රටවැසියන්ටම සිද්ධ වෙන්නෙ. ඉතින් ඒ වගේ දෙයක් තමයි එදත් සිද්ධ වුණේ. **ඒ නිසා අති දුර්ලභව පහළ වූ සම්මා සම්බුද්ධ සාසනයක ඒ වගේ පිං කටයුත්තකට සම්බන්ධ වෙන්න කාටහරි අවස්ථාව ලැබුණ නම්, අනෙක් සියලු වැඩ දෙවනි කරල ඒකට සම්බන්ධ වෙන්න පුළුවන්නම්, අනන්ත සසර පුරාවට ලේසියෙන් කරගන්න බැරි මහා වාසනාවක් උදාකරගත්ත වෙනවා.** ඒ සඳහා සියලු දෙනාටම නැණ නුවණ පහළ වේවා, යහපත අභිවෘද්ධිය උදාවේවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, විවිධාකාරයේ රෝග රැසකට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු 350 කට ආසන්න සංඛ්‍යාවක් මේ දක්වා පළවූ කලාපවලින් හඳුන්වා දීල තියෙනවා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ විවිධාකාරයේ ප්‍රයෝග විපත්ති නිසා හට ගත් ආබාධ ඇතුළු තවත් රෝග රැසකට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් වටිනා ප්‍රත්‍යක්ෂ ඖෂධ කිහිපයක්.

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, **මේ ඖෂධ හදාගෙන පාවිච්චි කරන්න පෙර, රෝගවලට මුල් වූ කර්මවේග යම් පමණකට හෝ ගෙවා හරින්න, මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න** (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාමයි හට ගන්නෙ. ඒ විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බෙහෙත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

**ඒ වගේම විශේෂ ආශිර්වාද පූජාවන්ට, විශේෂ පුණ්‍යානුමෝදනාවන්ට සහ ආර්ය මෙත් වැඩීම්වලට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස සෑහෙන පමණකට ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්.** ඒ නිසා ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න කටයුතු කරන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කරන්න. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න. සමහර අවස්ථාවල එකම රෝගයට බෙහෙත් වර්ග කිහිපයක් තියෙන්න පුළුවන් වගේම, ඒ ඒ බෙහෙත් වර්ග ඒ ඒ අයට විවිධාකාරයෙන් ප්‍රත්‍ය වෙන්න පුළුවන්.

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත්, මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරල තියෙන දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා, ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්නත් පුළුවන්. **පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන ප්‍රබල බෙහෙත් වර්ග බොහොමයක් දැනටමත් නිෂ්පාදනය කරල, සෙනසුරාදා, ඉරිදා සහ පසළොස්වක පොහොය දිනවල පෙ.ව. 8:30 – 3:00 දක්වා වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.** (විමසීම් - 0773108516, 0717122001, 0771620072)

## කායික මානසික රෝග රැසකට සහස්‍ර චක්‍ර ප්‍රාණ පෙති / ගුලි

වියලි නා ඇට මද කුඩු කරගෙන ග්‍රෑම් 250 යි, වියලි අංකෙන්ද පොතු කුඩු කරගෙන ග්‍රෑම් 250 යි. මේවා සකස් කරගත් පසු එළ ගව මුත්‍ර මිලි ලීටර් 875 ක් සොයාගෙන ඒ සමග මිශ්‍ර කරල සෙල්සියස් අංශක 70 ට රත් කරමින් ගුලි කරන්න පුළුවන් පදමට බස්සවා ගන්න. ඉන්පසු පිරිසිදු සුදු හඳුන් තෙල් අවුන්ස 1 ක් සහ බෙහෙත් කපුරු පෙති 6 ක් කුඩු කරල ඉහත කල්කයට හොඳින් මිශ්‍ර කරල, කෝපි ගෙඩි පමණට ගුලි කරල හෝ ඒ ප්‍රමාණයම පෙති විදිහට හෝ හදාගෙන වේල ගන්න.

උදේට කෑමෙන් පසු සහ රාත්‍රී නින්දට පෙර 1 බැගින් මාස 6 ක් ගන්න. **මේ මගින් මොලයේ අක්‍රිය වෙලා තියෙන සියළු සෛල නැවත ක්‍රියාත්මක වෙනවා. ස්නායු දුබල වීම නිසා ඇතිවන ඇස් අන්ධ බව, කන් බිහිරි බව, සිහි විකල බව, ගින්නට–වතුරට– වාහනවලට–වෙඩි හඬට බයවෙන, හීනෙන් බයවෙන සියළු මානසික ආතති දුරු වෙනවා. අඟ පසඟ නිරෝගී දරුවෙකුගේ වගේ නැවත ක්‍රියාත්මක වෙනවා. පාකින්සන් රෝගය සුව වෙනවා.**

## සප්ත ධාතු සුද්ධ පැණිය

දියබෙරලිය මුල් හැර ඉතිරි සියල්ල, දියහබරල මුල් හැර ඉතිරි සියල්ල, දියලබු ගෙඩි සහිතව මුල් හැර ඉතිරි සියල්ල, දිය තිප්පිලි මුල් හැර ඉතිරි සියල්ල, දේශීය දිය මානෙල් (නිල් මානෙල්) මුල් හා අල හැර ඉතිරි සියල්ල, දිය මෙනේරි කොළ හා දඬු, දිය සෙවෙල් අතින් මිරිකා දිය හැර.

මේවා එක වර්ගයකින් ග්‍රෑම් 500 බැගින් අරගෙන සියල්ල හොඳින් කොටා ගන්න. ඉන්පසු ඒ සියල්ලටම කිරි මෝරු දිය ලීටර් ½ ක් එකතු කරල වෙනම භාජනයක දමා ඒ භාජනය වාෂ්ප මත (වන්ඩුවේ) තියල පැය 5 ක් තම්බගෙන මිරිකගෙන එන දියරය පෙරාගන්න. ඊට එළු කිරි ලීටර් ½ ක්, තල්සූකිරි ග්‍රෑම් 600 ක්, එළගිතෙල් ලීටර ½ ක්, සුදු සූකිරි ග්‍රෑම් 200 ක් දමා පෙර සේම වාෂ්ප මත තියල පැණි පදමට බස්සවා ගන්න.

මේ පැණිය අවුරුදු දෙකක් තියාගෙන පාවිච්චි කරන්න පුළුවන්. අවුරුදු 3 න් පහළ දරුවන්ට වරකට තේ හැඳි බාගය බැගින්, අවුරුදු 7-11 දක්වා දරුවන්ට තේ හැඳි 1 බැගින්, ඊට වැඩි අයට තේ හැඳි එකහමාර බැගින් දිනකට තුන් වතාවක් කෑමට පෙර හෝ පසු දෙන්න. මාස තුනක් ගැනීම ප්‍රමාණවත්.

**මේ මගින් ගෙඩි, වණ, පිළිකා, ලියුකේමියා, දියවැඩියා, වකුගඩු ආබාධ, ඇල දිවේ, අක්මාවේ, පපුවේ, හදවතේ, පෙණහලුවල සහ මොලේ ආබාධ ඇතුළු සප්ත ධාතු විසවූ සියලු ආබාධ සුව වෙනවා.**

## වෛරස් සමන පෙති/ ගුලි

කජු ලෙලි පුච්චාගත් අළු, පොල්පිති පුච්චාගත් අළු සම සමව අරගෙන (අළුවල කළු වර්ණය අඩක් තිබුනට ගැටළුවක් නෑ), බුලත් කොළ අග මුල කඩා ඉවත් කරල කොළ ටික කොටාගෙන එන ඉස්මෙන් අනාගෙන කෝපි ගෙඩි බාගයක් පමණ තරම් ප්‍රමාණයට පෙති හෝ ගුලි විදිහට හෝ හදාගන්න. උදේ දවල් රාත්‍රී කෑමට පසු 2 බැගින් අසනීපය සුව වෙනකල් ගන්න.

**මේ මගින් සියළු වෛරස් දුරු වෙලා වෛරස් ආබාධ සමනය වෙනවා. බඩවැලේ, ඇලදිවේ ඇතුළු සියළු ඉන්ද්‍රියන්ගේ, මොළයේ හටගන්නා ගෙඩි සුව වෙනවා. පිළිකා ආශ්‍රිත වෛරස් දුරු වෙනවා. තව දුරටත් වර්ධනය වීම නවතිනවා. ඇට මිදුළු ආශ්‍රිත වෛරස් සමනය වෙනවා.**

## දිය තිප්පිලි පැණිය

දිය තිප්පිලි ඉස්ම බෝතල් 6 යි, පිරිසිදු තල තෙල් බෝතල් ¾ යි (තුන් කාලයි), පිරිසිදු කිතුල් පැණි බෝතල් ½ යි.

මේ සියල්ල අංශක 75 ක පමණ උෂ්ණත්වයෙන් රත් කරල පැණි පදමට ඇවිත් දිය හිඳුනට පසු සම්පූර්ණයෙන් නිවෙන්න හැර පිරිසිදු මී පැණි බෝතලයක් මිශ්‍ර කරන්න.

උදේ හිස්බඩ සහ දවල්, රාත්‍රී ආහාරයට පෙර විනාඩි 5 කට කලින් තේ හැන්ද බැගින් මාස 1½ ක් ගන්න. ඒත් සමගම පහත සඳහන් දිය තිප්පිලි තෙලත් හිසේ සහ අතපය, කොන්ද ආදියේ ගල්වන්න.

**මේ මගින් අංශභාග, කොර රෝග, මීමැස්මොර (ෆිට් එක) ආබාධ සුව වෙනවා. මීමැස් මොරය සුව වීමට අවුරුදු 1½ ක් පමණ දිය යුතුයි. මාස කිහිපයක් යනකල් ටිකෙන් ටික රෝගය හැදිල ක්‍රමයෙන් සුව වෙනවා. ඒ වගේම නින්ද නොයෑම, ආහාර අරුචිය, ඇඟ දැවිල්ල, කම්මුල් ඉදිමීම, බෙල්ලේ පිටුපස වේදනාව ආදී ආබාධත්, අධි රුධිර පීඩනයත් සුව වෙනවා.**

## දිය තිප්පිලි තෙල

දිය තිප්පිලි ඉස්ම බෝතල් 6 යි, පිරිසිදු පස්තෙල් බෝතල් 1 යි (අබතෙල්, මීතෙල්, තල තෙල්, කොහොඹ තෙල්, සුදු හඳුන් තෙල් එකකින් මි.ලී. 150 බැගින් - සුදු හඳුන් තෙල් හොයාගන්න නැත්නම් එඬරු තෙල් ගන්න),මේ සියල්ල සෙල්සියස් අංශක 75 උෂ්ණත්වයෙන් බස්සවා ගෙන දිය හිඳුනට පසු බාගන්න.

**අංශභාග හා කොර රෝග සුවයට** උදේ හවස බෙල්ලේ පටන් පිට දිගට තුනටිය ළඟටම උඩ පටන් පහලට තෙල් ගා විනාඩි දහයක් පමණ අතුල්ලන්න. විනාඩි 5 බැගින් උරහිස් පටන් අත්වල ඇඟිලි අගටම තෙල් ගා පිරිමදින්න. තුනටිය පටන් පාදවලත් ඇඟිලි අගටම ඒ විදිහටම තෙල් ගා පිරිමදින්න.

ඉන්පසු පාවට්ට පස්පංගුව ග්‍රෑම් 20 බැගින් අරගෙන වතුර බෝතලයක් දමා වණ්ඩුව බැඳල ලිපේ තියල, දහයියා පුච්චපු අළු කුඩු කරල පොට්ටනි බැඳල ඒ තුළින් රත් කරල තෙල් ගල්වපු ආකාරයටම ඒ හා සමාන කාලයක් තවන්න. මේ විදිහට මාස එකහමාරක් තැවීම ඉතා හොඳයි. **මේ තෙල උදේට හිසට දැමීමෙන් ඇස, කන, මොළය සම්බන්ධ ස්නායු ආබාධ සුව වෙනවා.**

## රත සමන අරිෂ්ටය

අසෝක මල් ගහේ පස් පංගුව අමු බරින් ග්‍රෑම් 100 බැගින්, අමු පොල් මුල් ග්‍රෑම් 600 යි, වියළි බෙලි මුල් ග්‍රෑම් 100 යි, වියලි ඇත් දෙමට මුල් ග්‍රෑම් 200 යි, නාරං ගහේ පොතු වියළි බරින් ග්‍රෑම් 50 යි, වියලි කොතල හිඹුටු මුල් ග්‍රෑම් 100 යි, වියලි හාතවාරිය අල ග්‍රෑම් 50 යි, වියලි හීන් අරත්ත ග්‍රෑම් 100 යි, වියලි ඉරිවේරිය ග්‍රෑම් 200 යි, අමු ස්වභාවික පේර කොළ ග්‍රෑම් 600 යි, අමු කැහිපිත්තන් කොළ ග්‍රෑම් 600 යි, වියලි පත්පාඩගම් ග්‍රෑම් 200 යි, දුම්මැල්ල ග්‍රෑම් 50 යි, වියලි කෝවක්කා කොළ ග්‍රෑම් 50 යි, බලුනකුට පස් පංගුව අමු බරින් ග්‍රෑම් 60 බැගින්.

මේ සියල්ල කොටාගෙන වතුර බෝතල් 35 යි මි.ලී. 300- බෝතල් 28 යි මිලිමීටර් 300 ට හිඳගන්න. ඊට පැණි දොඩම් යුෂ මි.ලී. 150 ක්, පෙරුම්කායම් කුඩු ග්‍රෑම් 50 ක් (වතුර මි.ලී. 450 ක් දමා), ස්වභාවිකව එකතු කරගත් පිනි දිය මි.ලී. 300 ක්, ඇට හැරගත් රටඉඳි කිලෝ 5 ක් අඹරල එකතු කරල මේ සියල්ලම දින 21 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් මාස එකහමාරක් ගන්න

**මේ මගින් ශරීරයේ අධික අම්ල නිසා හටගන්නා ආබාධ දුරු වෙනවා. බඩ පපුව දැවිල්ල, ඇඟපත, අතපය දැවිල්ල, ක්ලාන්තය, හදවතේ පොටෑසියම් වැඩි වීම නිසා හටගන්නා හදවත් ස්පන්දනය වීමේ වේග අක්‍රමිකතාවය (ඇරික්මියා තත්වය), මොලයේ නහර පුපුරා නාසයෙන් ලේ ගලන ආබාධ, නියපොතු දිරීම, දියවීම, අකලට දත් වැටීම, කෙස් වැටීම, නින්ද නොයාම, හිසේ බර ගතිය, උගුර කට වණ වීම, අධෝ මාර්ගය තුවාල වීම, අම්ල පිත්ත ප්‍රදාහය සහිත බඩවැලේ තුවාල, අතුල් පතුල්වල නිතර දහදිය ගැලීම, බෙල්ල පිටුපස දැඩි වේදනාව, ස්ත්‍රීන්ගේ මාස් සුද්ධි ආබාධ, හන්දිපත් අතරින් එන අතපය වේදනා, ඇටමිදුළු කැක්කුම, ඇලදිව ඉදිමීම, පිත්තාශය පැසවීම, අධි රුධිර පීඩනය, නහර ඉදිමීම, හතිය, මහන්සිය, ඔතෑනි ගතිය, කකුල් පැළීම, හම පුපුරා එන පොතු කබර ආදී... තවත් බොහෝ ආබාධ සුව වෙනවා. ඊට අමතරව සිරුරේ හමේ වියළි බව සුව වෙනවා. විස කැවීමෙන් හටගත් ආබාධ සහ ඒ නිසා ඇතිවන උණ සුව වෙනවා. රක්ත උෂ්ණය හිසට ගැසීමෙන් එන උන්මාදය සුව වෙනවා.**

## මොර අරිෂ්ටය

මොර ගෙහේ පස් පංගුව අමු බරින් කිලෝ 1 බැගින් අරගෙන වතුර බෝතල් 25-20 ට හිඳගෙන, මුද්දරස්පලම් කිලෝ 3½ ක් අඹරා දමා දින 14 ක් තබා අරිෂ්ට කරගන්න.

මාස 2 සිට අවුරුදු 1½ දක්වා සුදුසු පරිදි උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් ගන්න. මේ මගින් **අංශභාග, අතපය කොරවීම, කට ඇදවීම, මීමැස්මොරය ඇතුළු ස්නායු ආබාධ සුව වෙනවා.**

## නහර හිර සමන අරිෂ්ටය



සුදු හඳුන් කොළ, රත් හඳුන් කොළ, කොත්තමල්ලි ඇට, බැබිල, වෙනිවැල්ගැට, පත්පාඩගම්, නීරමුල්ලි, පොල්පළා, අසමෝදගම් ඇට, ඉරමුසු, බෙලි පස්පංගුව සියල්ල වියලි බරින් කොටසක් ග්‍රෑම් 25 බැගින්, හීන් උඳුපියලි, කොතල හිඹුටු සියල්ල වියලි බරින් ග්‍රෑම් 125 බැගින්, පිනි ජම්බු ගහේ පොතු, මාදං ගහේ පොතු සියල්ල අමු බරින් ග්‍රෑම් 375 බැගින්.

මේ සියල්ලම කොටාගෙන වතුර බෝතල් 28¼ - 22½ ට හිඳගෙන නෙල්ලික්කා විසහැර ග්‍රෑම් 6¼ යි, පිරිසිදු කිතුල් පැණි බෝතල් 1¼ යි, ඇට හැරගත් රට ඉඳි කිලෝ 3¾ ක් අඹරගෙන, බ්‍රැන්ඩි බෝතල් 3/8 යි (මි. ලී. 281.25), සාදික්කා ඇට මද ග්‍රෑම් 125 ක් කුඩු කරගෙන වතුර බෝතල් 1½ කට දිය කරගෙන, මේ සියල්ලම එකතු කරල දින 21 ක් තියල අරිෂ්ට කර ගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1½ බැගින් මාස 1½ ක් ගන්න. මේ මගින් **හදවතේ සහ සියලු නහරවල ලේ කැටිති නිසා හටගත් සියලු ආබාධ සමනය වෙනවා. හිරිවාත, කොර රෝග, අතපය වෙව්ලීම, ඇස් ඉදිමීම, කන් නෑසීම, මුහුණ ඉදිමීම, බෙල්ල වටේ හිරවීම, හුස්ම ගැනීමේ අපහසුතාවය, බඩ පපුව දැවිල්ල, මලබද්ධය සුව වෙනවා. විලුඹ කැක්කුම, බල නහර කැක්කුම, යටිබඩ සම්බන්ධ ආබාධ, අධි රුධිර පීඩනය සුව වෙනවා.**

## පාවට්ට අරිෂ්ටය

පාවට්ටා කොළ, දළු, මල්, පොතු හා මුල් අමු බරින් ග්‍රෑම් 100 බැගින්, ජම්බෝල හැර දෙහි කොළ හෝ පඹුරු කොළ ඇතුළු පැඟිරි කොළ වර්ග පහක් (දෙහි හෝ පඹුරු අනිවාර්යයි) ග්‍රෑම් 100 බැගින්, අරළු, පිරිසිදු රත්හඳුන්, බේත් එඬරු මුල්, බෙලි මුල්, තොටිල්ල පොතු, වියළි අරත්ත අල ග්‍රෑම් 175 බැගින්, නික කොළ අමු බරින් ග්‍රෑම් 500 යි.

මේවා කොටාගෙන වතුර බෝතල් 23 යි මිලි ලීටර් 200-බෝතල් 18 යි මිලි ලීටර් 575 ට හිඳගෙන පෙරාගෙන මුද්දරස්පලම් කිලෝ 3 යි ග්‍රෑම් 200 ක් අඹරා දමන්න. බ්‍රැන්ඩි බෝතල් ½ ක්, කොළ සූරා දැමූ අළු කෙසෙල් පිති අඟල් තුනේ කැබලිවලට කපාගෙන පලන්නෙ නැතිව ග්‍රෑම් 500 ක් ඒ කසායටම එකතු කරල කනක්කයක දමා දින 14 ක් පොළොව යට තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු මේස හැඳි 1½ බැගින් මාස දෙකක් ගන්න. මේ මගින් **යටි බඩේ වේදනා, හර්නියා ආබාධ, ස්ත්‍රීන්ගේ ගර්භාෂ ආබාධ දුරු වෙනවා. අත පය හිරිවැටීම, නහර ගැට ගැසීමේ, තදවීමේ ආබාධ දුරු වෙනවා. රක්ත උෂ්ණ ආබාධ සමනය වෙනවා. සෙම නරක් වීමෙන් හටගන්නා උණ සුව වෙනවා.**

## තැළුම් විස සමන චූර්ණය

පස් පැඟිරි දර (ජම්බෝල හැර දෙහි, දොඩම්, යකි නාරං, කුඩලු දෙහි, පඹුරු... ආදී ඕනෑම පැඟිරි දර වර්ගයක්) සමව අරගෙන එයින් කොටසක බරට (1/5) කොට්ට පොල් කැබලි කපා ගෙන ඒ සියල්ලම අළු කරල ස්වභාවික විනාකිරිවලින් අනාගෙන තියාගන්න. (කොට්ට පොල් වෙනුවට පුන්නක්කු කිලෝ 2½ කට වියලි මුරුංගා අතු ග්‍රෑම් 250 ක් දමා අළු කරල ගන්නත් පුළුවන්.)

තැළුනු තැන්වල හෝ අස්ථි පුපුරපු තැන්වල උදේට සහ හවසට පැය 4 බැගින් ගල්වා තියන්න. පැය 4 න් පසු රෙදි කැබැල්ලක් උණු වතුරෙන් තෙමා සෝදාහරින්න (පිස දමන්න) . ඉන්පසු 51 වන කලාපයේ පළ කළ පිළිස්සුම් තුවාල තෙල උදේ රාත්‍රී ගල්වන්න. දින 9 යි. **සියලු තැලුම් ආබාධ, පිපිරුම් සුව වෙනවා.**

## ඔඩු කපන චූර්ණය

ලෙලි ඉවත් කළ කරුංකා කළු වෙන්න පුච්චාගෙන, සියුම් වෙන්න කුඩු කරල පිරිසිදු තල තෙලෙන් චූර්ණ පදමට අනාගන්න. රෙදි කැබැල්ලක ආලේපය ගා උදේ 9 ට තුවාල මත තියල ප්ලාස්ටරයක් විදිහට අලවන්න. හවස 6 ට ඉවත් කරල කොහොඹ කොළ තම්බපු වතුරින් සෝදන්න. නැවත රාත්‍රී 9 ට ඒ විදිහටම ප්ලාස්ටරය දමා උදේ 6 ට ගලවල කොහොඹ කොළ තම්බපු වතුරින් සෝදන්න. කොහොඹ කොළ වෙනුවට දෙහි කොළ ගන්නත් පුළුවන්. හැලියක් එක වතාවයි. මේ විදිහට දින හතක් කරන්න.

දින හතෙන් පසු කලින් විදිහටම සෝදා හැර 89 කලාපයෙන් හඳුන්වා දුන් ඔඩුවන සමන අරිෂ්ටය පෙරීමෙන් පසු එන ඔඩුවන සමන චූර්ණය ආලේප කරල ප්ලාස්ටරය දමන්න. කලින් වගේම දින 9 ක් ඔඩුවන සමන චූර්ණ ප්ලාස්ටරය දමන්න. (ඔඩුවන සමන චූර්ණය සමග ඔඩු කපන චූර්ණය යන දෙකම මිශ්‍ර කිරීමෙන් සෑදූ ඔඩු කපන චූර්ණය දැනට වෛද්‍ය සායනයෙන් ලබා ගන්න පුළුවන්. මේ දෙක වෙනුවට ඒ බෙහෙත විතරක් ඉහත ආකාරයටම ආලේප කරන්න පුළුවන්. එතකොට කොහොඹ කොළ තම්බපු වතුරින් සෝදන්න අවශ්‍ය නෑ)

මේ මගින් ඇට දිරන තරම් දුරට ගිය **තුවාලත් සුව වෙනවා.** තවදුරටත් ප්ලාස්ටරය දැමීම අවශ්‍ය නම් ඒ විදිහටම කරන්න.

## විවිධ මානසික ආබාධ ඇතුළු රෝග රැසකට මේනියා හිර සමන අරිෂ්ටය

කුඹුරු ඇට මද වියළි නම් ග්‍රෑම් 335 යි, අමුනම් ඒ වගේ තුන් ගුණයක්, කුඹුරු දළු හා කොළ මිශ්‍රව අමු බරින් කිලෝ 1 යි, අන්නාසි ගහේ බොඩ (කොළ ටික ගහට සවිවෙන තැන සුදුපාට කොටස) අමු බරින් කිලෝ 1 යි, අමු බරින් දෙමුහුම් නොකළ ස්වභාවික පේර කොළ කිලෝ 1යි, සතුන් නොමැරෙන සේ ගත් අමු හුඹස් මැටි රොඩු, කුණු, ගල් ඉවත් කර කිලෝ 20 ක්, නිවාගත් උණු වතුර බෝතල් 22 ක් දමා පොඟවාගෙන, දිනක් තබා යන්ත්‍රයකින් හෝ වෙනත් සුදුසු ක්‍රමයකින් හොඳින් මිරිකගෙන ද්‍රවය පෑදෙන්න තබා රෙදි කඩකින් පෙරා ගන්න. (උණුදිය නිවාගෙන හුඹස් මැට්ටෙන් මිරිකා ගත් පසු අවසානයේ එන ද්‍රාවණය බෝතල් 20 ක් විය යුතු

නිසා ඒ ප්‍රමාණය එනකල් වතුර දමමින් දවසකින් මිරික ගන්න)

ඒ විදිහට ලබාගත් හුඹස් මැටි වතුරෙන් ඉහත බෙහෙත් ද්‍රව්‍ය කොටාගෙන ලිපේ තියල බෝතල් 20-16 ට හිඳගෙන පෙරාගන්න. ඊට විස හරින ලද නෙල්ලික්කා ග්‍රෑම් 15 යි, සුදු සූකිරි කිලෝ 3½ යි දමා දින 21 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි එකහමාර බැගින් මාස තුනේ පටන් අවුරුදු 7 දක්වාත්, තදබල ආබාධවලට සුදුසු කාලයකුත් දෙන්න.

**මේ මගින් ඇට, ඇට මිදුළු තැළීම, පිපිරීම, ස්නායු දුර්වලතා, කම්මැලිකම, ඇලි මැලි ගතිය, විවිධ දේවල් මතක් වෙවී නිතර හිනා වීම, ඇඬීම, විකාර කියවීම වගේ මානසික ආබාධ සුව වෙනවා. ඒ වගේම හන්දිපත් කොරවීම සුව වෙනවා. සිරුරේ තැනින් තැන සුදු, රතු ළප පැල්ලම් සුව වෙලා හම ප්‍රකෘති වෙනවා. උරහිස් සහ අඟපසඟ ඇද වීම සුව වෙනවා. පාකින්සන් රෝගය සුව වෙනවා.**

(මේ සමගම අවශ්‍ය නම් මීට පෙර 88 කලාපයෙන් හඳුන්වා දුන් ස්නායු තෙල සහ 36 කලාපයෙන් හඳුන්වා දුන් බුද්ධි වර්ධන පෙතිත් සුදුසු පරිදි භාවිතා කරන්න පුළුවන්)

## කුරුඳු බෙලි අරිෂ්ටය

කුරුඳු මල් කිලෝ 1¼ යි, අමු බරින් බෙලි පස්පංගුව ග්‍රෑම් 250 බැගින්, වියළි පෙති පුවක් ග්‍රෑම් 250 යි, අමු සුදු හඳුන් කොළ ග්‍රෑම් 250 යි. මේවා කොටාගෙන වතුර බෝතල් 17½ - 14 ට හිඳගෙන පිරිසිදු කිතුල් පැණි බෝතල් 2½ ක් දමා දින 21 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ දවල් රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි එකහමාර බැගින් මාස තුනක් ගන්න. මේ මගින් රුධිරානු, රක්තානුවල **විසමතා දුරුවෙනවා. නහරවල ලේ කැටි ගැසීම නිසා වන අවහිරතාවයන් දුරුවෙනවා. රුධිර පීඩනය සමනය වෙනවා.**

## කුඹුක් අරිෂ්ටය

කුඹුක් ගහේ පස් පංගුව ග්‍රෑම් 250 බැගින් සහ වියළි නෙල්ලි ග්‍රෑම් 250 ක් කොටාගෙන කුඩු කරල වතුර බෝතල් 10 - 8 ට හිඳගෙන පෙරාගෙන, සුදු සූකිරි කිලෝ 1 යි ග්‍රෑම් 300 ක් දමා දින 21 ක් තබා අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් ගන්න. මාස 1½-3 දක්වා ගැනීම ප්‍රමාණවත්. අවශ්‍ය නම් වැඩිපුර ගන්න.

**මේ මගින් බඩ පපුව දැවිල්ල, අම්ල පිත්ත ප්‍රදාහය, නින්ද නොයාම, පිත් විසෙන් හටගත් විවිධ ආබාධ, අර්ශස්, ඇඟ ඉදිමීම, නහර වේළුම, කාන්තාවන්ගේ ඇඟ උණුකරවා යෑම, බෙල්ල හිරවීම හා වේදනාව, හිරිවාත, හන්දි හිරවීම, කොර රෝග, දත් මුල් දියවීම, හදවත් ආබාධ, තැලසීමියා, දියවැඩියාව ආදී ආබාධ සුව වෙනවා. තුනටියේ හා පාදවල වේදනා දුරු වෙනවා. අධි රුධිර පීඩනය සුව වෙනවා.**

## වේදනා සමන අරිෂ්ටය

හාතවාරිය කොළ හෝ බෙත් එඬරු කොළ, බලු නකුට මල්, කොළ, දළු, මුල් හා පොතු වෙන වෙනම, කුර තම්පලා, බෙලි මුල්, සුදුළූනු, පාවට්ට කොළ, දළු, මල්, මුල් හා පොතු, සූදුරු, මුණමල් පොතු අමුවෙන්නම් ග්‍රෑම් 25 බැගින් (වියළි නම් එයින් 1/3 ක්) අරගෙන කොටාගෙන වතුර බෝතල් 2 - 1, මි. ලී. 625 ට හිඳගෙන පෙරා ගන්න. නෙල්ලික්කා ගෙන්දගම් විස හැර ග්‍රෑම් 2½ යි, ලාවුළු කොළ කිලෝ 1 ක් කොටාගෙන වතුර බෝතල් 4 ක් දමා මිරිකාගත් ඉස්ම, හීන් නිදිකුම්බා ග්‍රෑම් 250 යි, කටු නිදිකුම්බා අමු බරින් කිලෝ 1 යි දෙකම එකට කොටා ගෙන වතුර බෝතල් 5 ක් දමා මිරිකාගත් ඉස්ම, ඉදිල වැටුණු වල්දෙල් කොළවල නැටි ග්‍රෑම් 375 ක් කොටාගෙන වතුර බෝතල් 1½ ක් දමා මිරිකාගත් ඉස්ම, අමු බරින් අඹ මුල් කිලෝ 1 ක් කොටා ගෙන වතුර බෝතල් 4 ක් දමා මිරිකාගත් ඉස්ම.

මේ සියල්ල ලිපක තබා අංශක 80 පමණ උෂ්ණත්වයෙන් පැය 2 ක් රත්කර සම්පූර්ණයෙන්ම නිවුණු පසු පොල් අරක්කු බෝතල් ½ යි, තල් සූකිරි ග්‍රෑම් 282 යි, බ්‍රැන්ඩි බෝතල් 1/8 යි, පිරිසිදු මී පැණි බෝතල් 1/8 යි එකතු කරන්න. මේ සියල්ල කනක්කයක දමා දින 21 කින් පෙරාගෙන උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1½ බැගින් මාස 1½ ක් පමණ ගන්න.

**මේ මගින් තුනටියේ, පාදවල, මස් පිඬුවල වේදනා සමනය වෙනවා. ඇල දිවේ, අක්මාවේ අපද්‍රව්‍ය තැන්පත් වීමෙන් එන ඉදිමුම දුරුවෙලා ප්‍රකෘතිමත් වෙනවා. නින්ද නොයාම, ආහාර අරුචිය, වියළි කැස්ස, බෙල්ල පපුව තද වීම ආදී ආබාධ සුව වෙනවා. ස්ත්‍රීන්ගේ මාස් සුද්ධි වේදනා සුව වෙනවා. වකුගඩු ආබාධ සුවයට ආධාර වෙනවා. පුරස්ථි ග්‍රන්ථි ඉදිමීම, අධි රුධිර පීඩනය සුව වෙනවා.**

## සියඹලා අරිෂ්ටය

කුරුඳු පස්පංගුව, සියඹලා පස්පංගුව, නෙල්ලි පස්පංගුව සියල්ල අමු බරින් ග්‍රෑම් 100 බැගින්, එළබටු ගෙඩි සහිත ගස් අමු බරින් ග්‍රෑම් 500 යි, ඊතණ මුළු ගහම අමු බරින් ග්‍රෑම් 500 යි.

මේවා කොටාගෙන වතුර බෝතල් 12½-10 ට හිඳගෙන පෙරා ගෙන එන කසායට තල් සූකිරි කිලෝ 1½ ක් දමා දින 21 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1½ බැගින් මාස 3 ක් ගන්න.

**මේ මගින් බඩ පපුව දැවිල්ල, අම්ල පිත්ත ප්‍රදාහය, නින්ද නොයාම, ලිංග දැවිල්ල, කැක්කුම, හර්නියා, ගර්භාෂය පහත් වීම, රක්තවාත තුවාල, පතුල විලුඹ පිපිරීම, රක්ත උෂ්ණ තුවාල, ඉකිලි කිහිළි වණ වීම, දහදිය ගැලීම, හොටු දියර ගැලීම, ඇඟ බර ගතිය ආදී ආබාධත්, විස නිසා හටගත් ආබාධත් සුව වෙනවා. ඒ නිසා හටගන්නා උණ සමනය වෙනවා.**

**සැ.යු: සෑම අරිෂ්ටයකටම යොදන කුළුබඩු තියේ නම් (සූදුරු, මාදුරු ආදිය), ඒ කුළුබඩු ප්‍රමාණ කිලෝ 1 කට වතුර බෝතල් 1½ ක් අමතරව යෙදිය යුතුයි.**

අරිෂ්ට දමන්න අළුත් පීප්පයක් හදනකොට (ලීවලින් හෝ මැටියෙන්) අඟුරු කිලෝ 10 ක් කුඩු කරල වතුරට දිය කරල ලීටර් 200 ක් අල්ලන පීප්පයකට දමා වතුර පුරවල දින 28 ක් තැබීම සුදුසුයි. ඒ මගින් ලීවල තියෙන අමතර බලපෑම දුරු වෙනවා. පළමුව අරිෂ්ට වෙන්න දමනකොට කලින් හදපු ඒ ජාතියේම හෝ වෙනත් මොනවහරි පරණ (පැසුණු) අරිෂ්ට බෝතලයක් සමග දමන්න.

**සෑම අරිෂ්ටයකටම යොදා ගන්නා වතුර උණුකර නිවාගත් වතුර විය යුතුයි. එවිට අමුද්‍රව්‍ය කෙළින්ම ඊට එකතු කළ හැකියි. නොඑසේනම් ඇල් වතුර ලිපේ තියල නටන විට අමුද්‍රව්‍ය එකතු කළ යුතුයි. කිසි විටෙකත් ඇල් වතුරට කෙළින්ම අමුද්‍රව්‍ය එකතු නොකළ යුතුයි.**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පොතපතින් ඔබ්බට...

06 කොටස



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන් හෙළ බොදු පියුම දහම් සඟරාවට විවිධ මාතෘකා ඔස්සේ කරුණු ලබාගැනීමේදී, ප්‍රධාන කාරණාවලට අමතරව තවත් කුඩා අතුරු කාරණා ඔස්සේ යොමු කළ ගැටළුවලට උන්වහන්සේ විසින් අතිරේක වශයෙන් ලබාදුන් වටිනා කෙටි පිළිතුරු කිහිපයක් සියලු පින්වතුන්ගේ මෙළොව පරලොව නිවන් අභිවෘද්ධිය උදෙසා මේ විදිහට සටහන් කරනවා.

## ධර්ම චරියාව හා සම චරියාව

තමන්ගෙ අවුරුදු තුනක පමණ කුඩා දරුවා හදිසි අනතුරකින් මියයාම නිසා ඇති වූ දැඩි කම්පනයකින් පසුව, ඒ දරුවාව නැවතත් තමන්ට ලබාගන්න පුළුවන්ද කියල දෙමව්පිය යුවලක් අහපු ප්‍රශ්නයකට දුන් කෙටි පිළිතුරක් තමයි මේ.

තමන්ට අවශ්‍ය කරන පැතුම ඉෂ්ට කරගන්න පුළුවන් අවස්ථාවක් දහමෙ පෙන්වා තියෙනවා. හැබැයි ඒක තවත් පුද්ගලයෙක් සමග යෙදෙන එකක් නම්, පුද්ගල සංසන්දනයක් වෙලා ගැලපීමක් වෙන්න ඕන. එහෙම නැත්නම් ප්‍රත්‍ය සම්පූර්ණ වෙන්නෙ නෑ. ඒ දෙන්නගෙම කැමැත්තක් (සම චරියාව) තියෙනව නම්, දෙන්නම ධර්ම චරියාවෙන් යුක්ත නම් ඒ පැතුම ඉටුවෙන්න පුළුවන්. හැබැයි එක්කෙනෙක් කැමතියි, අනෙකා අකමැතියි නම් ඒක වෙන්නෙ නෑ.

උදාහරණයක් විදිහට දෙමව්පි-යන්ගෙ කැමැත්ත තිබුනත්, මියගිය ළමයගෙ කැමැත්තක් නැත්නම් ධර්ම චරියාව, සම චරියාව බැලුවම ප්‍රත්‍ය වෙන්නෙ නෑ. ළමයගෙත් ගැලපීමක් තිබුණොත් විතරයි ඇදිල එන්නෙ. නැවත ඒ දෙමව්පියන් ඇසුරටම එන්න ළමයගෙත් කැමැත්ත තිබුණ නම්, ඒ වගේම ළමයටත් හේතු තිබුණ නම් ඇදල එන්න, අර ධර්ම චරියාවෙන් සම චරියාවෙන් කරන පැතුම ඉටුවෙන්න හේතු යෙදෙනවා. එහෙම නැතුව කවදාවත් අවශ්‍ය වෙච්ච පලියට ඒ ළමයව හදිස්සියට ගන්න බෑ. ධර්ම චරියාවෙන් මම බුදු වෙනව කියල පැතුවට හරියන්නෙ නෑ. ඒ සඳහා හේතු තියෙන්නත් ඕන. ධර්ම චරියාවෙන් සම චරියාවෙන් තමයි බුදු වෙන්නෙත්. හැබැයි කල්ප කාලයක් පෙරුම් පුරල ධර්ම චරියාවයි සම චරියාවයි පූර්ණ කරගන්න ඕන.

ධර්ම-අධර්ම, සම-විසම කියල දෙයක් තියෙනවා. එතකොට සම චරියාව විසම චරියාවක් නොවෙන්න ඕන. දෙමව්පියන්ගෙ කැමැත්ත තිබිල ළමය අකමැති නම් එතැන විසමයි. චරියාව සම කරන්න බෑ. එතකොට ළමයගෙ කැමැත්ත අකමැත්ත අපිට තීරණය කරන්න බෑ. ඒක සම්බන්ධ වෙලා ආවොත් හරි. ඒක සම වුනොත් විසම වෙන්නෙ නෑ. නැත්නම් අපි දන්නෙ නැතිව විසම චරියාවක් වෙනවා.

මේ වගේ කාරණාවලදි සියලු පැතුම් 100% ක්ම ධර්ම චරියාවෙන් ඉටු කරගන්න බෑ. එතැනදි කර්ම ශක්තිය ඇතුළුව තවත් බාහිර හේතුත් බලපානවා. ප්‍රධාන වශයෙන්ම පැතුමක් සම්බන්ධ වෙන්න ඕන. ළමයගෙ හේතු වාසනා තියේනම් සම්බන්ධය නෑ කියන්න බෑ. ඒ ළමයා ඉපදිලා කොහොමත් අවුරුදු දෙක තුනක් ගියාම අම්මා ඕන, තාත්තා ඕන කියන තැනට වැටෙනවා. ඉතින් ඒ වයස කියන්නෙත් පාපයක් සම්බන්ධ වෙන කාලයකුත් නෙවෙයි. හදිසියේ මොනව හරි උපච්ඡේදක මරණයක් වෙන්න ඇති. එහෙම මරණයක් වුනා නම්, බොහෝ කොටම ඒ ළමයා තවමත් ගන්ධබ්බ අවස්ථාවෙ අම්මා තාත්තා ඇසුරෙම ඉන්න පුළුවන්. එහෙම අවස්ථාවක, හේතු වාසනා තියෙනව නම් නැවත ලේසියෙන් එන්න පුළුවන්. මොකද උපච්ඡේදක මරණයක් වුනා නම්, අම්ම කෝ, තාත්තා කෝ කියන මානසිකත්වයේ ඉන්නෙ. ඉතින් ඒ අම්මට දරුවෙක් ලබන්න හේතු වාසනා තියේනම්, ඒ දෙන්නගෙත් බලාපොරොත්තු අර විදිහට ධර්ම චරියාවෙන් සම චරියාවෙන් කටයුතු කරල ගැලපුනා නම්, ඒ ළමයට නැවත ඇදල එන්න පුළුවන්.

හැබැයි සමහර අවස්ථාවල සමහර අය විරුද්ධ වෙන අවස්ථා තියෙනවා. සාමාන්‍යයෙන් ඒක වෙන්නෙ ළමා වයසෙදි නෙවෙයි. ඉපදිලා යම් කිසි කාලයක් ගිහින් ඇට්ටර වුණාට පස්සෙ විවිධාකාර කරදර වෙලා ප්‍රශ්න වෙලා එපා වෙලා තියෙන්න පුළුවන්. මටනම් එපා, මගේ ඇහැටවත් පේන්න එපා කියල එහෙම විරසක වෙන කාලයක් එන්න පුළුවන්. එතකොට ඒ ළමයා මියගිය අවස්ථාවක අම්ම තාත්තා නැවත එන්න කියල පැතුවට වැඩක් නෑ. මොකද ළමයා අදහස වෙනස් කරල.

නමුත් ළමා වයසෙදි සාමාන්‍යයෙන් එහෙම අදහස් වෙනස් වෙන්නෙ නෑ. අම්මේ තාත්තේ කියාගත්ත ගමන්මයි ඉන්නෙ. එතකොට අදහස තියෙන්නෙ, පුළුවන් තරම් ඒ ඇසුරටම එන්න. ඉතින් අම්මා තාත්තා ළඟ දරුවෙක් හැදෙන්න හේතු තියේනම් ඒ දරුවම ඇදිල එන්න පුළුවන්. මොකද උපාදානය වෙලා තියෙන්නෙ ඒ අම්මා තාත්තා නිසා.

ඒ වගේ අදහසක් අහක් වෙන්නෙ හුඟක් කල් ගියාට පස්සෙ. සමහර විට විවාහ වෙලා භාර්‍යාව වුනාට පස්සෙ අම්ම කෙරෙහි තිබිච්ච පෙර ලෙන්ගතුකම සමහර අයට ඇත් වෙලා යනවා. ඊට පස්සෙ අම්මගෙ බඩේ උපදිනව කිව්වත්, අප්පච්චියේ ඔය ගෑනිගෙ බඩේ උපදිනවට වැඩිය හොඳයි... ඔය විදිහට අදහස් එන කාලයක් එනවා. නැන්දගෙයි ලේලිගෙයි සටන ආවට පස්සෙ, පුතාට අම්මව එපා වෙන ඒ වගේ අවස්ථා තියෙනවා. ඒ වගේ ප්‍රශ්නයක් වුනොත් එහෙම අර අදහස වෙනස් වෙනවා. එතකොට ළමයගෙ සම්බන්ධය නැතිව යනවා. ඒක ඉතින් සසර ගනුදෙනුත් එක්ක සම්බන්ධ වෙලා තවත් හේතු ගණනාවක් ගැලපිලා සිද්ධ වෙන දෙයක්.

## බරවා රෝගයේ හේතු ඵල

ලෝකෙට බරක් වෙලා ජීවත් වෙන්න එපා කියල කතාවටත් කියනවා. ඒ කියන්නෙ පංචස්කන්ධය පිළිබඳ දැඩි බලාපොරොත්තු ඇතිකරගෙන, යම්කිසි විදිහකින් තමන්ගෙ අතින් අනික් අයටත් කරදර වෙන ආකාරයට හිත තියල ජීවත් වීම. බරක් වෙන විදිහට හිටියොත් තමයි බරවවලට මුල් වෙන්නෙ. ඒක විපාකයක්. මොකද හේතුවට අනුකූලයි ඵලය. තමන්ගෙ තියෙන ලෝභ ද්වේශ මෝහ නිසා අනෙක් අයට කරදරයක් වෙන විදිහට ජීවත් වෙනවා. එතකොට තමන්ගෙ බර අනුන්ට උස්සගන්න වෙනවා. තමන්ගෙ යම් යම් ආකාරයේ වැඩ කටයුතු අනෙක් අයට බාර දීල තමන් නිදහසේ ඉන්නවා. එතකොට අනෙක් අය ඒ බර ඔසවනවා. යම් කිසි විදිහකින් කුලයෙන්, ධනයෙන්, බලයෙන් වැඩි කෙනෙක් තමන්ගෙ ඒ බලය පාවිච්චි කරල අනෙක් අයගෙන් වැඩ ගන්නවා. තමන් නිදහසේ ඉඳගෙන තමන්ගෙ වැඩ අනෙක් අය ලවා කරව ගත්තම ඔහු අනෙක් අයට බරක් වෙනවා.

**ඉතින් අනුන්ට බරක් වෙන්න ජීවත් වීම පාපයක්. ඒ පාපයේ විපාකය කවද හරි ඇදිල එනකොට බරවා කියන රෝගය හැදෙන්න හේතු වෙනවා.** දැන් අර අනුන්ට බර දීපු විදිහටම තමන්ටත් කකුල් අතපය ඉදිමිලා ගල් ගෙඩි වගේ ඒ බර උස්සගෙන විපාක විඳින්න වෙනවා. නමුත් ඕකෙ කර්ම විපාකය, හේතු ඵල සම්බන්ධය දකින්නෙ නැති අය හිතනවා, මදුරුවෙක්ගෙන් එන බරවා පනුවගෙන් විතරයි ලෙඩේ හැදෙන්නෙ කියල. ඒක බාහිර හේතුව, එහෙම නැත්නම් භෞතික පරිසරය. මොකද යම්කිසි රෝගයක් හටගන්න කර්ම වේගයක් තිබුණත්, ඒකට බාහිර පරිසරයත් ගැලපිලා සකස්වෙලා තිබුණොත් විතරයි ඒ කර්ම වේගය ඇදිල ඇවිත් රෝගය හටගන්නෙ. එතකොට මදුරුවා, බරවා පනුවා කියන්නෙ බාහිර පරිසරය. රෝගය හුඟක් ප්‍රබල නම් බෙහෙත් අහන්නෙත් නැතුව යන්නෙ ඒ කර්ම වේගයේ තියෙන ප්‍රබලත්වය නිසා.

ඒ කාලෙ එක රෝගියෙක් හිටියා, සමාධියට යොමු කළත් ඔහුට බෙහෙතක් ආවෙ නෑ. මොකද කාලාන්තරයක් තිස්සේ සසරෙ ආපු කර්ම වේගයක් නිසා එහෙම එන්න නැතිව ඇති. ඒ කර්ම වේගය ගෙවිල තිබුණ නම් සුදුසු බෙහෙතක් යොමුවෙන්න තිබුණා. කොහොම හරි ඒ රෝගියාට බෙහෙතක් ආවෙ නෑ. එක කකුලක් විතරක් ඉදිමෙනවා. අනික සාමාන්‍යයි. මේ රෝගය හැදුනට පස්සෙ කකුලෙ ඇතුල් හම බැරිවෙලාවත් එකපාරටම කැඩුනොත් එහෙම, දිය ඇල්ලෙන් වගේ තනිකරම වතුර විදින්න ගන්නවා. වතුර ගැලුමක් විතර ගිහින් මනුස්සයට කලන්තෙ දානවා. ඉතින් හරි අමාරුයි පරිස්සම් කරගන්න. අයින් කරගන්නත් බෑ. කර්ම විපාකයක හැටි. හැබැයි ඔහුට තිබුනෙ බරවද කියල හරියටම කියන්නත් බෑ. බරව කියල තමයි විස්වාස කළේ. නමුත් කකුල උඩ තියාගෙන සතියක් විතර හිටියොත් කකුල හීන් වෙනවා. රෝගය මොකක්ද කියල හරියටම නිශ්චයක් දෙන්නත් බෑ.

ඉතින් භෞතික හේතුව ගත්තොත්, මදුරුවෙක්ගෙ විසබීජයක් නිසා හටගන්නා බරවා පනුවා කියන ක්ෂුද්‍ර ජීවියෙක් තමයි මුල් වෙන්නෙ. ඒ පනුවා කේෂනාලිකාවල හැමතැනම වහගන්නවා. එතකොට ලේ ගමන් කිරීම අඩාල වෙනවා. පස්සෙ ලේ නහර පුපුරල ක්‍රමානුකූලව ලේ ගමනාගමනය අවහිර වෙනවා. එතකොට තමයි ඉදිමෙන්න පටන් ගන්නෙ. ඒ තත්ත්වයට ආවට පස්සෙ කකුල තුළ ක්‍රියාකාරීත්වය අක්‍රිය වෙලා ඉවරයි. දැන් ඉතින් රෝග කාරකය නැති කරල ඒ තත්ත්වය හදන්න බෑ. මොකද රෝග කාරකයගෙන් නෙවෙයි බරව හැදෙන්නෙ. රෝග කාරකය ඒකට ආධාර වුනා විතරයි. එහෙම ආධාර වෙලා අර කේෂනාලිකා වහගන්නවා. එතකොට නාඩිවලින් ගෙනියන ලේ ප්‍රමාණය ශිරාවලට යොමු කරන්න බැරිව යනවා. ඒ නිසා නාඩි පිම්බෙනවා. තල්ලු කරන්න උත්සාහ කළත් නියම ගානට යන්නෙ නෑ. ඊට පස්සෙ නහරත් පුපුරන්න ගන්නවා. එහෙම නැත්නම් හිර වෙනවා. ඒ හිරය තිබීම නිසා වැඩි හරියක් නහර ඉදිමීම තමයි වෙන්නෙ. එතනදී මස නෙවෙයි ඉදිමෙන්නෙ, නහරවල සිවි. නහර සිවි වැහුනම කරන්න දෙයක් නෑ. ඊට පස්සෙ ඒ සතා මළත් නහර පිපිරුවට පස්සෙ ඒකෙන් වැඩක් ගන්න බැරිව යනවා.

මේ වගේ තත්ත්වයක් උදා වුනාම අවශ්‍ය ලේ ගමනාගමනය අඩු වෙනවා. කකුලෙ බර තියා ගන්න පුළුවන් ගානට යනවා. නමුත් ජීවත් කරවන්න බැරි මට්ටමට එනකොට තමයි කකුල හොඳටම ඉදිමෙන්නෙ. ඒ මට්ටමේදී බේතක් කරල යථා තත්ත්වයට ගන්න බැරි වෙනවා. මොකද පොඩි පොඩි නහර ගොඩක් නරක් වෙලා. ඒ වගේ අවස්ථාවක නහර බද්ධ කරනවා කියන එක කරන්නත් බෑ. මහ නහරයක් නම් කපල බද්ධ කරල එහෙම ක්‍රමයක් යොදන්න පුළුවන්. නමුත් කේශනාලිකා වගේ පොඩි පොඩි නහර සිය දහස් ගණනක් නරක් වුනාම ඒවා හද හදා ගන්න බෑ.

## වෙසක් කූඩුවෙන් නිවන් දකින හැටි

ඉස්සර වෙසක් කූඩුවක් හදනකොට අපි ඕක ලස්සන කරල බොහොම ප්‍රිය මනාපයෙන් හදනවා. ඒ සියල්ල කරල වෙසක් සිරි නරඹන්න පළවෙනි දවසෙ යනවා. එදාට ලස්සන කූඩු හොඳට ලස්සනට සරසල දකින්න තියෙනවා. අපි තවත් දවස් දෙක තුනක් වෙසක් බලන්න යනවා. අන්තිමට කූඩුව ගලවනවා. නමුත් ඕකෙන් දහම් දකින්න නම්, ගලවන්න ඉස්සර වෙලා ඕක වැරැහැලි වෙනකල් තියෙන්න ඕන. එතකොට අපිට දකින්න පුළුවන්, ලස්සනට තිබිච්ච කූඩුව අව්වට, වැස්සට, පින්නට නොයෙක් ආකාරයෙන් විපරීත වෙලා දිරල ගිහින් කැලි



කැඩිල ජරාවට පත්වෙලා, හරියට නිකං ඇට සැකිල්ලක් වගේ නාරටි ටික විතරක් ඉතුරු වෙන හැටි.

ඊළඟට උපමා සංසන්දනය කරල බැලුවම, ලස්සන වෙලා හැඩවැඩ වෙලා හිටපු කෙනත් හරියට මේ වෙසක් කූඩුව වගේ තමයි ඉස්සෙල්ලම වෙසක් බලන්න ගියේ. එදා වටපිට බලනකොට ඉන්න පිරිසත් ලස්සන වෙසක් කූඩු වගේ. නමුත් ඒ වෙසක් කූඩු දෙවෙනි තුන්වෙනි දවස් වෙනකොට අර විදිහට විපරීත වෙලා තියෙන හැටි දකිනවා. කැලි ගැලවිලා හැලිල. අපිටත් අවසානයට වෙන්නෙ ඒ වෙසක් කූඩුවට වෙච්ච දේම නේද කියල ඒකෙ ස්වභාවය දැක්කම පේනවා. ඒ තුලින් අසාරත්වය දකිනවා. ලෝකෙ හරයක් නැති, වැඩක් නැති දෙයක් ලස්සන කරගෙන නේද මේ ඉන්නෙ කියල වැටහෙනවා.

මේ ආකාරයට වෙසක් බලපු දාට වෙසක් වෙන හැටි දකිනවා. වෙස වෙනස් වෙන හැටි, ක්ෂය වෙලා යන හැටි දකිනවා. වේශය වෙනස් වන ආකාරය. ඒක තමයි වෙසක් කිව්වෙ. වෙසඟ කිව්වෙත් වෙනස් වෙන අංගය. මේ ලෝකයේ තියෙන හැම අංගයක්ම වෙනස් වෙලා යන හැටි. ඒකෙ ස්වභාවය තමයි එතැනදි දකින්න ඕන. ඇත්ත දැක්කම ඒක දකිනවා.

වෙසක් කූඩුව ගත්තොත් බොහෝ කොටම එදා ඉඳන් පැවතුනේ අටපට්ටම් කියන හැඩය. ඕක ඉතින් පරමාර්ථ වශයෙන් ආර්ය අෂ්ඨාංගික මාර්ගයට උපමා කරන්නත් පුළුවන්. පැති අටක් තමයි මුල්කර ගන්නෙ. ඉතින් පට්ටම් අටක් ගත්තම මිත්‍යා දෘෂ්ඨී, මිත්‍යා සංකප්ප, මිත්‍යා වාචා... ඔය ආකාරයට මිච්චා අට මගකින් තමයි ලෝකයා මතුපිටින් ලස්සන කරගෙන හැඩ වැඩ කරගෙන ඉන්නෙ. හැබැයි අන්තිමට මේකෙන් පෙන්වන දහම දැක්කම ඇතිවෙන්නෙ සම්මා දිට්ඨී, සම්මා සංකප්ප, සම්මා වාචා... ආදී වශයෙන් ආර්ය අෂ්ඨාංගික මාර්ගය. ඒක දකිනකොට මේ පට්ටම් අටේ ගන්න හරයක් නෑනෙ කියල දකිනවා. අටපට්ටම අන්තිමට බැලුවම දුර්වර්ණ වෙලා දිරාපත් වෙලා ගිහින් පට්ටම් අටේ ගන්න එක හරයක්වත් තිබිල නෑ. අට පට්ටම් කූඩු කියල කතාවට කියන්නෙත් ඒකයි. පට්ටම් අටකින් සරසගෙන කූඩුවක් හදාගෙන "මම, මගේ" කියල සුන්දර ලෝකයක් හදාගෙන ජීවත්





වෙන්න බලාපොරොත්තු වෙනවා. නමුත් අන්තිමට සිද්ධ වෙන්නෙ අර අටපට්ටම් කූඩුවට වෙච්ච දේමයි. යථාර්ථවත් බෞද්ධයා මෙන්න මේ දහම දකිනවා. ඉතින් එක පැත්තකින් වෙසක් කූඩුවෙන් ඒ උත්තම ගුණයන්ට ගුණ උපහාරයක් වෙනව වගේම, අනෙක් පැත්තෙන් ලෝකයේ යථාර්ථය දකින්නත් පුළුවන් වෙනවා. ඒක තමයි විදර්ශනා පැත්ත. නමුත් අද එක පැත්තයි දකින්නෙ. ලස්සන විතරක් බලල එනවා. නමුත් ඉස්සර බෞද්ධයො මේ හැම අවස්ථාවක්ම ලෝකයේ යථාර්ථය දැකල සසරෙන් එතෙර වෙන්න තමයි යොදා ගත්තෙ.

## විවිධ ඥාන

ජාති ස්මරණ ඥානය කියන්නෙ කර්ම විපාකජ ඍද්ධියක්. ඒක සමහර තිරිසන් සතුන්ටත් තියෙනවා. ඒ වගේම සමහර අවස්ථාවල පුණ්‍ය ඍද්ධියටත් සම්බන්ධයි. හේතුවක් නැතිව ඥානයක් හටගන්නෙ නෑ. කර්ම විපාකජ කිව්වම, තමන් කරපු කර්ම දැන දැන විපාක විඳින්න වෙන ඒවා තියෙනවා. ජාති ස්මරණ කියල කියන්නෙ ජාතිය ස්මරණය කරනවා. හිතනකොටම වැටහෙන්නෙ ඒකයි.

දිවැස කියන එක එන්නෙ වතා හතරකට. පහන් එළිය වගේ, තරු එළිය වගේ, හඳ එළිය වගේ, හිරු එළිය වගේ. එහෙම අවස්ථා හතරක් තියෙනවා. මුලින්ම පහන් එළියෙන් බලනව වගේ එක්තරා මට්ටමකට පොඩි ප්‍රමාණයක් තමයි පේන්නෙ. සම්පූර්ණයෙන් සුද්ධ ඇතිව පේන්නෙ නෑ. තරු එළිය කිව්වම ඊට වඩා විසාල ප්‍රමාණයක් ඉතා සියුම්ව පේනවා. එතකොට පහන් එළියයි තරු එළියයි කිව්වම, එකක් නැති වෙලා අනික එනව නෙවෙයි. ඒ මට්ටම් දෙකම තියෙනවා. හඳ එළිය කිව්වම ඊටත් වඩා විසාල ප්‍රදේශයක් පැහැදිලිව බලන්න පුළුවන්. හිරු එළිය මට්ටමේදි සම්පූර්ණයෙන්ම අහුමුලු නැතිවම පෙනීම එනවා. ඒ වගේ අවස්ථා හතරකදි තමයි දිවැස ප්‍රබෝධ වෙලා එන්නෙ. හිරු එළියෙන් ප්‍රබෝධ වුනාම තමයි යමක් එල්ල කරලම කියන්න පුළුවන් වෙන්නෙ. එතකල් එල්ල කරල කියන්න බෑ.

උදාහරණ විදිහට අපිට හඳ එළියෙන් ඈත තියෙන කළු ගලක් පේන්න පුළුවන්. හැබැයි පස්සෙ ළඟට ගිහින් බැලුවම අලියෙක් ඇතෙක් වෙන්නත් පුළුවන්. හඳ එළියෙන් බැලුවොත් හෙලවෙන්නෙ නැතිව තියෙන්නෙ ගලක්ද ඇතෙක්ද කියල හරියට අඳුනගන්න බෑ. එහෙම හොයන්න බැරි වෙන්න පුළුවන්. නිකං කළු පාට ලාංඡනයක් පේන්න පුළුවන්. මොකද හඳ එළියෙන් එච්චර පැහැදිලිව බලන්න මදි. හැබැයි ඉර එළියෙන් බැලුවොත් නම් මේ ගලක්ද ඇතෙක්ද කියල හරියටම නිගමනය කරන්න පුළුවන්.

තවත් උදාහරණයක් ගත්තොත් කොස් ගහක් සහ කෝන් ගහක් තියෙනවා. මේ දෙකේම කොළ තරමක් එක වගේ. නමුත් කෝන් ගහේ කොස් හැදෙන්නෙ නෑ. එතකොට හඳ එළියෙන් කෝන් ගහයි කොස් ගහයි දෙකක් දැක්කොත් කෝන් ගහ මොකක්ද කොස් ගහ මොකක්ද කියල හොයන්න බෑ. නමුත් ඉර එළියෙන් හොඳට පේන නිසා පුංචි කොස් ගෙඩිවලින් ගස් දෙක වෙන වෙනම හඳුනගන්න පුළුවන්.

# සාධු ජනයාගේ සිත් පහන් වනු පිණිසයි!



වහරක අභයරතනාලංකාර මහතෙරුන් වහන්සේ විසින් යළි මතුකර දුන් සැඟව ගිය දහම් කරුණු, මෙලොව-පරලොව-නිවන් අභිවෘද්ධිය උදෙසා හැකි පමණින් ගලපා ඉදිරිපත් කළ හෙළ බොදු පියුම දහම් සඟරාව මෙතෙකින් නිමා කිරීමට මත්තෙන් පින්වතුන්ගේ කාරුණික දැනගැනීම පිණිස කෙරෙන කෙටි සටහනකි මේ.

මේ දහම් සඟරාව කිසිදු මූල්‍යමය හෝ වෙනත් ලාභාපේක්ෂාවකින්

---

ඊළඟට පූර්වේනිවාසානුස්සති ඥානය. අපි වාසය කරපු තැන තමයි නිවාස කියන්නෙ. නිවාස, නිවේසනය කියන්නෙ නිරන්තරව වාසය කරන තැන. ඒක එක වැලට කඩ වෙන්නෙ නැතිව එහෙම බලන ක්‍රමයක්. දම්වැලක පුරුක් එන්නෙ එකින් එක වෙන් වෙලා. නමුත් එකින් එකට ඇමිනිලා පිරිද්දිලා තියෙන්නෙ. අන්න ඒ වගේ, අපේ සිතිවිලි එකින් එකට ඇමිනිලා එන ක්‍රමයක් තියෙනවා. එක අදහසක් ගන්න නම් ඒකම ඇමිනෙන්න ඕන. සිතිවිලි කඩ වෙලා බෑ. එක දිගට ඇමිනුනොත් එක ජාතියේම එකක් තමයි එකට ඇමිනෙන්නෙ. ඒ විදිහට එකම ඇමිනුනොත් තමයි ඒක එක දිගට බලන්න පුළුවන් වෙන්නෙ.

උදාහරණ විදිහට දම්වැලක් හදනකොට එකින් එක පුරුකෙන් පුරුක රත් කරන්නත් ඕන, ඊට පස්සෙ පාස්සන්නත් ඕන. එකක් රත් වුනේ නැත්නම් අනික පෑස්සෙන්නෙ නෑ. දම්වැල් පුරුක් ඇද්දොත් එහෙම කැඩෙනවා. ඒ නිසා පෑස්සෙන්නත් ඕන, පුරුකෙන් පුරුක වෙන් වෙන්නත් ඕන, එකිනෙකට ඇමිනෙන්නත් ඕන. පුරුද්දනව කියන්නෙ අන්න ඒ වගේ දෙයක්.

ඒ වගේ සිතිවිලි රැහැන් ඒ විදිහට ආවොත් තමයි අදහසක් ගන්න පුළුවන් වෙන්නෙ. ඒක අතරමගදි කඩ වුනොත්, වෙන එකක් දාන්න ගියොත් අරක වෙනස් වෙනවා. දම්වැල හැදෙන්නෙ නෑ. අපි දම්වැලක් හදනකොට අතරමගදි කවුරු හරි පුරුද්දන්න කියල ලී කෑල්ලක් රිංගෙව්වොත් දම්වැල හැදෙන්නෙ නෑ. මොකද දම්වැල යකඩ, ලී කෑල්ල නිකං රොඩ්ඩක්. හැබැයි ඒකෙත් සිදුරු දෙකක් හදල අර විදිහටම පුරුද්දන්න පුළුවන්. නමුත් ඇද්ද ගමන් කැඩිල යනවා. එතකොට ඒක දම්වැලක් නෙවෙයි. බැලු බැල්මටම ලී කෑල්ලක් අස්සෙ ගහල තියෙන්නෙ කියල පේනවා. ඒ නිසා එකටම යන්න නම් අලෝභ අදෝස අමෝහයෙන් යන්න ඕන. අලෝභ අදෝස අමෝහ සිතිවිලි මාලාවක් වෙන්න ඕන. ඒ අස්සෙ ලෝභ දෝස මෝහ සිතිවිල්ලක් ආවොත් හරියන්නෙ නෑ. එතකොට දුර්වලයි. ගැලපෙන්නෙ නෑ. පෙර විසූ කඳ පිළිවෙල කියන්නෙ ඒකයි. පූර්වේ නිවාස කිව්වම නිවේසනය කළා කියන්නෙ, එකින් එකට ඒකටම සම්බන්ධ වෙලා වාසය කරපු ආකාරය. එතැන වෙස් නෑ. වෙස් ගත්තොත් එහෙම සිද්ධ වෙන්නෙ වෙන එකක් සම්බන්ධ වීම. එහෙම වෙස් රිංගවන්න ගියාම යථාර්ථය එන්නෙ නෑ. ඒ නිසා නිවේස කිව්වම වෙස් නැතිව පිළිවෙලට යන්න ඕන. වෙස් ගන්න ගියොත් ඒක හඳන්න බෑ.

## ජීවත්වීමේ ආසාව

අරූප ලෝකයේදි මනසට ධම්ම තමයි සට්ටනය වෙන්නෙ. හිතන්න, කල්පනා කරන්න කැමැත්ත තියෙනවා. ඒ වගේම "මම ඉන්නවා" කියන හැඟීම තියෙනවා. ඒ කියන්නෙ තමන් ජීවත් වීමේ බලාපොරොත්තුව තියෙනවා. රූප රාග සහ අරූප රාග බිඳ හැරිය අනාගාමී හෝ අරිහත් මාර්ගයේ ඉන්න අන්තරා පරිනිබ්බායී අවස්ථාව ගත්තත් ජීවත් වීමේ ආසාව තියෙනවා. මැරිල බෑ, ඉන්න ඕන කියන අදහස එනවා. ඉපදෙන කතාවක් එතැන නෑ. උපදින්න ඕන කිව්වොත් උප්පත්ති පටිලාභය එනවා. මැරිලත් බෑ, ඉපදිලත් බෑ, ඉන්න ඕන කියන අදහස තමයි තියෙන්නෙ. භව පටිලාභය තියෙනවා. අන්තරා පරිනිබ්බායී අවස්ථාවක්නම් කර්ම ශක්තිය තියෙන කල් ඉඳල අවිද්‍යාව තියාගෙනම ගමන කෙළවර කරනවා. එහෙම නැත්නම් අරිහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පානවා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

තොරව, හුදෙක් ලෝක සත්ත්වයාගේ යහපත පිණිසම එළිදක්වන ලද අතර, එය කිසිදු වෙළඳ දැන්වීමක් හෝ යොදා නොගෙන මුද්‍රණ වියදමටත් වඩා ඉතා අඩු මුදලකට ලබාදීමට හැකි වූයේ, පින්වතුන් විසින් සැදැහැ සිතින් පරිත්‍යාග කරන ලද මුදල් ආධාර හා ශ්‍රම දායකත්වය හේතුවෙනි. 2011 වසරේදී අරඹන ලද සඟරාව 2016 වන විට කලාප 50 සම්පූර්ණ කරන තෙක්, වසර හතරක කාලය තුළම ලබා දුන්නේ රුපියල් 20/- ක් වැනි සුළු මුදලකටය. වෙළෙඳ පොළේ කඩදාසි ඇතුළු අනෙකුත් මුද්‍රණ ද්‍රව්‍යවල මිල ගණන් ඉහළ ගොස් තිබියදී පවා, ඉතා අඩු මුදලකට ලබාදීමට හැකි වූයේ සැදැහැවත් පින්වතුන්ගේ එකී නොමසුරු ධන පරිත්‍යාග හේතුවෙනි.

ඉන්පසු 51 වන කලාපයේ සිට රුපියල් 25/- දක්වා මිල වැඩි කිරීමට සිදු වුවද, එයද මුද්‍රණ වියදමටත් අඩු මිලකි. එතැන් පටන් කලාප 100 දක්වා තවත් වසර හතරක කාලය තුළ නිෂ්පාදන වියදම ඉහළ ගොස් තිබියදීත් රුපියල් 25/- කට ලබාදුන්නේද, නැවත මුද්‍රණ පිටපතක මුද්‍රණ වියදම පමණක් රුපියල් 30/- ක්ව තිබියදීය. මේ අනුව වසර 8 ක කාලය තුළම සඟරාවේ මිල වැඩි වූයේ රුපියල් 5/- ක් පමණි. කෙසේ වුවද, ඉදිරියේදී අලුතින් කලාප එළිදැක්වීමක් නොකෙරෙන බැවින්, නැවත මුද්‍රණ කටයුතුවල මුද්‍රණ පිරිවැය පවත්වා ගැනීම සඳහා පමණක්, නැවත මුද්‍රණය කරන කලාපයක මිල ඇතැම්විට රුපියල් 30/- ක් විය හැකි බව කාරුණිකව සලකත්වා.

දහම් ලිපිවලට වැඩි පරිශ්‍රමයක් දැරිය යුතු නිසා කාල වේලාව ඉතා සීමිත හෙයින්, පින්වතුන්ගේ දැනගැනීම පිණිස, මේ දක්වා වූ කලාප 100 සඳහා ලැබුණ මුදල් පරිත්‍යාගයන් හා ඒවා වියපැහැදම් කළ ආකාරයත් ඇතුළුව තවත් කෙටි විස්තරයක් සහිත දළ **සටහනක් පමණක්** පහතින් ඉදිරිපත් කර ඇත.

- 1-100 දක්වා සියලු කලාප සඳහා අවුරුදු 8 ක් තුළ ලැබුණු සියලු මුදල් පරිත්‍යාග - රු. 21,720,857/-
- මේ දක්වා බැංකු පොතේ එකතු වූ උපචිත පොලිය - රු. 270,589/-
- එකතුව - රු. 21,991,446/-
- නැවත මුද්‍රණද ඇතුළුව සියලු කලාපවල මුද්‍රණ වියදම සඳහා පමණක් මේ දක්වා ගිය මුදල - රු. 38,228,550/-
- පරිගණක අක්ෂර සංයෝජනය, ඡයා පිටපත්, ප්‍රවාහනය... ඇතුළු අනෙකුත් සියලු වියදම් රු.1,445,654/-
- සම්පූර්ණ වියදම රු 39,674,204/-
- නැවත මුද්‍රණයද ඇතුළුව මේ දක්වා මුද්‍රණය කරන ලද සියළු පිටපත් සංඛ්‍යාව 1,568,000/-
- දැනට ගණන් බලා ඇති ආකාරයට, විවිධ පින්වතුන්ගේ, ආයතනවල ඉල්ලීම් මත සහ ධර්ම දානය පිණිස නොමිලයේ ලබාදුන් පිටපත් සංඛ්‍යාව 55,000 පමණ
- දැනට ගබඩාවල ඉතිරිව ඇති පිටපත් සංඛ්‍යාව තවමත් ගණන් බලා නොමැත.

මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල් සඟරා අලවියෙන් පියව ගන්නා ලද අතර, ඉතිරි මුදල්වලින් සැලකිය යුතු කොටසක් මේ වෙනකොටත් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයෙන් නිෂ්පාදන වියදමටත් අඩුවෙන් ලබාදෙන දහම් තැටි සහ අනෙකුත් දහම් ප්‍රකාශන සඳහා යොදවා ඇත. ඉතිරි මුදල්ද ඉදිරියේදී කෙරෙන නැවත මුද්‍රණ ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**කලාප අංක 1 - 20 දක්වා වූ සඟරාවලින් කලාප 15 ක් දැනට පිටු 32 කට අඩුවෙන් ඇති අතර, සියලු කලාප එකම මට්ටමකට ගැනීමේ අරමුණින්, ඉතිරිව ඇති තවත් දහම් කරුණු එකතු කර එකී කලාපද පිටු 32 දක්වා වැඩි කර, දෙවන සංස්කරණයක් වශයෙන් පින්වත් ඔබ අතට පත් කිරීම මීළඟ පසළොස්වක පොහොය දින සිට සිදු කෙරෙනු ඇත.**

එසේම “අභයරතනාලංකාරය” නම් ලිපි පෙළේ එකතුවෙන් සහ මෙතෙක් පළ නොවූ තවත් කරුණුද ඇතුළත් කර සකස් කෙරෙන, අභයරතනාලංකාර චරිතාපදානය ඇතුළු තවත් මුද්‍රිත දහම් ප්‍රකාශන කිහිපයක්ම නුදුරේදීම පින්වත් ඔබ අතට පත් කිරීමට කටයුතු යොදා ඇති අතර, සඟරා අලවියෙන් දැනට ඉතිරිවී ඇති මුදල්ද ඉහත කී සියලු කටයුතු වෙනුවෙන් යොදා ගැනෙනු ඇත.

එසේම, අභයරතනාලංකාර තෙරුන් වහන්සේ ගිහිව සිටියදී හා ඉන් පසුවත් දේශනා කරන ලද සැඟව ගිය දහම් කරුණු රැගත් පරණ කැසට්පට, දහම් තැටි, දුරකථන සාකච්ඡා.. ආදියෙන් ලබාගත් තවත් බොහෝ දහම් කොටස් මෙතැන් පටන් සංස්කරණය කරමින් නිම කළ සැණින් පින්වත් ඔබ අතට අන්තර්ජාලය, සංයුක්ත තැටි හා වෙනත් මාධ්‍යයන් ඔස්සේ ලබාදීම ඇරඹෙනු ඇත.

උන්වහන්සේ විසින් මතු කළ ලෝකෝත්තර මෙන්ම ලෞකික වශයෙන් වැදගත් තවත් බොහෝ දහම් කරුණු ඇතත්, මේ වෙනකොටත් ඒවායින් ප්‍රධානම හා අත්‍යවශ්‍ය කාරණා සඟරාවේ සටහන් කර ඇත. කෙසේ වෙතත් තවත් සටහන් කිරීමට නොහැකි වුණු කාරණා ඉහත කී පරිදි 1 - 20 දක්වා පිටු අඩු කලාපවල දෙවන සංස්කරණයන් යටතේ ඉදිරිපත් කිරීමට නියමිතව ඇත.

තවද, පාඨ සිතුවම් සමඟින් සම්පිණ්ඩනය කර පෙළ ගැස්වූ කවි එක්දහස් පන්සියයකින් සුසැදි "ගිනි නිවන කවි ගඟුල" නම් කවි පබැඳුම ඉදිරියේදී බලාපොරොත්තු වන්න.

එසේනම් කළණ මිතුර, ගමන අවසන් කරනු පිණිස අපටද නික්මෙන්නට අවසර!

මෙතෙක් පළවූ මංගල කලාපයේ සිට මේ දක්වා වූ සියලු කලාපවලට අංශුමාත්‍රයකින් හෝ උදව් උපකාර කළ, දායක වූ සහසම්බන්ධ වූ සියලු දෙනාටම අමා මහ නිවන් සුව!

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 100 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

■ පූජ්‍ය කිවුල්දෙනියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය දික්බැද්දේ චූලරතනාලංකාර හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඉසුරු සේනාරත්න මහතා - පිටකෝට්ටේ ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ හේමාල් ඉන්ද්‍රජිත් වීරකෝන් මහතා - බණ්ඩාරගම ■ සංඛ කුමාරසිංහ මහතා - මීගමුව ■ ක්‍රිෂානි සමරවීර මහත්මිය - හෝමාගම ■ ගන්තුනේ මෙරිල් ප්‍රනාන්දු මහතා ■ උදිත් සුමින්ද මහතා - පලිගෙදර ■ ගයනී වීරසේකර මහත්මිය - එගොඩවත්ත ■ හීලියම් සොලුෂන් පුද්ගලික සමාගමේ කාර්ය මණ්ඩලය - යූනියන් පෙදෙස ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමී දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහා කටාර් - රු. 29,505/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දැදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,990/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 20,000/- ■ සමන්ත දියෝගබදු මහතා, ගයනී ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබදු පුතා, ඩිලාරා දියෝගබදු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය, ඒ. ඩී රූපා පෙරේරා මෙනවිය - නුගේගොඩ, ජී. එච්. ටී. චන්ද්‍රාවතී මහත්මිය - කළුතර - රු. 13,000/- ■ ලයිෆ් ලයින් ඇස්ට්‍රෝ පාමිස්ට්‍රි ආයතනය - නුගේගොඩ රු. 11,000/- ■ සිතිර නරසිංහ මහතා, අචනා ගුණරත්න මහත්මිය, තරුෂ නරසිංහ පුතා, මිහෙලි නරසිංහ සහ සෙනුලි නරසිංහ යන දියණියන් - පන්නිපිටිය - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නන්දනී විජේතුංග මහත්මිය- බොරලැස්ගමුව - රු. 10,000/- ■ අරලිය ද සිල්වා මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 10,000/- ■ මහේෂ් ප්‍රනාන්දු මහතා, ජස්මින්බට් මහත්මිය ඇතුළු පවුලේ සැම - කොච්චිකඩේ -රු. 10,000/- ■ අමොන් වීරසිංහ මහතා - රත්නපුර- රු. 10,000/- ■ තරිඳු ලකල් මහතා - වැලිවේරිය- රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,890/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 8,890/- ■ උමා ශාන්ති කුරුකුලසූරිය මෙනවිය - ගොකරැල්ල - රු. 6,000/- ■ ජයනි හරින්ද්‍රා ප්‍රනාන්දු මහත්මිය, විනොජ් රංදික රජීව් විජේවර්ධන මහතා, හිවිරු විනුක් හන්සක විජේවර්ධන පුතා, විනුදි විදම්සා රන්ලිනි විජේවර්ධන දියණිය, ශාමිනි ධර්මසිරි පෙරේරා මහත්මිය - ඇතුල්කොට්ටේ, දයානි ප්‍රියන්තිකා ද සොයිසා මෙනවිය - අඟුලාන රු. 6,000/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 5,000/- ■ එරන්ද මලිගස්පේ මහතා, වෛද්‍ය නිලූපා ගස්පේ මහත්මිය, කිවේන් මලිගස්පේ පුතා - ඇමරිකාව - රු. 5,000/- අභිෂ්ක හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ පූජ්‍ය රදාවානේ අනුත්තර හිමි, ඕස්ට්‍රේලියාවේ වෙසෙන සුජාන් කරස්නාගොඩ මහතා ඇතුළු පවුලේ සැම - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ පුලස්ති විරංග නාඹටුන්න මහතා - ඕස්ට්‍රේලියාව - රු.5000/- ■ ජී. ධර්මසේන මහතා සහ කරුණා ධර්මසේන මහත්මිය ඇතුලු පවුලේ සැම - හෝමාගම - රු. 5,000/- ■ ඉසුරු සේනාරත්න මහතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 5,000/- ■ යමුනා කුලසේකර මහත්මිය ඇතුලේ පවුලේ සැම - කළගෙඩිහේන - රු. 5,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ චාමිකර ඉන්ද්‍රජිත් මහතා - කඩවත - රු. 5,000/- ■ නිහාල් ආරියරත්න මහතා - කඩවත - රු. 5,000/- ■ ඩබ්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත - රු. 5,000/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,450/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ ෂර්ලි හේමසිරි ප්‍රනාන්දු මහතා, සුමේධා චාන්දනී ධර්මරත්න මහත්මිය, ඕෂනී නවෝද්‍යා ප්‍රනාන්දු මෙනවිය, සුජාතා ස්වර්ණපාලි පෙරේරා මෙනවිය - ඇතුල්කෝට්ටේ - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,560/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,560/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,560/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානයක මහත්මිය - ඇමරිකාව - රු. 3,560/- ■ අසෝක රාජපක්ෂ මහතා සහ පියුමිණි රාජපක්ෂ මෙනවිය ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 3,500/- ■ නාලක මහතා - රු.3,500/- ■ පූජ්‍ය කළුකැලේ ධම්ම සුගත හිමි - රු.3,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ මනෝජ් ජයසූරිය මහතා ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 3,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය, ජේ. එම්. ඕ. නවින්ද්‍යා බණ්ඩාර දුව - නුවර - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර - රු. 2,500/- ■ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 2,500/- ■ ඩී.එම්.තිළිණ රුවන් චාමර මහතා - වැලිපැන්නගහමුල්ල - රු. 2,500/- ■ ඩී.එම්.සවනි රිද්මිලා මෙනවිය- වැලිපැන්නගහමුල්ල - රු. 2,500/- ■ අනුරාධා විජේසුන්දර මහත්මිය - ආලෝකා පූජා භාණ්ඩ වෙළෙඳ සැල - බොරලැස්ගමුව - රු. 2,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2,200/- ■ තිලකසිරි ජයරත්න මහතා, රොෂාන් මාලක මහතා, චතුරානි ඉන්දිකා මහත්මිය, හිමාෂා සේමිණි දුව, තිනෙත් හිමංස පුතා - පස්යාල

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 100 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

- රු. 2,100/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙතුකි දම්නාදි අමරසේකර දුව - රදාවාන - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 2,000/- ■ සෙනරත් බස්නායක මහතා, බී.ඒ. වීරසේන මහතා, හසිත කසුන් බස්නායක පුතා, ජනුධ කුසල් බස්නායක පුතා, අනුරිකා වීරසේන මහත්මිය - යක්කල - රු. 2,000/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි දීපිකා බණ්ඩාර මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 2,000/- ■ සුදන්ත සූරියබණ්ඩාර මහතා සහ ඉරේෂා සූරියබණ්ඩාර මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 2,000/- ■ සුනීතා බුලත්සිංහල මහත්මිය - ඕමානය - රු. 2,000/- - ■ දිලංක රුවන් සමරවීර මහතා, චන්ද්‍රාවතී සමරවීර මහත්මිය, තුෂාරිකා මැණික් මහත්මිය - පොල්ගහවෙල - රු. 2,000/- ■ චනුලි වීරසිංහ දුව - රත්නපුර - රු. 2,000/- ■ තරුෂි හපුආරච්චි මෙනවිය - යක්කල - රු. 2,000/- ■ ඒ. එල්. නෙරංග පතිරණ මහතා - මිදිගම මාතර - රු. 2,000/- ■ සම්පත් විජේරත්න මහතා, මහේෂි රන්මොහොට්ටි මහත්මිය, දම්සිත් විජේකෝන් පුතා - යක්කල - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා, දුලීකා වත්සලා ගුණවර්ධන මහත්මිය -හෝමාගම - රු.2000/- ■ ඩිලානි පෙරේරා මෙනවිය - හේනෙගම - රු. 2,000/- ■ උදේෂා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/-, ■ ධර්මපාල ප්‍රේමතිලක මහතා, තිලකා ජයවික්‍රම මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ශාමලා තුෂාරිනී මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවල - රු. 2,000/, ■ Ms. Lei Shwe Yee – Myanmar - රු. 2,000/- ■ පියුමි ඉනෝකා ප්‍රනාන්දු මහත්මිය - කොච්චිකඩේ - රු. 2,000/- ■ සිරියාවතී රන්දෙණි මහත්මිය - කුඩාවැව - රු. 2,000/- ■ අනුර පල්ලෙවෙල මහතා - ගනේමුල්ල - රු. 2,000/- ■ පූජ්‍ය බණ්ඩාරවෙල ධම්මසදීප සිල් මැණියෝ - රු. 1,600/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ එච්. යෙහානි දිලංකා පෙරේරා මෙනවිය - පිටිපන - රු. 1,500/- ■ උපුල් ජයරත්න මහතා සහ ගිහානී ජයරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 1,500/- ■ බිබිල නිල්ගල ආරණ්‍ය සේනාසනයේ දායක පිරිස - රු. 1,500/- ■ ශීලා ඉඳුරුව මහත්මිය සහ සුමනා විජේන්ද්‍ර මහත්මිය -එල්ලක්කල - රු. 1,500/- ■ රොබට් ගීකියනගේ මහතා - රු. 1,200/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ සේනක ද සිල්වා මහතා - කිරුළපන - රු. 1,000/- ■ පූජ්‍ය බෙලිඅත්තේ සරදසීලි හිමි - රු. 1,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ෂාන් පුතා - රදාවාන - රු. 1,000/ -■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/-■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දාබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ලලනී ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම-මෙල්බන් නුවර - රු.1000/- ■ රුචිනි අල්විස් මහත්මිය, නුවන් ඉන්ද්‍රජිත් මහතා- ගොඩගම - රු.1000/- ■ ඩබ්. ඒ.රත්නසිරි මහතා - හොරම්පැල්ල - රු.1000/- ■ උදිත ලක්ෂාන් පෙරේරා මහතා, ඩග්ලස් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු.1000/- ■ ඩබ්. සිසිර සේනාරත්න මහතා - මහපල්ලේගම - රු. 1,000/- ■ සමරා ගජනායක මහත්මිය - කහතුඩුව - රු. 1,000/- ■ ඩබ්. ඒ. චන්ද්‍රාවතී මහත්මිය - මීරිගම - රු. 1,000/- ■ කේ.ඩී. සුනේත්‍රා මහත්මිය සහ නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ - රු. 1,000/- ■ එස්.ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ කේ.ඒ. දිලීනා සඳරුවනි මහත්මිය - කඹුරුපිටිය - රු. 1,000/- ■ නයෝමි ලේකමාරච්චි මහත්මිය - රත්නපුර - රු. 1,000/- ■ ලයනි වීරසිංහ මහත්මිය - රත්නපුර - රු. 1,000/- ■ කිත්මිණී අධිකාරී මහත්මිය - ආකරගම - රු. 1,000/- ■ හර්ෂණ පුතා සහ ප්‍රියකාන්ති මහත්මිය - කිරිමැටියාන - රු. 1,000/- ■ ජේ. ඒ. රන්මැණිකේ මහත්මිය - නාත්තන්ඩිය - රු. 1,000/- ■ වසන්තා කුමුදුනී මහත්මිය - දුම්මලකොටුව - රු. 1,000/- ■ සමන් පෙරේරා මහතා - ඇටියාවල - රු. 1,000/- ■ එස්. එම්. ආරියසේන සරත් මහතා - දළුවෙල - රු. 1,000/- ■ රවී අල්විස් මහතා - කොච්චිකඩේ - රු. 1,000/- ■ මංගල ප්‍රනාන්දු මහතා - වයික්කාල - රු. 1,000/- ■ අසංක හෙයියන්තුඩුව මහතා සහ රූපිකා විජේසිංහ මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ ධර්මප්‍රිය සතරසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ බන්දුල අමරවික්‍රම මහතා - පිළියන්දල - රු. 1,000/-■ නිමල් රණතුංග මහතා - බණ්ඩාරවෙල - රු. 1,000/- ■ උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- මර්වින් රන්දෙණි මහතා - මාවිල - රු. 1,000/- ■ ඩබ්. ඒ. පද්මා අංජලී මහත්මිය - බත්තරමුල්ල - රු. 1,000/- ■ සක්විති ජයවර්ධන මහතා - කොච්චිකඩේ - රු. 1,000/- ■ ධම්මිකා හේරත් මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ චින්තක කරුණාරත්න මහතා - අලව්ව - රු. 1,000/- ■ ලයනල් සිරිමාන්න මහතා සහ කුසුම් වික්‍රමසිංහ මහත්මිය ඇතුළු දරු දෙදෙනා - රදාවාන රු. 1,000/- ■ එච්.ඩී. ශෂිකා ශිරන්දි මහත්මිය - හෝමාගම - රු. 1,000/- ■ චතුරිකා මහත්මිය - රු.1,000/- ■ තිලිණ වීරවංශ මහතා සහ අචලා වීරවංශ මහත්මිය - කඩවත - රු. 1,000/- ■ ආර්. සී. ප්‍රියදර්ශන මහතා - ගම්පහ - රු. 1,000/- ■ සී. දන්තනාරායන මහතා - කොච්චිකඩේ - රු. 1,000/- ■ උපුල් විජේනායක මහතා ඇතුළු පවුලේ සැම - මාවනැල්ල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ, වී. පී. චන්ද්‍රාණී මහත්මිය, ප්‍රියන්ත කුමාර මහතා, එම්. ජී. ගුණරත්න මහතා - දෙවොලපොළ, චන්ද්‍රා ජයවර්ධන මහත්මිය - බටුපිටිය, වනිතා පෙරේරා මහත්මිය - වතුරුගම, කේ.ඒ.ඊ. විශුද්ධා තරුනෙතු මෙනවිය - රදාවාන - ඩබ්. රනිල් මහතා - ඇටියාවල, පියුමි රොමේෂා මහත්මිය - හොරණ, ඉඳුනිල් නානායක්කාර මහත්මිය - පාමංකඩ, ඉෂානි ජයමහ මෙනවිය - පන්නල, බැසිල් ප්‍රේමරත්න මහතා, කසුන් මධුසංඛ මහතා - දංකොටුව, ගුණදාස මහතා - දංදෙණිය, කේ.ඒ.ඊ.දහම්සා සඳනෙතු, කේ.ඒ.ඊ තුලසි මිහිමුතු, කේ.ඒ.ඊ මනුලි නිල්නෙතු දියණින් - රදාවාන, රේණුකා කන්නංගර මහත්මිය - මතුගම, ඔනුක අධිකාරම් මහතා - යක්කල, ඉමිල අමල් වික්‍රමසිංහ මහතා - කොකිස්කඩේහන්දිය, පී.ඒ.පී. නිලා රසාදරී මහත්මිය - රදාවාන, එකතුව - රු. 8,910/- ■ නම් සඳහන් නොකළ පින්වතුන් - රු. 20,500/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 589,175/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 706,650/- ■ අනෙකුත් වියදම් - 12,580/- ■ සම්පූර්ණ වියදම - රු. 719,230/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 47.94/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 100 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දයකත්වය සැපයූ පිංවතුන්

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com** **webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 0775003411/ 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන, 4 වන සහ 5 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන ආවේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ දේශීය ස්ටෝර්ස්, ලංකාදීප අලෙවි නියෝජිත, හපුතලේ පාර, වැල්ලවාය - 0775532694, 0718375871 ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල - 071 0118101 ■ කුමාරිඅයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 0786949860 ■ පෝලර් රීජන්ස්, 402 සී, ගාලු පාර, පානදුර- 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ ශ්‍රීපති පික්චර් පැලස්, අවිස්සාවේල්ල පාර, නවගමුව - 0717360875, 0718375871 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්දුල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871 ■ සඳමිණි පූජා භාණ්ඩ, කුලියාපිටිය පාර, දුම්මලසූරිය - 077 4430223

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# අපමා ගුණය උතුම් ධනයකි



සැවැත් නුවර වැසි පිරිහුණු නැණ ගුණැති
මහත් පිරිසක්ය යුතු අව ගති නිමිති
නැකත් කෙළියක්ය මොවුනතුරෙහි පැවති
සිරිත් ලෙස වසර අග එය සිදු කරති

පෙර සිට පැවති සිරිතකි නොකඩවා රැකී
අරමුණ මුදල් උපයනු යෙදු උපාය කී
කරදරයකි මුදල් නොලදොත් හෙළා දකී
වරදකි මිනිස් කමටද මෙය නිගාව කී

සත් දවසක් පුරා එක දිගට නොනැව තී
සිත් ලෙස සැණකෙළිය ඉදිරියට ගෙන යතී
ලත් අවසරය මත මෙහි පිරිස යති එතී
අත් වන හොඳ නොහොඳ හරි වරද නොදකි තී



රිසි ලෙස ගොම අළුද තවරා ගනිති වත
කිසි පිළිකුලක් නැත වත පිළිවෙතට හිත
හැසිරෙති නුවරැ යති හැම නිවෙසකම වෙත
ඇසි දිසි සැමට පවසති බස් අසැබි කැත

දුටුවත් හමුවුවත් මා පිය පවුලෙ සැම
පවසත් නිගරු ලෙස නොසරුප් වචන එම
නොසිරිත් ලෙස යනෙන මෙපිරිස දකිනු කිම
යහපත් ගුණැති අය නිවසෙහි රැඳෙති තම

නොදැමුණ නොහික්මුන මෙපිරිස කරණ කොට
වෙසෙසින පිඬු පිණිස මහ මග වඩින විට
සිදුවන අපහසුව ගැන මහ සඟන හට
එළැඹින වහම මෙපරිදි නිගමනයක ට



බුදු පාමොක් සඟන වෙහෙරෙම වැඩ වසතී
නුදුරෙහි වසන උවසුවො දන් පිරි නමතී
සිදු කෙරුමෙහි උවැටන පිරිසද රැඳෙතී
යෙදු සත්කාර සතියෙම එම ලෙස පවතී

එපරිදි සැණකෙළිය කෙළවර වුන පසුව
නිවැරදි වුනි නිමාවුනි තිබු අපහසුව
සුපැහැදි අයට දන් පිරිනැමු රස මුසුව
හද බැඳි සොඳුරු දහමකි බුදු හිමි දෙසුව

අපමණ දනෝ වැඩ සහ අවැඩ නොදනිති
නිතියෙන මුළා සිහියෙන් යුතුව හැසිරෙති
පව පින නොහඳුනති කම් සැපෙහි ගිජුවෙති
අවසන මොව්හු කම් වූ පරිදි මියයති



නුවණැති දනෝ අපමා ගුණය හඳුනති
අමිලැති මහඟු ධනයක් විලස සලකති
දැනුමැති වෙති රුදුරු භව ගමන වළකති
නිම නැති සසර ජය ගෙන සදා සැනසෙති

(ධම්ම පදය - අප්පමාද වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# නික්මෙන්නට අවසරයි...

වහරක සමිඳු බුදු අදිටන් සමග කළ
දහමකි සනිටුහන් කළ බොදු පියුම හෙළ
පහවන විටදී කෙලෙසුන් සිඳ සසර මුල
සහනය මෙලොව පරලොව සහ සතර ඵල

සියයක පෙළ ගැසුම සකසා අවසානේ
බිය සැක දුරැර නිවනට නැත අඩමානේ
පිය සටහනකි පිදු ලොවතුම් වන දානේ
නියමය දහම් බබළයි ගෙපැලක ගානේ

වහරක සමිඳු මතු කර දුන් දහම යලී
අහගෙන නැණ පමණ ලොව වෙත කෙරුව එලී
නහවන දහම් වැසි නිවනට නොකර මැලී
දහවල රැයද නැගුවේ දම් ගඟුලෙ ගිලී

නැත කිසි මිල මුදල් ඉපයූ දහමෙ බැස
ඇත ගුරු මුසු කිසිත් නොතබා තිබුණ ලෙස
සත පුහුදුන් කිවත් පදනම් නැතිව දොස
සිත නැත තබා වෙන අත නිවනටම මිස

මෙලොව පරලොවට නිවනට අවැසි බණ
සැඟව ගිය කරුණු කතරට ජලය මෙන
ඇසුව දහම මම මගෙ කර නොමැත මැන
පසුව කෙනෙකු හට ගත හැක නැතිව පැණ

මහ සෙත නැගූ මුනිඳුන්ගේ දහම එදා
වහ ගෙන තිබුණ කාලය නිම කෙරුව මෙදා
පහනක විලස බොදු පියුමෙන් පෙළට බෙදා
සහයකි ලබා දුන්නේ නිවනටම සදා

මට මගෙ කරන් පවතින්නට නෑ සිතුවේ
කටයුතු ඉවර විට අතහැර යා යුතුවේ
වට කර පිරිස් බල හදනට නෑ පැතුවේ
හට ගෙන පවතනා දේවල් ලෝ සතුවේ

නිමා විය යුතුයි හැම කටයුතු දිනෙක
පමා නොවිය යුතු නිවනට ලද සැනෙක
අමා දහම මතු වුණ කවර වු තැනෙක
යොමා අසනු සගනික දොස හැර හනෙක

කරදර මැදින් ගෙන ගිය බොදු පියුම අද
අවසර නිමා කරනට තෙරුවනට වැඳ
අතහැර මිදෙන්නට සෑහෙන දහම පුද
අහවර වුවත් අපමණ වෙයි දහමෙ පද

අට වසරක් පුරා නොකඩා දහම බෙදූ
කටයුතු අහවරයි මෙතෙකින් පියුම බොදූ
යට ගිය කරුණු ඇත මතු කර සැමට පොදූ
නට නට නොසිට පහදා ගනු නැණස විදූ

සිත පැහැදුමෙන් හැකි සහයෝගය දුන්න
සත වෙත සියලු දොස හැර නිවනට යන්න
ඇත මෙහි දහම තම නැණ පමණට ගන්න
සෙත මහ නැගේවා නිවනින් සැන සෙන්න

දක් වන්නට ගොසින් සදහම් බිඳක අමා
දුක් ගන්නට වුනා නම් ඉන් යදිමි කමා
එක් වෙන්නට නොවේ වෙන් විය යුතුම තමා
නික් මෙන්නට අවසරයි පින්වතුනි සැමා

චන්දන සිරිවර්ධන

1100 RS.25.00
HELA BODHU PIYUMA 100

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.